සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ බිනර මස (ව්‍යවහාරික වර්ෂ 2014 සැප්තැම්බර්)

35 වෙනි කලාපය



## ඇදුම ඇතුළු පීනස් රෝග 18ක් නිට්ටාවට සුව කරන ඔසුවක්...









රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# දිනුවයි කීවට නොදිනූ තරඟ





සත් වග මනු ලොවෙහි වනා
අත් කර ගෙන ලෙසට මනා
මත් කර වන තරඟ තනා
යත් මරණය වෙතට සැණා

එකෙක් දිනා එකෙකු පැරද
සැපක් තනා කුමන හරද
දුකක් ගෙනෙන තරඟ තුරද
මෙතක් වඩොත් නොමැත වරද

දුක හදනා තරඟ දිනූ
දැක දැක තව හදන කුණු
මොකටද වෙන විටදි සුනු
නොකරම ජය දුකම තැනූ

පෙරත් මෙලෙස තරඟ දිනා
ලැබත් සතුට නොතිර වුණා
අදත් එයම කරන තැනා
මලොත් මොටද දිනුමකිනා





සහතික පත් ගොඩ තිබුණත්
පහ වෙද ඉන් දුක බිඳකුත්
මහ මරණය එන විට ගත්
දහම වෙ නම් ජය ගෙන දෙත්

දුකින් පෙළෙන සසර බිමේ
නැණින් ගමන නොමැති තෙමේ
පිටින් පෙනෙන සොඳුරු කමේ
තුටින් රඟන රැඟුම කිමේ





දිනුවා නම් කිසිම කලේ
තැනු ජය සදහටම දිලේ
සුනු වෙන ජය තරඟ තුලේ
දනු නැති බව තිරවූ එලේ

තුන් ලොව දිනු විට ඇති වන
අන්තිම උපතයි හවයෙන
ඉන් සතහට එන ජය පැන
වන් වෙන ජය නැත කිසි තැන





පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# සැබෑ බෞද්ධයෙක් වෙන්න මග පෑදෙන හැටි...



සමස්තයක් විදියට ලංකාවෙ ජීවත් වෙන ජනතාවගෙන් බහුතරයක්ම බෞද්ධයෝ. තමන්ගෙ අම්ම තාත්තගෙන් ලැබුණු පෙළපතින් නාමිකව බෞද්ධ වෙලා හිටියත් මේ සියළු දෙනාම සැබෑ බෞද්ධයො නෙවෙයි. පෙළපතින් ආපු පළියට කෙනෙක් බෞද්ධයෙක් වෙන්න පුළුවන්ද, බෞද්ධයො කියන උදවිය මෙහෙම ගුටි බැට ඇණ ගන්නවද කියන ප්‍රශ්නය වත්මන් සමාජයේ ලොකු ප්‍රහේලිකාවක් බවට පත් වෙලා තියෙනවා. ඇත්තටම බෞද්ධයෙක් වෙන්න අවශ්‍ය කරන්නෙ මොනවද කියල හොයල බලල, ඒ විදියට කටයුතු කළොත් ඒ ප්‍රශ්න සියල්ලම විසඳ ගන්න මාර්ගයක් පෑදෙනවා. පෙළපතින් ලැබුණු පළියට ලෝක සම්මතයේ නාමික බෞද්ධයෙක් වෙන්න පුළුවන් වුනත් ප්‍රතිපත්තිමය සැබෑ බෞද්ධයෙක් වෙන්න බෑ. එහෙම පෙළපතින් නාමිකව හරි බෞද්ධයො වෙලත් බොහොමයක් උදවිය බෞද්ධයො විදියට කටයුතු කරනවද? එහෙම කටයුතු කරන්නෙ බොහොම අතලොස්සයි. පෙළපතින් බෞද්ධයෙක් වෙච්ච පලියට මේ ලෝක ධර්මතාවය අවබෝධ කර ගන්න පුළුවන් වෙලා තියෙනවද? මේ බහුතරයක් බෞද්ධයින්ට ලෝක ධර්මතාවයන් පිළිබඳව කිසිම අවබෝධයක් නෑ. එහෙනම් පෙළපතින් ලැබුණ කියල නාමිකව බෞද්ධයෙක් වෙලා වැඩක් තියෙනවද? වැදගත් වෙන්නෙ නාමිකව බෞද්ධයෙක් නොවී ප්‍රතිපත්තිමය බෞද්ධයෙක් බවට පත් වෙලා, බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන්න විමුක්ති මාර්ගයට අනුව කටයුතු කිරීම. ඒ වගේම නාමික බෞද්ධයෙක් වෙනවට වඩා ප්‍රතිපත්තිමය බෞද්ධයෙක් වෙනව නම්, ඒ පුද්ගලය දහම අවබෝධ කරගෙන කටයුතු කරන කෙනෙක් බවට පත්වෙනවා. එහෙනම් මේ නාමික බෞද්ධකම අත හැරල ප්‍රතිපත්තිමය බෞද්ධයෙක් වෙන්න අවබෝධ කර ගන්න ඕන කාරණාවන් තමයි මේ ලිපියෙන් පෙන්වා දෙන්නෙ.

තමන්ගෙ පරපුර, අම්ම තාත්ත බෞද්ධ නම් ඒ අය බෞද්ධ කියල හඳුන්වන සිරිතක් තමයි වර්තමානයේ තියෙන්නෙ. ඒ අය පන්සල් යනවා, මල් පහන් පූජා කරන සාම්ප්‍රදායික දේවල් කරනවා. ඒ වුනත් බෞද්ධ කියන තත්වය හරියට දන්නෙ නැති අය තමයි ඒ අතර බොහොමයක් ඉන්නෙ. එදා බුදු පියාණන් වහන්සේ ළඟට බමුණො ගියේ නාමික බෞද්ධත්වයක්වත් නැතුව. ඒ වගේම උන් වහන්සේ ලෝකෙ පහළ වෙන කොට මනුස්සයො නොයෙක් විදියෙ අවිද්‍යා දෘෂ්ටි 62 ක පිහිටල තමයි කටයුතු කළේ. ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙච්ච එක මනුස්සයෙක්වත් එතකොට හිටියෙ නෑ. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ පළමුවෙන්ම පස්වග මහණුන්ට කරපු ධර්ම දේශනාවෙන් පස්සෙ තමයි මේ බෞද්ධත්වය ආරම්භ වුනේ. ජීවිතේට බණ පදයක් අහළ හිටපු නැති අය බුදුන් වහන්සේ ළඟට ගිහින් ඉඳගෙන බණ පදයක් අහල නැගිටින කොට බෞද්ධත්වය ස්ථිර වෙලා තමයි නැගිට්ටෙ. ඒ කියන්නෙ යම් කිසි මාර්ග ඵල ලාභියෙක් වෙලා.

ඇත්තටම එහෙම වුනේ කොහොමද කියල කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. මේ වගේ අවස්ථාවලදී ගොඩක් දේවල් ඉගෙන ගෙන නෙවෙයි ඒ අය බෞද්ධ වුනේ. පෙර කරපු පිං කුසල් උපනිශ්‍රය වෙලා බොහොම පුංචි දෙයක් දැනගෙන ඒ තුළින් ධර්මාවබෝධයක් ලැබුව මිසක් බෞද්ධත්වයට පත් වෙන්න ගාථා ඉගෙන ගත්තෙත් නෑ, බුදුන් වඳින හැටි ඉගෙන ගත්තෙත් නෑ. අඩු තරමින් සරණ සමාදානය ගැනවත්, නමස්කාරය ගැනවත් ඉගෙන ගත්තෙ නෑ. ආලවක යක්ෂය බුදුන් වහන්සේ ළඟට ගිහින්, මගේ ප්‍රශ්නයට උත්තර දුන්නෙ නැත්නම් කකුල් දෙකෙන් අල්ලල ගඟෙන් එහා පැත්තට විසි කරනව කියල තර්ජනය කරල තමයි බුදුන් වහන්සේට මුලින්ම කතා කළේ. ඒ වුනත් උන් වහන්සේගෙ ධර්ම දේශනාව අවසානයේ ආලවක යක්ෂයා සදහටම බුද්ධ ගෞරව ඇති සෝතාපන්න පුද්ගලයෙක් බවට පත්වෙලා තමයි නැගිට්ටෙ. එතකොට එදා මේ වගේ අය මොනවද ඉගෙන ගත්තෙ? ලොකු දෙයක් ඉගෙන ගත්තෙ නෑ. බුදුන් වහන්සේගෙන් සරණ ඉල්ල ගත්තෙත් නෑ. අද කාලෙ වගේ සරණ ඉල්ලන ගාථා එදා තිබුණෙත් නෑ. අද නම් ඕකාස අහං භන්තේ තිසරණේන සද්දිං පංච සීලං... සරණාගමනං සම්පුන්නං ආම්භන්තේ... ආදී වශයෙන් සරණ ඉල්ලන්න සාම්ප්‍රදායිකව ගොඩ නැගුණු ක්‍රම (ගාථා) තියෙනවා. ඒත් ඒ කාලෙ බුදුන් වහන්සේ ළඟට ගිහින් ඉඳගන්න කොට මේ කිසිම දෙයක් කියල නෙවෙයි ඉඳගත්තෙ.

ඒ වගේම බුදුන් වහන්සේත් ධර්ම දේශනා කරන කොට ශ්‍රාවක පිරිස සීලයේ පිහිටුවල, සරණාගමනයේ පිහිටුවල නෙවෙයි ධර්ම දේශනා කළේ. මේක හොඳින් අහගන්න, මනා සේ මෙනෙහි කරන්න කියන අරුත තියෙන, තං සුනාථ සාදුකං මනසිකරෝථ කියල තමයි උන් වහන්සේ බණ කියන්න පටන් ගත්තෙ. ඒ වගේම භික්ෂූන් වහන්සේලාට යමක් පැහැදිලි කරන්න කලින්, ශ්‍රවණය කරන්න, ධාරණය කර ගන්න, මේ ධර්මයේ හැසිරෙන්න කියන අරුත තියෙන, සුනාථ ධාරේථ චරාථ ධම්මේ කියල අවවාදයක් කරල තමයි ධර්ම දේශනා කළේ. එහෙම ධර්ම දේශනා කළාට පස්සෙ ඒ ධර්මය සරණ ගිය අය නොකැඩෙන සරණ සීලයක් ඇති බෞද්ධයො බවට පත් වුනා. ඊට පස්සෙ ඒ අය ප්‍රසාද වැකියක් කියල තමයි තමන්ගෙ ප්‍රසාදය පළ කළේ. හැබැයි සියල්ලම එහෙම ප්‍රසාද වැකි ප්‍රකාශ කළේ නෑ. සිය දහස් ගාණක් බණ අහල දහම් අවබෝධ වුනාම, එතන හිටපු කවුරු හරි මූලික එක් කෙනෙක් දෙන්නෙක් ඒ විදියට ප්‍රසාද වැකි පළ කළා. අනෙක් අය ඒක වචනයෙන් ප්‍රකාශ නොකළට දහම් අදහස එන කොටම හිතින් ප්‍රකාශ කරල ඉවරයි. වචනයෙන් ප්‍රකාශ නොකළත් හිතෙන්ම පිහිටනවා. ඒ විදියට තමයි හුග දෙනෙක් සරණාගමනයේ පිහිටියේ. ඒ නිසා එදා කිහිප දෙනෙක් කරපු ප්‍රසාද වැකි ගැන තමයි මේ විදියට සඳහන් වෙන්නෙ.

"අභික්කන්තං භෝ ගෝතම අභික්කන්තං භෝ ගෝතම සෙය්‍යථාපි භෝ ගෝතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරේ වා තේලපජ්ජෝතං ධාරෙය්‍ය, චක්ඛුමන්තෝ රූපානි දක්ඛින්තීති; ඒව මේව බෝ භෝ ගෝතම අනේක පරියායේන ධම්මෝ පකාසිතෝ. ඒසාහං භෝ ගෝතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛු සංඝඤ්ච උපාසකෝ මං භගවා ධාරේතු අජ්ජතග්ගේ පාණුපේතං සරණං ගතන්ති.''

"භවත් ගෞතමයන් වහන්ස මනස්කාන්තයි මනහරයි. මුනින් හරවල තිබුණ දෙයක් උඩුකුරු කළා වගේ, වහල තිබුණ දෙයක් විවර කළා වගේ, මුලා වෙච්ච කෙනෙකුට මාර්ගය පෙන්වා දුන්න වගේ, ඇස් ඇත්තෝ රූප දකිත්වායි, අන්ධකාරයෙහි තෙල් පහනක් දැල්වූවා වගේ, ඒ ආකාරයට භවත් ගෞතමයන් වහන්සේ නොයෙක් විදියට මේ ධර්මය විග්‍රහ කරල දුන්නා. ඒ නිසා භවත් ගෞතමයන් වහන්සේ සරණ යනවා, ධර්මයේ සරණ යනවා, සංඝයා සරණ යනවා. අද පටන් පණ තියෙන තුරු මම තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදියට දරා ගන්නා සේක්වා"

එදා මේ විදියට තමන්ගෙ ප්‍රසාද වැකියකින් ඉල්ලීමක් කළා. ඒක සුදුසු නම් බුදුන් වහන්සේ අනුමත කළා. ඒ කියන්නෙ සරණාගමනයේ පිහිටල ප්‍රසාද වැකියක් පළ කළේ උපාසකයෙක් විදියට. ඒත් මේ ක්‍රමය සාම්ප්‍රදායිකව භික්ෂූන් වහන්සේලා විසින් පවත්වා ගෙන එන කොට, ලෝකයාට මේ ටික දෙන්න යම් යම් ක්‍රම රටාවල් හදා ගත්තා. ඊට පස්සෙ පැවිද්ද සඳහා යොදා ගත්ත සරණාගමනය කියන ක්‍රමය ගිහි අයටත් සිදු කරන්න පටන් ගත්තා. ඊළඟට පැවිදි කරන්න පෙරත් සරණාගමනය සිද්ධ කළා. පැවිද්දයි, උපසම්පදාවයි දෙකම සරණාගමනයෙන්ම දුන්න කාලයකුත් තිබුණා. තවත් කාලයකදි සාමණේරභාවය සරණාගමනයෙනුත්, උපසම්පදාව වෙන ක්‍රමවලිනුත් සිද්ධ කළා. ඒත් බුදුන් වහන්සේ වැඩ හිටිය කාලයේ සරණාගමනය සිද්ධ කළේ භික්ෂූන් වහන්සේලාට විතරයි. ගිහි අයට බණ කියන්න පෙර, මෙය හොඳින් අහගන්න, මනා සේ මෙනෙහි කරන්න කියල අදහසක් දීල තමයි බණ කිව්වෙ. ඒ බණ අහල හිත පැහැදිලා තමයි, ඔබ වහන්සේ සරණ යනව කියල තමන්ගෙ චිත්ත ප්‍රසාදය නිසාම අර ඉහතින් පෙන්වපු සරණාගමන වැකිය ගිහි අය විසින්ම කියල සරණාගමනය තමන්ම සිද්ධ කර ගත්තෙ. එදා සිද්ධ වුනේ එහෙමයි. ඒත් අද වෙන කොට තියෙන සාම්ප්‍රදායික ක්‍රම නිසා ඒවාට කොටු වෙලා තමයි කටයුතු කරන්නෙ.

බෞද්ධයෙක් වෙන්න නම්, ඉස්සෙල්ලම දැන ගත යුතු යමක් තියෙනවා. ඒ තමයි මේ ලෝකෙ කියන්නෙ මොකක්ද, යථාර්ථය මොකක්ද කියල හරියට අවබෝධ කර ගන්න ඕන. නැත්නම් නියම බෞද්ධයෙක් වෙන්න බෑ. අර ඉහතින් සඳහන් කරපු වැකිය කිව්ව කියල බෞද්ධයෙක් වෙන්නෙ නෑ. එහෙම අවබෝධයක් නැතුව ඒ වාක්‍ය කියල නාමික බෞද්ධයෙක් විතරක් වෙන්න පුළුවන්. ලෝකය කියන්නෙ මොකක්ද කියල දැන ගැනීමේ පළමු අවස්ථාව උදා වුනාම, මේ ලෝකෙ කියන්නෙ අපි හිතන තරම් සුන්දරත්වයක් තියෙන දෙයක් නෙවෙයි නේද කියල ප්‍රශ්නයක් මතු වෙන්න ගන්නවා. මනා සේ ධර්මය ශ්‍රවණය කරල, නුවණින් විමසල මේ ලෝකෙ කියන්නෙ මොකක්ද, මේ ලෝකෙට අයිති වෙන්නෙ මොනවද කියල අවබෝධ කර ගන්න ඕන. ලෝකයට අයිති දේවල් වෙන් කරල විස්තර කරල බැලුවම ලෝකෙ කියන්නෙ මෙහෙම දෙයක් කියල අවබෝධය එනවා.

මේ ආකාරයට නුවණින් විමසල මේ ලෝකෙ හැටි දැන ගත්තම, මේ ලෝකෙ වැඩක් ඇති දෙයක්ද නැද්ද, හරවත් දෙයක්ද නැද්ද කියන කාරණය මතු වෙනවා. මේ අවස්ථාවෙදි මේ ලෝකෙ අපි හිතන තරම් සාරත්වයක් තියෙන දෙයක් නෙවෙයි කියල නුවණක්කාර තීරණයකට එළඹෙනවා. ලෝකෙ සාරත්වයක් නෑ කියන දේ නුවණින් දැක්කෙ නැත්නම් සැබෑ බෞද්ධයෙක් වෙන්න බෑ. **මේ සියලු අසහන, සියලු ප්‍රශ්න මතු වෙලා තියෙන්නෙ ලෝකෙ සාරත්වයක් තියෙනවා කියන දෘෂ්ටිය නිසා. මේ ලෝකෙ අසාරත්වය දැක නොගන්න තාක් කල්, මේ ලෝකෙ කොතැන හරි සාරත්වයක් තියෙනවා කියන දෘෂ්ටියක් අරගෙන ඒ දේ බලාපොරොත්තුවෙන්, ඒ දේ ලබා ගන්න මොනවද කරන්න තියෙන්නෙ කියල හොයල, ඒ සියලුම දේවල් කර ගන්න බලනවා.** එතකොට ලෝකෙ ඇසුරෙමයි කාලය ගෙවෙන්නෙ. ඉතින් ලෝකෙ හැටි දැක්කෙ නැත්නම් ලෝකෙන් මිදෙන්න, ලෝකෝත්තර වෙන්න (ලෝකයෙන් එතෙර වෙන්න) බැරුව යනවා. ලෝකෙ හැටි දැන ගත්තොත් තමයි මේකෙ ඉන්න ඕනද, එහෙම නැත්නම් මිදෙන්න ඕනද කියන තීරණය එන්නෙ. මේ ලෝකෙ තුළ පැවැත්ම හොඳද? හිටියොත් හරි යයිද? බලාපොරොත්තු වෙන සහනය ලැබෙයිද? මේ කාරණාවන් මෙන්න මෙහෙමයි කියල කවුරුවත් කිව්වට හරි යන්නෙ නෑ. ඒක තමන්ගෙම නුවණින් විමසල බලල තෝරගන්න ඕන. බුදු දහම කියන්නෙ කවුරුවත් කිව්ව පළියට පිළි ගන්න එකක් නෙවෙයි. තමන් නුවණින් විමසල, හරි තීරණයක පිහිටවා ගන්න එකයි කරන්න ඕන. ඒ නිසා මේ ලෝකෙ කියන්නෙ මොකක්ද කියල විස්තර ඇතුව හොයල බලල නුවණින් අවබෝධ කර ගන්න ක්‍රමයක් හොයා ගන්න ඕන.

ලෝක සත්වයා පිහිටල ඉන්නෙ, මේ ලෝකෙ සාරත්වයක් සිතින් දරාගෙන. එහෙම සාරත්වයක් සිතින් දරාගෙන ජීවත් වෙන්න ප්‍රමාණවත් තරම් වස්තු තිබියදීත්, ලෞකික වූ සියලු සැප සම්පත් හොයමින්, යාන වාහන හොයමින්, තත්ව තානාන්තර උසස් රැකියා හොයමින් තමන්ගෙ අසීමිත බලාපොරොත්තු ඉෂ්ට කර ගන්න තමයි ලෝකයා කටයුතු කරන්නෙ. මේ ලෝකෙ ඇතුළෙම තියෙන යම් යම් තත්ත්වයන් සාරයි කියල හිතාගෙන නොයෙකුත් කටයුතුවල යෙදෙනවා ඒ බලාපොරො-ත්තුවලින් පිරිල, ඒකට අවශ්‍ය කරන මාර්ග හොයනවා. මනුස්සයින්ගෙ ස්වභාවය ඒකයි. මෙහෙම එක එක බලාපොරොත්තු සපුර ගන්න එක එක මාර්ග හොයන කොට, ලෝකෙ හැටි දැක්කෙ නැත්නම් ඒක අවබෝධ කර ගන්නෙ කොහොමද? ඒ ☞

සඳහා මේ ලෝකෙ කියන දේට අයිති වෙන්නෙ මොනවද කියල හොයල බලන්න ඕන.

සත්ව කියන තැනට ලෝකෙන් අයිති ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන කොටස් 6 ක් තියෙනවා. ඒවාට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියල බාහිරින් සම්බන්ධ වෙන තවත් කොටස් 6 ක් තියෙනවා. මේ අභ්‍යන්තර හයයි, බාහිර හයයි අත් හැරල ලෝකෙට පනවන්න ඉතුරු වෙන තවත් දෙයක් තියෙනවද කියල හොයල බලන්න ඕන. අපි දන්න ලෝකෙ ඇතුළෙ මේ කාරණා 12 පැත්තකින් තියල, තවත් මෙන්න මෙච්චරක් මේ ලෝකෙ ඉතුරු වෙලා තියෙනව කියල තවත් ලෝකයක් පනවන්න පුළුවන්ද? ඒ ගැන නුවණින් විමසල බලන්න ඕන. අතීත වේවා, අනාගත වේවා, වර්තමාන වේවා, අධ්‍යාත්මික වේවා, බාහිර වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, දුර වේවා, ළඟ වේවා, සියුම් වේවා, ඝන වේවා ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන මේ ටිකත් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේ ටිකත් ඉවත් කළාම තවත් අතීතයේ ලෝකය කියල යමක් පනවන්න ඉතුරු වෙනවද? වර්තමානයේ ලෝකය කියල පනවන්න යමක් ඉතුරු වෙනවද? අනාගතයෙදි ලෝකය කියල පනවන්න මේ දොළහට අයත් නොවන වෙනත් දේකින් පුළුවන්ද? මේ කාරණා විමර්ශනය කරල බලන්න ඕන. එතකොට සහනය පතා ගෙන අපි බලාපොරොත්තු වෙලා තියෙන්නෙ, ගොඩ නගා ගන්න උත්සාහ කරල තියෙන්නෙ මේ 12 ද, මේ 12 හැර වෙන දෙයක්ද කියල අවබෝධ වෙන්න ගන්නවා.

මේ කාරණා නුවණින් මේ විදියට විමසල බලන්න පුළුවන්. අපේ අතීතය ගැන අපි දන්නෙ නෑ. ඒ කියන්නෙ පෙර අත්බැව්වල අපි හිටියද? කොහේ ඉඳලද ආවෙ? මොනව කරලද ආවෙ? කවුරු වෙලා ජීවත් වෙන්න ඇත්ද? දිවැසක් නැත්නම් මේ කිසිම දෙයක් අපිට මතකයට ගන්න පුළුවන්ද? ඒ වගේම දිවැසක් නැත්නම්, මතු උපදීද? කොහේ උපදීද? කවුරු වෙලා උපදීද? මේ කියන කාරණා අපිට තේරුම් ගන්න බෑ. මොකද අපිට අත්දැකීම් නෑ. ඒත් අපේ ජීවිතේ ගැන අපට අත්දැකීම් තියෙනවා. ඒ වගේම අපේ නුවණට ගෝචර වෙන යම් ප්‍රමාණයක් තියෙනවා. දැන් මෙහෙම හිතුවොත්, අපිට අම්මෙක් තාත්තෙක් හිටියා. අපේ අම්මටත් අම්මෙක් හිටියා, එයාට අපි ආච්චි කිව්වා. අපේ තාත්තටත් තාත්ත කෙනෙක් හිටියා, එයාට අපි සීය කියල කතා කළා. ඒ ආච්චිටත්, සීයටත් අම්මෙක් තාත්තෙක් ඉඳල තියෙනවා. මේ වගේ අවුරුදු දහස් ගාණක් ආපස්සට බැලුවත් ඒ හැම කෙනාටම අම්මෙක්, තාත්තෙක් ඉඳල තියෙනවා. අපිට දිවැස් නැති වුනාට මේ වගේ දේවල් නුවණට විතරක් නෙවෙයි, භෞතිකව ගොඩ නගල තියෙන විද්‍යාවටත් ගෝචරයි.

දැන් නියම බෞද්ධයෙක් වෙන්න බලාපොරොත්තු වෙන අය මෙහෙම දෙයක් තේරුම් ගන්න ඕන. ඇස, කන, නාසය, දිව, ශරීරය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියල යමක් හඟවනව නම්, මේ ටික අහක් කරපුවම තවත් ලෝකය කියල පනවන්න දෙයක් තියෙනවද කියල බැලුවම තමන්ටම තේරෙන්න ගන්නවා, ඉන් පිට ලෝකය කියල පනවන්න කිසිම දෙයක් නෑ කියල. ලෝකය කියල යමක් පැනෙව්ව නම්,



පනවල තියෙන්නෙ මේ කාරණා දොළහ හෝ මේ කාරණා දොළහෙන් කොටසකට. අතීතයෙත් තිබුණ නම් තිබිල තියෙන්නෙ මේ දොළහමයි. දැනුත් ලෝකය කියල තියෙන්නෙ මේ දොළහමයි. මතුවටත් ලෝකය කියල යමක්, යම් තැනක හට ගන්නව නම් ඒ හට ගන්නෙත් මේ දොළහෙන්මයි. මින් එහා ලෝකය කියල පනවන්න දෙයක් නැත්නම්, අපි සැනසුමක් හොයා ගෙන යම් තැනක අසහනයෙන් හිටිය නම්, එහෙම ඉඳල තියෙන්නෙ මේ ටික තුළම යමක් බලාපොරොත්තුවෙන්මයි. බලාපොරො-ත්තු වෙච්ච දේ නොලැබුනා කියල දුක් වුනොත්, තිබුණ ඒ දේ වැනසුනා කියල ඇඬුව නම්, දුක් වෙලා අඬල තියෙන්නෙත් මේ වෙනුවෙන්මයි. එහෙනම් යම් කිසි දුකක් කරදරයක්, අසහනකාරීත්වයක් තියෙනව නම් ඒකෙන් මිදෙන්නයි අපට දහමක් ඕන වෙන්නෙ. මේ මනුස්සයො මේ ලෝකෙ හැම දෙයක්ම කරන්නෙ තමන්ට තියෙන අසහනයෙන් මිදෙන්න. අසහනයක් නැත්නම්, කරදරයක් දුකක් නැත්නම්, අපි මුකුත් බලාපොරොත්තු වෙන්න ඕන නෑ. මේ මොහොතෙ පටන් මතු මතුත් යමක් අපිට ඕන වෙන කොට, අපි බලාපොරොත්තු වෙන විදියටම අපිට ලැබෙනව නම්, මේ දුකයි අසහනයයි කියල ප්‍රශ්න ගොඩ නැඟෙන්නෙ නෑ. තමන් බලාපොරොත්තු වෙන දේ ලැබෙනව නම් ලෝක සත්වයාට කිසිම ප්‍රශ්නයක් තියෙන්න විදියක් නෑ. ඉතිං ඒ දේවල් ඒ ආකාරයට තම තමන් විසින්ම නුවණින් විමසල බලන්න පුරුදු වෙන්න ඕන. එතකොට තමයි මේ ලෝකය නිවැරදිව දකින්න පටන් ගන්නෙ.

මේ වගේ ඉවරයක් නැති ප්‍රශ්න සමුදායක් තියෙන නිසා ලෝකයේ පහළ වෙච්ච සියලුම ශාස්තෘවරයන් වහන්සේලා තම තමන් දන්න පමණින් ලෝකයට යමක් ඉදිරිපත් කළා. විවිධ ආගම්වල විමුක්තිය හැටියට, ඒ ආගම්වල නායකයින් විවිධ දේවල් ඉදිරිපත් කළා. හින්දු ධර්මයේ විමුක්තිය කියල පෙන්වන්නෙ බ්‍රහ්ම ලොව. බ්‍රහ්ම ලොව ගිහින් උපන්නට පස්සෙ කරදර නෑ, සදාතනිකයි, සදාකාලිකයි කියල ඔවුන් නිගමනය කරනවා. එහෙම කියන්නෙත් යම් කිසි ආකාරයකට භාවනා කරල දිවැසක් පහළ කර ගෙන තමන් හිටපු තැන්, ආපු තැන් ඒ දිවැස තුළින් දැකල කරපු නිගමන නිසා. දෙවියන් අතර ඉඳල ආපු අය දේවත්වය තමයි විමුක්ති ස්ථානය, සදාතනික, සදාකාලික තැන කියල නිගමනය කරන්නෙ. ඊට පස්සෙ ඒක අනුගමනය කරන පිරිසක් ඒ ඒ දේවල් හරියි කියල අනුගාමිකයො විදියට හැදෙනවා. ඒ ඒ අනුගාමිකත්වය දරන අය, ඒ ඒ ආගමික තත්වයන් දරාගෙන නිගමනයකට එලඹිලා කටයුතු කරනවා.

ඊළඟට මේ කිසි දෙයක් පිළි නොගන්න අයත් ඉන්නවා. ඒ අය මොකද කියන්නෙ? අපි පිළිගන්නෙ අපේ කනට ඇහෙන, ඇහැට පේන පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන හරිය විතරයි, අපිට නොපෙනෙන නොදැනෙන දේවල් අපි පිළිගන්නෙ නෑ කියල භෞතිකවාදී අදහස් ගන්නවා. හැබැයි මේ හැම කෙනෙක්ම මොන නිගමනය ගත්තත්, ඒ අයට මොකක් හරි අසහනයක් තියෙනවාමයි. ඒ හැමෝටම තමන් මේ ඇහෙන් බලන රූප පිළිබඳව, තමන් ප්‍රිය කරන යමක් තමන්ගෙ මනසට ගෝචර වුනා නම්, අන්න ඒ දේ

තමන්ට පරිහරණය කරන්න ඇත්නම්, බාධකයක් කරදරයක් නැතුව හිතපු විදියටම ඒ ලස්සන දේ ඇසුරු කරන්න ඇත්නම් කියන අසහනයක් ගොඩ නැගෙනවා.

ඒ වගේම කනෙන් ශබ්ද අහල මිහිරි ශබ්දයකට හිත තියල, අනේ ඒ වගේ දේවල් බාධකයක් කරදරයක් නැතුව මං හිතපු විදියටම ලබා ගන්න ඇත්නම්, ඒකට විරුද්ධව කිසිම දෙයක් වෙන්නෙ නැත්නම් කොච්චර හොඳද කියන අදහසේ පිහිටල, එහෙම එකක් හෙව්වත් හොයා ගන්න නැති නිසා අසහනයට පත් වෙනවා. බලාපොරොත්තු ඉෂ්ට කර ගන්න බැරි නිසා අසහනයට පත් වෙනවා. නාසයට මන වඩන ගන්ධයන් එනකොට, මට මේ වගේ ආස්වාදයන් ඇත්නම්, මේකට විරුද්ධ දෙයක් නොවෙනව නම්, මම හිතපු විදියටම ඒ ටික ලැබෙනව නම් කියල බලාපොරොත්තුවක් ඇති කර ගත්තත්, එහෙම දෙයක් ලෝකයෙන් ලැබෙන්නෙ නැති වුනාම ඒ පිළිබඳව අසහනයට පත් වෙනවා. ඒ වගේම දිවට මන වඩන රසයක් බලාපොරොත්තු වෙන කොට, ඒක තමන් හිතන විදියටම ලැබෙනව නම් කොච්චර හොඳද කියන අදහසේ බැඳිල, එහෙම දෙයක් හොයන කොට නොලැබෙන කොට දිව නිසා, රස නිසා අසහනයට පත් වෙන්න සිද්ධ වෙනවා. තමන් බලාපොරොත්තු වෙන විදිහෙ උසට සරිලන මහතක් එක්ක ලස්සන කයක් ඇත්නම්, ඒ කයෙන් තමන්ට ඕන කරන පහසක් ලබන්න ඇත්නම්, ඒකට කිසිම බාධකයක් එන්නෙ නැත්නම් කොච්චර හොඳද කියන අදහසක් එනවා. ඒ වගේ බලාපොරොත්තු ඉෂ්ට වෙන ක්‍රමයක් නැති නිසා අසහනයට පත් වෙනවා. අනේ මට මේ ජාතියේ, මේ ස්වභාවයේ හිතක් ඇත්නම්, ඒ හිතට ඉෂ්ට ප්‍රිය අදහස් විතරක් එනව නම් කොච්චර හොඳද කියන අදහසක් එනවා. එහෙම බලාපොරො-ත්තුවක් තිබුනට, ඒක ඉෂ්ට වෙන්නෙ නැති වෙන කොට ලෝක සත්වයාට එතනත් අසහනයක්මයි ගොඩ නැගෙන්නෙ.

එහෙනම් තමන් කැමති සේ රූප පවත්ව ගන්න බැරි, කැමති සේ ශබ්දය පවත්ව ගන්න බැරි, කැමති සේ ගන්ධය පවත්ව ගන්න බැරි, කැමති සේ රසය පවත්ව ගන්න බැරි, කැමති සේ පහස පවත්ව ගන්න බැරි, කැමති සේ හිත පවත්ව ගන්න බැරි අසහනයකින් තමයි මේ ලෝක සත්වයා නිතරම පෙළෙන්නෙ. මේ අසහනයන් හැර තවත් අසහනයක් ලෝක සත්වයාට තියෙන්න හේතු නෑ. ඒ වගේම ලෝක සත්වයා සහනය කියල යමක් බලාපොරොත්තු වෙනව නම්, මේ කාරණාවලින් වෙන් වෙච්ච සහනයක් තියෙන්න හේතු නෑ. කොච්චර බැරි වුනත් අසහනයකින් තොරව පවත්ව ගන්න ක්‍රමයක් නැද්ද කියන අදහසක්, සහනය හොයන ලෝක සත්වයාට මතු වෙනවා. මේ අදහසේ පිහිටල, සියල්ලම බැරි වුනත් ටිකෙන් ටික හරි ඒ සහනය කරා යන මාර්ග තමන් දැන ගත්ත කියල, තම තමන් දන්න අදහස් විවිධ අය ලෝකයට ප්‍රකාශ කළා. මේ අතරෙ සමහර අය ප්‍රකාශ කරපු දේවල් එක්තරා මට්ටමකට ජනප්‍රිය වුනා. ඊට පස්සෙ ඒ ඒ අදහසට එකඟ වීරිස, ඒ ඒ අදහස් පෙන්වා දුන් අයව ශාස්තෘවරු වශයෙන් සම්මත කර ගෙන, ඒ පෙන්වා දුන්න විවිධ දහම් කරුණු පසු පස්සෙ ගිහින් සහනයන් ලබා ගන්න උත්සාහ කළා.

නමුත් මේ පැවැත්ම තුළ සහනකාරී මාර්ගයක් කියල කවුරු මොනව පෙන්වා දුන්නත් ඒ විදියෙ සහනයක් ලබා ගන්න ලෝකයක් නෑ. ඒ ආකාරයේ සහනයක් ලබා දෙන ඇහැක්, කනක්, දිවක්, නාසයක්, ශරීරයක්, මනක්, රූපයක්, ශබ්දයක්, රසයක්, ගන්ධයක්, ස්පර්ශයක්, ධර්මයක් ලෝකයේ පවතිනව කියල පෙන්වන්න කිසිම සිද්ධාන්තයක් නෑ. **තමන් කැමති සේ නොපවතින තත්වයට පත් වෙන ඇහැක්, කනක්, දිවක්, නාසයක්, ශරීරයක්, මනක්, රූපයක්, ශබ්දයක්, රසයක්, ගන්ධයක්, ස්පර්ශයක්, ධර්මයක් ඇරෙන්න, කැමති සේ පවතින ජාතියේ එකක් ලෝකයේ කොච්චර හොයල බැලුවත් කිසි තැනක නෑ.** මේ ලෝක ස්වභාවය එහෙම වුනාට ලෝක සත්වයා ඒක එහෙමයි කියල දැක්කෙ නෑ.

මේ ආකාරයට මේ ලෝක පර්යේෂණය හරියට කරල තිබුණෙ නැති නිසා, මේ ලෝක පැවැත්ම තුළ එහෙම සහනයක් කොහේ හරි ඇති, කවුරු හරි දන්නව ඇති කියල දෘෂ්ටියක පිහිටල ඒ සඳහා විවිධ මාර්ග හෙව්වා. ලෝක පැවැත්ම තුළ සදාතනික සැනසිල්ල ලබා දෙන මාර්ගය මේක තමයි කියල කවුරුහරි යමක් ඉදිරිපත් කළා නම්, ඒ දෘෂ්ටියේ පිහිටල තමයි ඒ සැනසිල්ල පෙන්වල දුන්නෙ. පැවැත්මේ යථාර්ථය දන්නෙ නැති නිසා, ඒ ඒ ලෝක සත්වයෝ තම තමන්ගෙ නුවණ මට්ටමට ගෝචර වෙන කොටසක් අරගෙන, මෙන්න මේ තත්වය සදාතනික පැවැත්මේ සැනසුම් මාර්ගයක් කියල විවිධ මාර්ග පෙන්නුවා.

මෙහෙම පෙන්වපු මාර්ගවලින් එකක් තමයි, බ්‍රහ්ම තත්වයේ ඉඳීම සදාකාලිකයි, දුක් කරදර නෑ කියල බ්‍රහ්ම ආගම පටන් ගැනීම. මේ ආකාරයට තවත් අයුරින් දෙවියන් වහන්සේ සදාකාලිකයි, ස්වර්ගය සදාකාලිකයි, ඒ තැනක කරදරයක් නැතුව ඉන්න පුළුවන් කියන විස්වාසයක් තියා ගෙන තවත් පිරිසක් හොයා ගෙන ගියා. මේ විදියට විවිධ මිනිස්සු නොයෙක් ආගම් කෙරෙහි විස්වාසය තියල සහනයක් පතාගෙන ගියා. **ඒත් මේ බෞද්ධ කියල කියන, ඒත් බෞද්ධ කියන තත්වයේ යථාර්ථය නොදන්න පිරිස්, අජරාමර වූ ශාන්ත සුන්දර වූ අමා මහ නිර්වාණ සම්පත්තිය කියන වචන පෙළ අහපු ගමන් බලාපොරොත්තු වෙන්නෙ මැරෙන්නෙ නැති, ජරාවට පත් වෙන්නෙ නැති, ශාන්ත වූ සුන්දර වූ, බුදු හාමුදුරුවො දැක්ක හොඳ තැනක් තියෙනව කියල.** එහෙම ලෞකිකත්වයෙන් හිතා ගෙන තමයි කටයුතු කරන්නෙ. ඒ තමයි නාමික බෞද්ධ පිරිස. බෞද්ධත්වය තුළින්, තමන්ගෙ බුද්ධියෙන් දැකිය යුතු නිවන දැක්කෙ නැති නිසා, නිවන හැටියට ලෝකයේ පැවැත්මට හිත තියා ගෙන ලෝකයෙන් එතෙර වන්නා වූ තත්වය දකින්නෙ නැතුව, ලෞකිකත්වය ඉක්ම වන්නෙ නැතුව කටයුතු කරනවා. පරම සුන්දර වූ... ආදී ලෞකික අදහස් ප්‍රකාශ කරන වචන නිසා, ලෝකයෙන්ම සුන්දරත්වයක් බලාපොරොත්තු වෙන තැනට වැටිල කටයුතු කරනව මිසක්, ඒ වචනවලින් කොච්චර කිව්වත් නිවන කියන්නෙ මොකක්ද කියල තේරුම් ගන්නෙ නෑ. පරම සුන්දර ශාන්ත අමා මහ නිර්වාණ සම්පත්තිය කියන කොටම, පරම සුන්දර ඒවා දකින්නෙත් ලෝකෙන්, ශාන්ත දේවල් දකින්නෙත් ලෝකෙන්. එහෙම දැක්කම නිවන දැක ගන්න බැරුව යනවා. ඒ නිසා ඒ වචනවල සුන්දරත්වය හොයන්නෙ නැතුව, ලෞකික පැත්තට බර වෙන්නෙ නැතුව නිවන ගැන හොයන්න ඕන.

යම් තැනක දැල්වෙන, එහෙම නැත්නම් දාහයට පත් වෙන යමක් තියෙනව නම්, ඒ දාහය නිවල දැම්මට පස්සෙ නැවතත් දැල්වෙන්නෙ නැත්නම්, එතැන නිවීමක් තියෙනවා. නිවීමක් තියෙන්න එතැන දැල්වුණේ මොනවද කියල තේරුම් ගන්න ඕන. දැවීමක් නැත්නම් නිවීමක් ඕන වෙන්නෙත් නෑ. ඒ නිසා මේ විදියට දැවෙන්නෙ මොනවයින්ද කියල හොයල බලන්න ඕන. උදාහරණයක් විදියට ඇහැක් ගින්නකට අහු වුනොත් පුළුටු ගඳ ගහල පිච්චිලා ඇහැ පේන්නෙ නැතුව යනවා. ඒ දැල්වීම වෙනම එකක්. ඒත් සුන්දර රූපයක් දැකල ඇහැක් නිසා හිත දවා ගන්න අය කොච්චර නම් ඉන්නවද? මේ හිතට දැනෙන ගින්න, අර ඇහැ පිච්චිලා දැනෙන වේදනාවට වඩා වැඩියි. සමහර වෙලාවට හිතේ ගින්න දරාගන්න බැරුව බලවත් වුනාම ගතට ගිනි තියා ගන්න අයත් ඉන්නවා. එහෙම වෙන්නෙ ගතේ ගින්නට වඩා හිතේ ගින්න ඉවසන්න බැරි නිසා. ඒ නිසා මේ හිතේ ඇතිවන ගිනි හරිම බලවත්. තරුණ තරුණියො දෙන්නෙක් හිතවත්

වෙලා ඒ හිතවත්කම සමාජයෙන් පවත්ව ගෙන යන්න දෙන්නෙ නැත්නම්, ඒ අයට හිතෙන්න පුළුවන් ජීවත් වෙලා වැඩක් නෑ, ගිනි තියාගෙන මැරෙනව කියල. මෙහෙම ගත පුච්චගෙන, බෙල්ලෙ වැල දාගෙන, වහ බීල සිය දිවි හානි කර ගන්නෙ රාගයෙන් බැඳිල ඉන්න තිබුණ බලාපොරොත්තුව ඉෂ්ට වෙන්නෙ නැති නිසා, ඒක ඉවස ගන්න බැරි නිසා.

එහෙනම් රාගය කියන්නෙ කොච්චර ලොකු දාහයක්ද? තමන් බලාපොරොත්තු වෙන රාගය තමන්ගෙ හිතේ හැටියට ලබන්න නැත්නම්, ඒකට බාධා පැමිණෙන වාරයක් පාසා හිතේ දරන්න බැරි ගින්නක් ඇති වෙනවා. මේ ලෝක සත්වයා ඒ ගින්නෙ බලවත්කම නිසාම නොයෙක් ආකාර උපක්‍රමවලින් ගැටිල, හැපිල, ගහ මරාගෙන හරි ඒක ඉෂ්ට කර ගන්න බලනවා. බැරි වුනොත් දැවි දැවී තරහෙන් ඉන්නවා. ඒ තරහ ඉවසගන්න බැරුව තමන්ගෙ ජීවිතය තමන්ම හානි කර ගන්න අවස්ථාත් තියෙනවා. ස්වභාවික ගින්නකින් දැවෙනවට වඩා මේ ද්වේශය නිසා මානසිකත්වය ගිනි ගන්නවා. යම් කිසි ප්‍රශ්නයකදි ඒක විසඳ ගන්න කොච්චර කල්පනා කළත්, විසඳ ගන්න තේරෙන්නෙ නැති අවස්ථාවලදි, "මට තේරෙන්නෙ නෑ මොනවා කරන්නද කියල, මීට වඩා හොඳයි මැරිල ගියා නම්" මේ ආදී වශයෙන් අදහස් ගන්නවා. ඒ කියන්නෙ ප්‍රශ්නය විසඳ ගැනීම, මෝහය නිසා වැහිල ගිහින්. එහෙනම් ඒකත් ගින්නක්.

ඉතිං මේ විදියට රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි එනවා. අපි මේ ලෝකෙන් බලාපොරොත්තු වෙන සහනය මේ ලෝකෙ තුළින් ලබා ගන්න බැරි ස්වභාවයක් තියෙනව නම්, ඒක තේරුම් ගන්නෙ නැතුව ඒ ස්වභාවයම බලාපොරොත්තු වෙලා, ඒ මත්තෙම හැපෙනව නම්, තමන්ගෙ බලාපොරොත්තු ඉෂ්ට වෙන්නෙ නැති නිසා රාගය සිසිලක් වෙන්නෙ නැතුව ගින්නක් බවට පත්වෙනවා. ද්වේශයත්, මෝහයත් ගින්නක් බවට පත්වෙනවා. මේ විදියට රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි කියන ප්‍රධාන ගිනිවලින් දැවෙනවා. මේ ගිනි තුනෙන් දැවෙන කොට, ඒ දැවෙන ලෝක සත්වයා එක එක ජාතියේ දේවල් බලාපොරොත්තු වෙනවා. උදාහරණයක් විදියට ඇස් ජාතියකින් මන වඩන පැහැපත් රූපයක් ගෝචර කර ගන්න බලාපොරොත්තු වෙනවා. ඒ බලාපො-රොත්තුව ඉෂ්ට වෙන්නෙ නැත්නම්, රූප රාගය මුල් කරගෙන තමන්ට ඕන විදියට ඉෂ්ට කරගන්න ක්‍රමයක් නැති වෙන කොට, හැම වෙලේම දුක් වෙනවා. මොකද මන වඩන රූපයක් දකින්න බලාපොරොත්තු වුනාට දැක ගන්න බැරි වුන නිසා. ''අනේ මගේ බලාපොරොත්තුව මෙහෙම එකක් වුනාට ඒක ඉෂ්ට වෙලා පවතින්නෙ නැහැනෙ! ජරාවට පත් වෙනවනෙ!'' මෙහෙම අදහස් ආවොත් ඒ ජරාවට පත් වීම ගින්නක් විදියට පේනවා.

ඒ වගේම තමන් ප්‍රිය කරන යම් දෙයක් ධර්මතාවයෙන් වැනසිලා යනව නම් එතනත් ගින්නක්, දුකක් ඇති වෙනවා. මේ විදියට සෝක සහිතව ජීවත් වෙන්න කරුණු යෙදෙන කොට, යළි යළිත් හිතට වද දිදී නැගිල එනකොට සෝක ගිනි ඇති වෙනවා. මෙහෙම යළි යළිත් මේ ගිනි නැගිල ආවම ඒක පරිදේව ගින්නක් වෙනවා. මේ විදියට කායිකවත්, මානසිකවත් දුක් ගිනි ඇති වෙලා අසහනයක් ගොඩ නැගෙනවා. මෙහෙම බලාපොරොත්තු ඉෂ්ට නොවෙන කොට මානසිකව දෝමනස්ස ගින්නක් ඇති වෙනවා. දුක්ඛිත තත්වයට පත් වෙලා ඉවස ගන්න බැරි වෙහෙසක් වෙලා උපායාස ගින්නක් බවට පත් වෙනවා.

මේ විදියට ලෝක සත්වයා ගිනි 11 කින් දුක් විඳිනවා. ඒත් ඇයි මේ දුක් විඳින්නෙ කියන කාරණාව දකින්නෙ නෑ. මේ ලෝක සත්වයා ඇස, කන, දිව, නාසය, ශරීරය, මන, රූප, ශබ්ද, රස, ගන්ධ, ස්පර්ශ, ධර්ම කියන මේවායින් යුක්ත ලෝකය තුළ මන වඩන දේවල් හොයන්න ගිහින්, ඒ බලාපොරොත්තුව ඉෂ්ට කරගන්න බැරි වුනාම රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි කියන ප්‍රධාන ගිනි තුනත් එක්ක ජාති ගිනි, ජරා ගිනි, මරණ ගිනි, සෝක ගිනි, පරිදේව ගිනි, දුක් ගිනි, දෝමනස්ස ගිනි, උපායාස ගිනි කියන එකොළොස් මහා ගින්නක් බවට පත් වෙනවා. ලෝකෙන් යමක් බලාපොරොත්තු වෙන කෙනාට මේ ගිනි ඒකාන්තයෙන්ම ලැබෙනවා. මොහොතක් මොහොතක් පාසා මේ ගිනිවලින් අසහනයට පත් වෙලා දැවෙනවා. මේ එකොළොස් ගින්නෙන් දැවෙන කොට හරිම වදයක්. **යම් කෙනෙක් යම් තරමක් සෝකාකුල වෙලා ඉන්නව නම්, යම් තරමක් සංවේගයට පත් වෙලා ඉන්නව නම්, යම් තරමක් කායික මානසික අසහනකාරීත්වයෙන් පෙළිල ඉන්නව නම්, ලෝකයට අයිති ඇස, කන, දිව, නාසය, ශරීරය, මන, රූප, ශබ්ද, රස, ගන්ධ, ස්පර්ශ, ධර්ම කියන දේවල්වලටම අයිති දෙයක් පස්සෙම ගිහින් විඳපුවා මිසක්, මේකෙන් තොරව මේ කිසිම ගින්නක් ඇති වෙන්නෙ නෑ.** එහෙනම් මේ ගිනිවලින්ම පෙළෙන මේ ලෝකය කියන්නෙ කැමති සේ පවත්වන්න බැරි දෙයක් නම්, කැමති සේ පවත්වා ගන්න බැරි වීම ලෝක ස්වභාවයක් නම්, ඒක වෙනස් කරන්නත් බැරි නම්, මේ ලෝකය මොන වගේ එකක්ද කියල තේරුම් ගන්න අමාරු වෙන්නෙ නෑ.

මේ ලෝකෙ විවිධ පුද්ගලයන්, විද්‍යාඥයන් නවීන විද්‍යාවෙන් විවිධ පර්යේෂණ කරල විවිධ දේවල් හොයා ගන්නවා. ඒත් කැමති සේ පවත්ව ගන්න පුළුවන් ක්‍රමයක් ඔය කිසිම කෙනෙකුට හොයා ගන්න පුළුවන් වෙලා නෑ, පුළුවන් වෙන්නෙත් නෑ. කැමති සේ ඇස පවත්ව ගන්න පුළුවන්, කැමති සේ කන පවත්ව ගන්න පුළුවන්, කැමති සේ නාසය පවත්ව ගන්න පුළුවන්, කැමති සේ දිව පවත්ව ගන්න පුළුවන්, කැමති සේ ශරීරය පවත්ව ගන්න පුළුවන්, කැමති සේ හිත පවත්ව ගන්න පුළුවන් ක්‍රමයක් ලෝකයේ තිබිලත් නෑ, තියෙන්න හේතුත් නෑ කියල යථාර්ථවත්ව දකිනව නම්, මේ ලෝකය කියන්නෙ මොකක්ද කියල අවබෝධ කරගන්න තවත් ලේසි වෙනවා. මේ විදියට කැමති සේ පවත්ව ගන්න පුළුවන් කිසිම දෙයක් නෑ කියල සිද්ධාන්තයක්/ නියමයක් විදියට අවබෝධ කර ගන්න ඕන. ඒක සිද්ධාන්තයක් වෙන්නත් හේතුවක් තියෙන්න ඕන. මොනම විදියකින්වත් කැමති සේ පවත්ව ගන්න ක්‍රමයක් ලෝකයේ තිබිලත් නැත්නම්, තියෙන්න විදියකුත් නැත්නම්, කැමති සේ පවතින්න හේතුත් නැත්නම් ඒක සිද්ධාන්තයක්. එහෙම ලෝකෙක හරයක් තියෙනවද කියල ඒ ආකාරයට නුවණින් විමසල බලනව නම්, මේ අසහනයෙන් මිදෙන්න හේතු යෙදෙනවා.

ඇස, කන, දිව, නාසය, ශරීරය, මන, රූප, ශබ්ද, රස, ගන්ධ, ස්පර්ශ, ධර්ම කියන මේවායින් යුක්ත ලෝකය කියල යමක් යම් තැනක අතීතයේ තිබුණත්, වර්තමානයේ තිබුණත්, මතු යම් තැනක තිබුණත්, ඒ හැම එකක්ම කැමති සේ පවත්ව ගන්න බෑ කියන කාරණය සිද්ධාන්තයක් / නියමයක්. මේ සිද්ධාන්තය අවබෝධ කර ගත්තම ලෝකය අවබෝධ කර ගත්ත වෙනවා. ඒක අවබෝධ කර ගන්න අමුතුවෙන් පාලි, සංස්කෘත ඉගෙන ගන්නවත්, ධර්මාචාර්ය විභාග සමත් වෙන්නවත් අවශ්‍ය නෑ. මේ කැමති සේ පවත්ව ගන්න බැරි බව ලෝක සිද්ධාන්තයක් නම්, කැමති සේ පවත්ව ගන්න ගියොත් බැරි දෙයක් කරන්න ගිහින් අන්තිමට වෙන්නෙ අසහනයට පත් වෙන්න, අනාථ වෙන්න විතරයි. මේ ටික තේරුම් ගන්න ලෝක සම්මත ජාතිය සිංහල වෙන්න ඕන නෑ, ලෝක සම්මතයේ ඉන්න ඕනෑම ජාතිකයෙකුට පුළුවන්. මේක ඇත්තද බොරුද කියල හිතන්න පුළුවන්කමක් තිබුණ නම් ඒ හොඳටම ඇති. එහෙම නැතුව, කවුද මෙහෙම කියන්නෙ? ගිහියෙක්ද? හාමුදුරු නමක්ද? බෞද්ධයෙක්ද? අබෞද්ධයෙක් ද? සිංහල නොවන වෙන ජාතිකයෙක්ද? මේ වගේ දේවල් හොයන්න ගියොත් විවිධ දෘෂ්ටිවලට අහු වෙලා ඇත්ත වැහෙනවා. ඒවා ඔක්කොම පැත්තකට දාල, මේ

විද්‍යානුකූල සිද්ධාන්තය තමන්ගෙ ඥාන දර්ශනයෙන් දැක්කොත් තමයි මේක හරියටම අවබෝධ කර ගන්න පුළුවන් වෙන්නෙ. මේ දහම ඥානවන්තයින්ට ගෝචර වෙන දහමක් වෙන්නෙ එහෙමයි.

මේ විදියට මේ ලෝකෙ හැටි දැන ගත්තම, මේ ලෝකෙ ඉන්න තාක් කල් මේ එකොළොස් මහා ගින්නෙන් බේරෙන්න බෑ කියල තමන්ටම තීරණයකට එලඹෙන්න පුළුවන්කම ලැබෙනවා. මේ ලෝකෙ පවතින තාක් කල් කවදාවත් ඒ තුලින් සැනසුමක් ලබා ගන්න තැනක් නෑ. ඒ කියන්නෙ මේ ලෝකය කියන්නෙ සැනසුම් සහගත තැනක් නෙවෙයි, අනාථ තැනක්. ලෝකය අනාථ නම්, මේ අනාථ ලෝකය තුළ සැනසුමක් ලබන්න බැරි නම්, මොනවා හෙව්වත් දුකට පත් වෙන්න සිද්ධ වෙනව මිසක් ඒකෙන් ගැලවෙන්න හේතු නෑ. මේ විදියට අවබෝධ කර ගත්තම, මේ අසහනයෙන් මිදීමක් ලෝකය තුළින් ලබන්න බැරි බව වැටහෙනවා. සැනසුමක් හොයා ගෙන මේ ලෝකය පස්සෙ යන තාක් කල්, මේ අසහනයෙන් මිදෙන්න හැකියාවක් නෑ. මේ අසහනයට හේතු වෙන්නෙ, මේ ලෝකෙ ගැන දන්නෙ නැතුව, මේ ලෝකෙ කොහේ හරි සැනසීමක් තියෙන තැනක් ඇති කියල නිගමනයකට ඇවිත් ඒ පස්සෙ හඹා ගෙන යාම නිසා මිසක් වෙන දෙයක් නිසා නෙවෙයි. එහෙනම් මේ අසහනයෙන් මිදෙන්නෙ කොහොමද? අසහනයෙන් මිදෙන්න නම් ලෝකයෙන් මිදෙන්න ඕන. මේ ලෝකයෙන් මිදෙන්නෙ කොහොමද? ලෝකයෙන් මිදෙන්න නම් ඇස, කන, දිව, නාසය, ශරීරය, මන, රූප, ශබ්ද, රස, ගන්ධ, ස්පර්ශ, ධර්මවලින් මිදෙන්න ඕන. දැන් ප්‍රශ්නයක් එනවා, කොහොමද මේ ඇස, කන, නාසය... ආදියෙන් මිදෙන්නෙ කියල. මේක තේරුම් ගන්න බුදු පියාණන් වහන්සේ දේශනා කරපු ගැඹුරු දහම් කරුණු අවබෝධ කර ගන්න ඕන වෙනවා.

ඉතිං මේ විදියට මේ ලෝකෙ ස්වභාවය, යථාර්ථය, කැමති සේ නැති බව, අසාර බව හරියට අවබෝධ කර ගත්ත කෙනාට නාමික බෞද්ධ කියන තත්වයෙන් ඉවත් වෙලා ප්‍රතිපත්තිමය සැබෑ බෞද්ධයෙක් බවට පත් වෙන්න මාර්ගය පෑදෙනවා. ඒකට අම්ම තාත්තගෙ පෙළපත ඕන වෙන්නෙ නෑ. යථාර්ථවත්ව මේ ලෝකෙ අසාර බව දැකල මේ අවබෝධය ලැබුනොත් බුද්ධ, ධම්ම, සංඝ කියන තුණුරුවන් කෙරෙහි අචල විස්වාසයක් ඇති වෙනවා. ඊට අනුව කටයුතු කරල හැකි තරම් කුසල්, පින්කම් කරල ඒ නිවන් මාර්ගයටම හිත තියල අත් හරින්න, මිදෙන්න කටයුතු කිරීම තමයි අවශ්‍ය වෙන්නෙ. මේ එකොළොස් මහා ගින්නෙන් බේරෙන්න තියෙන එකම ක්‍රමයත්, බුදුන් වහන්සේ පෙන්වා දුන්න ඒ විමුක්ති මාර්ගයට අනුව කටයුතු කිරීම පමණයි. ඒ නිසා ඒ විමුක්ති මාර්ගයට පිවිසෙන්න නම් මේ ලෝකය යථාර්ථයෙන්ම අවබෝධ කර ගැනීම මුලින්ම කළ යුතු වෙනවා. ඒ නිසා හැම දේම නුවණින් විමසල, ඇත්ත ඇති සැටියෙන් දැකල කටයුතු කිරීමෙන් සැබෑ බෞද්ධයෙක් බවට පත් වෙන්න හැකියාව ලැබෙනවා. එහෙම බෞද්ධයෙක් සල්ලි දීල හෝ වෙනත් මොනව හෝ සම්පත්තියක් දීල හෝ අබෞද්ධ කළැයි කිව්වොත් ඒක වෙන්නෙ නෑ. එහෙම වුනා නම් ඒ නාම මාත්‍රික බෞද්ධයෙක් මිසක් ප්‍රතිපත්තිමය සැබෑ බෞද්ධයෙක් නෙවෙයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ප්‍රසාද් ද සිල්වා**
**පරිපාලන නිලධාරී**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# දුක් දෙන රුව



**මහළුව එන කලට පිය බව නොම  වන්නා**
**මරණය වෙතම ඒ රුව නිරතුරු  යන්නා**
**බැඳුනා වූ සිතින් ඒ මුත්  වෙහෙසෙන්නා**
**මරණය ගෙනෙන කල මහ දුක් ගිනි  දෙන්නා**

**රුව සිරි රකින්නට නිරතුරු  වෙහෙසෙන්නා**
**සතුරන් ඇවිත් ඒ රුව උදුරා  ගන්නා**
**ලොව වෙත බැඳුනු සිත මිරිඟුව වෙත  යන්නා**
**මගෙ කර ගන්න දේ ගෙවී වැනසී  යන්නා**

**පිය ඇසුරකින් බැඳෙනා රුව දුක  ගෙනෙනා**
**බිය නොදකිනා සත එහි තව තව  බැඳෙනා**
**මගෙ කර ගන්න වෙහෙසුම නිරතුරු  දරනා**
**දුක ඇසුරටම ඇද රුව මරු වෙත  යැවෙනා**

**රුව ලැබ ගැනීමට සත නිරතුරු  ඇලෙනා**
**එය රැක ගැනීමට සත අවිදුවෙ  වෙලෙනා**
**කය වැනසෙත්ම නෙක දුක් කඳුළැලි  හෙලනා**
**මරු එන විටදී මහ දුක් ගින්නෙන්  පෙළෙනා**

පබැඳුම: **මනුජය කරුණාරත්න - ගම්පහ**

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

15 වන කොටස

ගෞතම බුදු පියාණන් වහන්සේ වැඩ හිටිය කාලෙ වංගීස කියල තරුණ බමුණෙක් හිටියා. මේ තරුණ බමුණා කුඩා වයසෙදිම ත්‍රිවේදය පරතෙරටම ප්‍රගුණ කරපු කෙනෙක්. ඊට අමතරව තමන් ඉගෙන ගත්තු ලෞකික විද්‍යාමය හැකියාවකින් ඔහු මුදල් ඉපැයූ ක්‍රමයක් තිබුණා. ඒ තමයි මියගිය කෙනෙකුගෙ හිස් කබලට තට්ටු කරල ඒ කෙනා හරියටම උපන් තැන කීමේ හැකියාව. ඒ මියගිය කෙනාගෙ හිස් කබලට තට්ටු කරල, මෙයා දැන් නිරයෙ ඉපදිලා ඉන්නෙ, මෙයා දැන් මනුස්ස අත්බැවක් ලබල ඉන්නෙ, මෙයා දැන් දෙව්ලොව ඉපදිලා ඉන්නෙ... ආදී වශයෙන් එහෙම හරියටම කියන්න හැකියාව තිබුණා. ඉතින් ඒ කාලෙ හිටපු මිනිස්සු තමන්ට හැකි පමණින් කහවණු දහයක්, සීයක්, දාහක්... ආදී මුදල් ගෙවල මේ තරුණයගෙන් තම තමන්ගෙ මියගිය ඥාති හිතමිත්‍රාදීන් උපන් තැන් අහනවා. ඒ හේතුවෙන් මේ තරුණයා බොහොම ප්‍රසිද්ධ වෙලා හිටියෙ.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන් මොකක්ද මේ සාස්ත්‍රය කියල. ඇත්තටම එහෙම සාස්ත්‍රයක් තිබුනද? තිබුන නම් එහෙම කිව්වෙ කොහොමද? අපදාන පාළිය කියන්නෙ ත්‍රිපිටක පොත් පෙළට අයිති එකක්. සැරියුත් මහ රහතන් වහන්සේ ඇතුළු අනෙකුත් ශ්‍රාවකයන් වහන්සේලා දේශනා කරල පසුව සංඝායනා කරපු දහම් කොටස් 2000 කින් සහ බුදුන් වහන්සේ දේශනා කරපු දහම් කොටස් 82000 කින් තමයි අද ත්‍රිපිටකය පැවතෙන්නෙ. ඉතින් අරිහතුන් වහන්සේලා, නොවැදගත් දෙයක් නම් ඒක කෙලින්ම අයින් කරනවා. ඒ අනුව තමයි අපිට විස්වාසයෙන් පිලිගන්න වෙන්නෙ එහෙම විද්‍යාවක් තිබුණ කියල. ලෝක විෂය අචින්ත්‍යයි, සර්වඥතා ඥානයට විතරක් සියල්ල ගෝචර වෙන විෂයක්. ඒ නිසා අපට පිලිගන්න වෙන්නෙ ඒ ජාතියේ මූලාශ්‍රවල ඇති විස්වාසය උඩ. ඊට හේතුව ඒ මූලාශ්‍රවල තියෙන ශ්‍රාවක ගෝචර දහම වූ චතුරාර්ය සත්‍යය, ත්‍රිලක්ෂණය, සත් තිස් බෝධි පාක්ෂික දහම් කරුණු ආදිය අඩු පාඩු නැතුව තාමත් නිරුපද්‍රිතව තියෙන නිසා. ඒ ඇසුරෙන් තමයි අර ජාතියේ දෙයක් තිබුණ කියල විස්වාස කරන්න වෙන්නෙ. හොඳයි එහෙම තිබුණ නම්, කොහොමද එහෙම කියන්නෙ කියල නැවතත් ගැටළුවක් එන්න පුළුවන්.

කෙනෙක් නිරයෙ හෝ සුගතියේ හෝ උපන්න කියන්නෙ ජාතියක් හටගත්ත කියන එක. ඉතින් මේ ජාතිය කියන්නෙ විපාකයක් නම් මුල කොහෙද? පටිච්ච සමුප්පාද චක්‍රය ප්‍රතිලෝමව හිතාගෙන ගියාම ජාතිය, භවය, උපාදානය, තණ්හාව, වේදනාව, ස්පර්ශය, සලායතන, නාමරූප, විඤ්ඤාණ, සංඛාර, අවිද්‍යාව. මෙතන අවිද්‍යාවෙන් පටන් අරගෙන අවසානයේ



ජාතියක් තමයි හට ගන්නෙ. එතකොට අවිද්‍යාවෙන් කරන සංඛාර කොටස් දෙකක් තියෙනවා. එකක් අලෝභ, අද්වේශ, අමෝහ. ඒකෙන් සුගති ජාතියක් ඇති කරනවා. අනෙක ලෝභ, ද්වේශ, මෝහ. ඒක දුගති ජාතියක් ඇති කරනවා. එතකොට ඔය කියන විදිහට අවසානයේ හටගත්ත ජාතිය කියන්න පුළුවන් වෙන්න නම්, අපේ ඇට මිදුළුවලට අපි කරන සංඛාරවල කිරණ ශක්තිය කාවැදිල තියෙන්න ඕන. ඒ අනුව අර වගේ හිස් කබලකට තට්ටු කිරීමෙන් ඇති වෙන ශබ්දය තේරුම් අර ගෙන කොච්චර දුරට අලෝභයක්, අද්වේශයක්, අමෝහයක් හෝ ලෝභයක්, ද්වේශයක්, මෝහයක් නිසා හට ගත් යම් සංයෝගයක් කා වැදිල තියෙනවද කියල බලන්න, වංගීස තරුණයා යම් සමාධි ක්‍රමයක් පුහුණු කරගෙන තියෙන්න ඇති. ඒ අනුව ජාතිය නිර්ණය කළා වෙන්න පුළුවන්. කොහොම හරි ඒ ක්‍රමය නිවැරදියි කියල බුදුන් වහන්සේ පවා අනුමත කරල, මේ තරුණයාට මේ හැකියාව තියෙනව කියල පසසල තියෙනවා.

දැන් මේ කතාවෙන් ඔබ්බට ගිය වැදගත් කාරණාවක් අපිට ගන්න පුළුවන්. එතකොට බුදු පියාණන් වහන්සේ ඇතුලු රහතන් වහන්සේලාගේ ඒ මහා ගුණස්කන්ධයත් උන්වහන්සේලාගේ ධාතූන් වහන්සේලා තුළට කාවැදෙන්න බැරිද? කුසල මූලයෙන් පටන් ගන්න අලෝභ, අද්වේශ, අමෝහ කියන කොටස්වල කිරණ ශක්තිය පවා ඒ විදියට ඇට මිදුළුවලට, අස්ථිවලට කා වැදෙනවා. ඉතින් අද සමහර උදවිය මේ කාරණය නොදැන, ඇයි මේ මැරිච්ච අයගෙ ඇට කටුවලට වඳින්නෙ කියල අහනවා. ඒ කාවැදිල තියෙන කිරණමය ශක්තිය නිසා පිරිනිවන් පාපු බුදුන් වහන්සේගෙ, අරිහතුන් වහන්සේ-ලාගෙ මහා ශක්තිය ගැබ් වෙලා තියෙන ධාතු වන්දනාව නිෂ්ඵල කාරණයක් නෙවෙයි.

ඒ කියන්නෙ බුදුන් වහන්සේට මහා කරුණා ගුණයත් (කරුණාවෙත් උපරිම අවස්ථාව), රහතන් වහන්සේලාට කරුණා ගුණයත් තියෙනවා. ඒ අවස්ථාවෙදි උන් වහන්සේලාට තියෙන්නෙ ලෝකයට සෙතක් ශාන්තියක් වෙන්න කියන අධිෂ්ඨානයෙන් නැගෙන ශක්තියක්. ඒ නිසා හැදෙන කිරණ ශක්තියත් ලෝකයට සෙතක් වෙන විදියටමයි උන් වහන්සේලාගෙ ධාතුවල පිහිටල තියෙන්නෙත්. **යම්කිසි කෙනෙක් ඒ ධාතූන් වහන්සේලාට ගරුත්වයෙන් වන්දනා මාන කරන කොට, ඒ අරිහතුන් වහන්සේලා ළඟ තිබ්බ්ච්ච ගතියට නැඹුරු වෙන ස්වභාවයක් ආවොත්, ඒ ශක්තිය ඒ පුද්ගලය කරාත් ගති ආකර්ශනය අනුව ඇදිල එනවා.** ඒ ගති ආකර්ශනයෙන් ඊට අදාල ශාන්තිය පුද්ගලය කරා පිහිටනවා. ඒ නිසා තමයි විශේෂයෙන් සර්වඥධාතු වන්දනා කරන කොට විශාල බලයක් නැගෙන්නෙ. රහතන් වහන්සේලාගෙ ධාතු වන්දනාවෙදිත් ඒ ශ්‍රාවක ගුණ බලය විහිදෙනවා. වන්දනා මාන කරන පින්වතුන්ට ඒ ශක්තිය ඇදිල ඔවුන් කරා පිහිටනවා. සත් පුරුෂ සංසේවනය ☞

කියන කාරණයේ ස්වභාවයක් මෙතනත් තියෙනවා. ධාතූන් වහන්සේලා වෙතිනුත් ඒ ශක්තිය විහිදෙනවා. එතනදි සිද්ධ වෙන්නෙ ඊට අවශ්‍ය පරිසරය හෙවත් සමනන්තරයක් හදල දීම. පෙර ගොඩනගපු අනන්තරයක් පුද්ගලයා ළඟත් තියෙනව නම් අර සමනන්තරයත් සමග ඒක ඇදිල ඇවිත් සමාධි ගත වෙන්න හරි පහසුවක් වෙනවා.

උදාහරණ විදියට භාවනා කරන්න සුදුසු සමහර පරිසර තියෙනවා. මේ කාරණය ත්‍රිපිටකයේ එන සිද්ධියකින් පැහැදිලි කර ගන්න පුළුවන්. එක් අවස්ථාවක බුදුන් වහන්සේ, භික්ෂූන් වහන්සේ නමක් අඹ වනයකට වඩින කොට තනියෙන් වඩින්න එපා කියද්දිත් උන් වහන්සේ තනියම වැඩියා. මොකද ඒ භික්ෂූන් වහන්සේ පෙර අත්බැවක රජ කෙනෙක් වෙලා අන්තඃ පුරයක් තිබ්බ්ච තැන තමයි දැන් මේ අඹ වනය තියෙන්නෙ. නමුත් දැන් ඒ ස්ථානයේ අන්තඃ පුරයක් නෑ. හැබැයි ඒ භූමියේ තිබ්බ්ච යම් කිසි ඊට අනුකූල ස්වභාවයක් උන් වහන්සේගෙ මනස වෙනස් කරන්න බලපානවා. ඒ නිසා එතනට ගිහින් භාවනා කරන්න පටන් ගත්තම කාම සංකල්පනා ගලාගෙන එන්න පටන් ගත්තා. ඊට පස්සෙ, මොකද මට මේ වෙන්නෙ කියල එතනින් නැවතත් ඇවිත් ඒ කාරණය බුදුන් වහන්සේට කියා සිටියා. තනියෙන් වඩින්න එපා කියල මම කිව්වෙ ඒ නිසයි කියල, බුදුන් වහන්සේ අර පෙර අත්බැවක තිබ්බ්ච සම්බන්ධය විස්තර කරල දුන්නා. ඉතින් එදා තිබ්බ්ච ගති ලක්ෂණයේ ස්වභාවය අදත් එතනට ගියාම සමනන්තර - අනන්තර ප්‍රත්‍යය අනුව මතු වෙලා එනවා. මොකද උන් වහන්සේ ඒ වෙන කොට අරිහත්වයට පත්වෙලා හිටියෙත් නෑ. ඒ නිසා පෙර එතන තිබ්බ්ච ආකර්ශන ශක්තිය තමයි උන් වහන්සේට අරමුණු වුණේ. ඒ කියන්නෙ එදා තිබ්බ්ච තමන්ගෙ ගති ලක්ෂණයට සම්බන්ධයක් අදත් ඒ පරිසරයට ගියාම ඇදිල ආවා.

එතකොට මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං කියන සිද්ධාන්තයට අනුව මනසට ධර්මය සට්ටනය වෙනවා. ඊළඟට අනිදස්සනං අප්පටිඝං ධම්මායතන පරියාපන්න රූපං කියල දර්ශනය කරන්න බැරි, ස්පර්ශ කරන්න බැරි, ධර්මායතනයට විතරක් සම්බන්ධ වෙන රූප කොටසක් තියෙනවා. ඒවා පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන්නෙ නෑ. අන්න එහෙම ශක්ති කොටසක් තමයි ධාතූන් වහන්සේලාගෙන් පිට වෙන්නෙත්. අර අඹ වනයෙන් පිට වුනෙත් ඒ පරිසරයෙ එදා තිබ්බ්ච ශක්තිය. ඒ ශක්තිය මනසට තමයි වදින්නෙ. එතකොට එදා තිබුණෙ කාමයට ගිජු වෙච්ච ශක්තියක්. ඒක මනසට වැදුනම ධර්මායතනය තුළින් හට ගන්නෙ කාම විඤ්ඤාණ. මොකද අරිහත්වයට පත් වෙලා නැති නිසා එහෙම දෙයක් හට ගන්න පුළුවන්. එතකොට කාම අදහස් එන්න පටන් ගන්නවා. ඒ වගේම යම් කිසි විදියකින් කෙනෙක් යහපත් පැත්තට නැඹුරු වෙලා ඉන්නව නම්, ඒ අවස්ථාවෙදි වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණ තමයි කිරණ වශයෙන් පිට වෙන්නෙ. ඒක ඒ පුද්ගලයාගෙ මනසට වදින කොට මනස ඒකාන්තයෙන් සමාධිගත වෙන්න හේතු වෙනවා. ඒ නිසා තමයි ධාතු වන්දනාව විශේෂ වෙන්නෙ.

වීතරාගී ස්වභාවයක් කෙනෙකුට තියේ නම්, ඒ පුද්ගලයාගෙන් නිකුත් වෙන්නෙත් සාන්ත කිරණ. සිතේ තියෙන යම් කිසි ආකාරයක ප්‍රභාස්වර ස්වභාවය තමයි එතකොට විහිදෙන්නෙ. හැබැයි මේ ස්වභාවය සාමාන්‍ය කෙනෙකුට මුලින්ම එන්නෙ නෑ. ඒ කියන්නෙ රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය අරමුණු මුලින්ම නෑ. ඒක මුලින්ම පටන් ගන්නෙ පාරමිතා පුරපු ලොවුතුරා බුදුන් වහන්සේ නමකට විතරයි. එතකල් ශ්‍රාවකයන්ට නෑ. බුදුන් වහන්සේ ස්වයං භූ ඥානයෙන් ප්‍රඥාව පහළ කරල තමයි ඒක කරගන්නෙ. ඒක ලොවුතුරා බුද්ධත්වයට පාරමිතා පුරපු කෙනෙකුට සිද්ධ වෙන දෙයක් මිසක් අනික් අයට තනියෙන් කරගන්න බෑ. පසේ බුදුවරයන් වහන්සේලාට ඒ හැකියාව තිබුණත්, විග්‍රහ කරන්න බැරි නිසා අනෙක් කෙනෙකුට ඒක ගෝචර කර ගන්න බෑ. උන් වහන්සේලාගෙන් ඒ ශක්තිය පිට වෙලා ගියත් වෙනත් කෙනෙකුට ඒක ග්‍රහණය කර ගන්න සමනන්තරයක් ඒ අවස්ථාවෙ හැදෙන්න විදියක් නෑ. මොකද ධර්ම දේශනා කරන්නෙ නැති නිසා අවබෝධ කර ගන්න විදියක් නෑ. ඒ නිසා එතනදි ඒ විහිදෙන ශක්තිය විතරයි කෙනෙකුට ලැබෙන්නෙ. පුද්ගලයා ළඟත් ඒකට හේතු හට ගන්න නම් ධර්මයක් ඇහෙන්න ඕන. ඒ දෙකම සිද්ධ වුනොත් තමයි කෙනෙකුට ඒ ප්‍රත්‍ය දෙකම සම්බන්ධ වෙන්නෙ.

නමුත් මේ කාරණා දෙකම ලොවුතුරා බුදුන් වහන්සේ නමක් පහළ වුනාම සිද්ධ වෙනවා. මොකද ධර්ම දේශනා ශක්තියත් තියෙන නිසා. ඒක තමයි ධර්මායතනයට සට්ටනය වෙන්නෙ. එතකොට ධාතූන් වහන්සේලාගෙන් විහිදෙන කිරණ ශක්තියත් උපනිශ්‍රය වෙලා එක පැත්තකින් අනුලෝම ඥානය ඇති කරන්න හේතු වෙනවා. ඉතිරි ටික තමන් බණ අහල කර ගන්න ඕන. මේ අනුව කෙනෙක් විනෝදයට ධාතු වන්දනාව සිද්ධ කළත් සසර කවද හරි නිවන් මග පෑදෙන්න ඒක හේතුවක් වෙනවා. චිත්ත ප්‍රසාදයෙන් කළොත් ඒ ශක්තිය වැඩියි. කොහොම හරි නිකං සාධු කියල වැඳල ගියත් අංශු මාත්‍රයක හෝ චිත්ත ප්‍රසාදයක් ඇති වුනානම්, ඒක චිරාත් කාලයක් යහපතට හේතු වෙනවා. කල්ප ගණනකින් හරි මෙහෙයවිලා කවද හරි නිවනට උපනිශ්‍රය වෙනව මිසක් ඒක ගෙවිල ඉවර වෙන්නෙ නෑ. ඒ නිසා ධාතු වන්දනාව අපතෙ යන්නෙ නෑ.

දැන් අනෙක් ශ්‍රාවකයන් වහන්සේලා වගේම මේ වංගීස තරුණයත් පදුමුත්තර බුදුන් වහන්සේගෙ කාලෙ මහා දන් දීන් දීල, මහා වැටහීම් ඇත්තන්ගෙන් අග්‍ර තනතුර ලබා ගන්න පැතුමක් පතාගෙන ආපු කෙනෙක්. අනෙක් ශ්‍රාවකයන් වහන්සේලාට වගේම පදුමුත්තර බුදුන් වහන්සේ මේ තරුණයටත් ඔහුගේ පැතුම ඉටු වන බවට විවරණ දුන්නා. ඉතින් මේ තරුණයට අර කලින් කිව්ව ලෞකික විද්‍යාව වගේම තවත් පුදුම හැකියාවක් තිබුණා. ඒ කියන්නෙ කෙනෙක් දැක්ක ගමන් ඒ පරිසරයට අනුව, ඒ පුද්ගලයාට අනුව ඉබේම හිතට කවි ගෙතිල එනවා. එහෙම නැත්නම් පාලියෙන් කියනව නම් ගාථා ගෙතිල එනවා. මේ කාරණය පෙන්වන්න පෙළ දහමේ සංයුක්ත නිකායේ (1) 70 පිටුවේ එන කවි සූත්‍රය (එහෙම නැත්නම් ගාථා නිදාන සූත්‍රය) උදාහරණයක් හැටියට ගන්න පුළුවන්. මේක ඉතාම කෙටි සූත්‍රයක්. දෙවියෙක් සහ බුදුන් වහන්සේ අතර ඇති වුන කතා බහක් තමයි ඒකෙන් කියවෙන්නෙ.

දෙවි - ගාථාවන්ට කිමෙක් මූල කාරණය වේද? කිමෙක් ඔවුන්ගේ අරුත් පවසාද? ගාථාවෝ කුමක් ඇසුරු කොට පවතීද? කවරක් ගාථාවට පිහිට වේද?

භගවත්හු - ඡන්දය ගාථාවන්ට නිදාන වේ, අකුරු ඔවුන්ගේ අරුත් පවසයි, ගාථාවෝ සංඥාවෝ ඇසුරු කොට පවතී, කවි තෙමේ ගාථාවන්ට පිහිට වේ.

ඡන්දය කියන්නෙ කැමැත්ත. කැමැත්තක් නැත්නම් ඒ විදියෙ ගාථාවක් / කවියක් කියන්න හිතක් එන්නෙ නෑ. හැබැයි මේ කියන්නෙ ඡන්ද, දෝස, භය, මෝහ කියන සතර අගතිවල එන ඡන්ද රාගය ගැන නෙවෙයි. සතර ඍද්ධි පාදවලින් එකක් වන ඡන්ද ඍද්ධි පාදය ගැන තමයි මේ කියන්නෙ. ඒක තමයි මේ කවිවලට සම්බන්ධ වෙන්නෙ. ඊළඟට අකුරුවලින් කියවෙන අර්ථය ගන්න නම් අක්ෂර, ගණ ගැලපෙන්න ඕන. අක්ෂර ගැලපෙන කොට තමයි ගණ ගැලපිලා හරියට අර්ථය එන්නෙ. ඊළඟට සංඥාව මුල් කර ගෙන තමයි මේ ගාථා/කවි ගෙතෙන්න හැඟීම එන්නෙ. ගාථා/කවිවල එක එක පදයෙන් එන සංඥාව ඉස්සෙල්ලම එනවා. එහෙම ආවම ඒ සංඥාවට අනුකූලවම ගාථාව/කවිය ගෙතෙනවා. ආර්ය විනයේ පටිභාන ☞

කවිත්වය කියන්නෙ ඔය දක්ෂතාවය. පාලියෙන් ගාථා තමයි හෙළ බසින් කවි කියල කියන්නෙ. **පාළි ගාථාවලත් සිංහල කවිවලත් තියෙන්නෙ කවීත්වය. ගාථාවට කවි පිහිට වෙනව කිව්වෙ, ලතාවකට ගෙතිල ගඟ ගලන්න වගේ ඒ අර්ථය ඉදිරිපත් වෙනවයි කියන එක. ඒ කියන්නෙ ගාථාවක් ළයාන්විත වෙන්නෙ මේ කියන කවීත්වය නිසා. කවීත්වයක් නැතිව කවියක්/ගාථාවක් හදන්න බෑ. ගාථා කියල ගෙතෙන්නෙත් කවිත්වයම තමයි.** හැබැයි මෙතනදි කවි කියන්නෙ අපි අද කියන හතර පද ගැලපිලා එන ක්‍රමය විතරක් නෙවෙයි. කවිත්වය කියන්නෙ ලතාවකට අනුපිළිවෙලින් ගෙතිල එන, ගඟ ගලනව වගේ ස්වභාවයක්. එතකොට ගද්‍යවලත් ඒ කවීත්වය තියෙන්න පුළුවන්.

මේ අනුව තේරුම් ගන්න පුළුවන්, මේ කවීත්වය තමයි ගාථාවන්ට උදව් වෙන්නෙ කියල. හැබැයි ගීත ස්වරයෙන් ඇද ඇද කියන කවි ගැන නෙවෙයි මේ කියන්නෙ. මොකද ඒක භික්ෂූන් වහන්සේලාට ගැලපෙන්නෙ නෑ. මෙතනින් අදහස් වෙන්නෙ ශබ්ද විද්‍යාව අනුව අක්ෂර, සණ, මාත්‍රා පිහිටුවල සමාධියෙන් කියන කවි රටාවක් ගැන. (මේ කවි ගැන 15, 16, 17 කලාපවලින් විස්තරාත්මකව පැහැදිලි කරල තියෙනවා).

වංගීස තරුණයාටත් මේ කවි හැකියාව හොඳින් පිහිටල තිබුණා. යන එන, හමුවෙන කෙනාගෙ ගතිය, පරිසරය අනුව දැක්ක ගමන් වහා කවි ගෙතිල එනවා. ඉතින් කවි කියනවා. නමුත් රස්සාව විදියට මුදල් ඉපැයුවේ අර කලින් කිව්ව හිස් කබලට තට්ටු කරල උපත කියන සාස්තරෙන්. ඔහොම යන කොට දවසක් මේ තරුණයාට භාවනායෝගීව වැඩ හිටපු සැරියුත් මහ රහතන් වහන්සේ හමු වුනා. ඒත් එක්කම පෙර පාරමිතා ශක්තිය නැගිල ආවා. දැක්ක ගමන් හිත නිවුනා. කවුද මේ පුද්ගලය කියල බලන්න උවමනාවක් ඇති වුණා. ඒත් එක්කම කවියකින්, එහෙම නැත්නම් ගාථාවකින් සැරියුත් මහරහතන් වහන්සේ ගැන කිය වුණා. ඊට පස්සෙ සැරියුත් හාමුදුරුවොත් බුදුන් වහන්සේගෙ ගුණ ගැන ගාථාවකින් වංගීස බමුණට කිව්වා. මේ පැහැදීම හේතුකොට ගෙන වංගීස බමුණා සැරියුත් හාමුදුරුවන් ඉදිරියේ පැවිද්ද ඉල්ලා සිටියා.

ඊළඟට බුදුන් වහන්සේ හමුවට පැමිණි වංගීස බමුණා ගැන ආගිය තොරතුරු කතා බහ කරපු බුදුන් වහන්සේ ඔහුගෙ හැකියාව ගැනත් ඇහුවා. එතකොට ඔහු පවසා සිටියා, තමන්ට හිස් කබලකට තට්ටු කරපු ගමන් ඒ අය උපන් තැන කියන්න පුළුවන් කියල. ඉතින් බුදුන් වහන්සේ හිස් කබල් තුනක් මේ වංගීස බමුණා ඉදිරියේ තැබුවා. එකක් නිරයෙ උපන් කෙනෙක්ගෙ, අනෙක් එක දෙව් ලොව උපන් කෙනෙක්ගෙ, තුන් වෙනි එක පිරිනිවන් පෑ පසේ බුදුවරයන් වහන්සේ නමකගෙ. දැන් මේ බමුණා ඒ හිස් කබල්වලට තට්ටු කරල හරියට නිරයේ උපන් කෙනාත්, දෙව් ලොව උපන් කෙනාත් හඳුන ගත්තා. බුදුන් වහන්සේ ඔහුගෙ මේ හැකියාව ගැන ප්‍රසංසා කළා. නමුත් පසේ බුදුවරයාණන් වහන්සේගෙ හිස් කබලට කොච්චර තට්ටු කළත් උපන් තැන කියන්න බැරි වුණා. ඒ නිසා ඔහු හිතුවා, තමන් ඉගෙන ගත්ත සාස්තරේ අඩු පාඩුවක් ඇති කියල. නමුත් ඒ කාරණය ගැන බුදු පියාණන් වහන්සේ පැහැදිලි කළාම, තමන්ටත් ඒ ක්‍රමය කියල දෙන්න කියල මේ බමුණා බුදුන් වහන්සේගෙන් ඉල්ලා හිටියා. ඒ ක්‍රමය ගැන දැනගන්න නම් ඔහොම ඉඳල බෑ, පැවිදි වෙලා මම මේ දෙන ක්‍රමය අනුගමනය කරන්න ඕන කියල බුදුන් වහන්සේ මේ තරුණයට කිව්වා. ඉතින් මම පැවිදි වෙලා ඒ ටික



ඉගෙන ගන්නව කියල තමයි පැවිදි වෙන්න කැමති වුණේ. බුදුන් වහන්සේත් ඔහුව පැවිදි කළා. දැන් ඉතින් අර පසේ බුදුවරයන් වහන්සේ උපන් තැන හොයා ගන්න බවුන් වැඩුවා.

මේ කාලය අතර තුර වංගීස හාමුදුරුවන්ගෙ යාළුවෙක් නිතරම වගේ උන් වහන්සේ හමුවෙන්න ආවා ගියා. ඒ යාළුව හැම තිස්සෙම අහන ප්‍රශ්නයක් තමයි, අර සාස්ත්‍රය ඉගෙන ගත්තද කියල. එතකොට වංගීස හාමුදුරුවො කියනව තාම නෑ කියල. නැවතත් පස්සෙ දවසක එනවා අර සාස්ත්‍රය ඉගෙන ගත්තද කියල අහන්න. එතකොටත් අර සුපුරුදු උත්තරේම තමයි ලැබෙන්නෙ. තාම නෑ කියනවා. ඉතින් බුදුන් වහන්සේ වංගීස හාමුදුරුවන්ට දුන්න ක්‍රමවේදය තමයි මේ කය කොටස් 32 කට බෙදල, ඒකෙ තියෙන ආදීනව සිහි කරමින් භාවනා කරන හැටි. ඒක තමයි උන්වහන්සේ දිගටම වැඩුවෙ. ඔහොම වඩා ගෙන යද්දි උන්වහන්සේ සියලු කෙලෙස් නසල අරිහත්වයට පත් වුණා. මේ අතර අර යහළු බමුණා නැවතත් ඇවිත් අහනවා, සාස්ත්‍රය ඉගෙන ගත්තද කියල. ඒ වෙලාවෙදි උන්වහන්සේ දුන්න පිළිතුර තමයි, දැන් මට ඒකෙන් වැඩක් නෑ කියල. ඉතින් යහළුවා බැන බැන, මොහු දැන් බොරු කියනව කියල යන්න ගියා. මේක බුදුන් වහන්සේට ආරංචි වුණා. උන්වහන්සේ මේ සිද්ධිය මුල් කරගෙන, මගේ පුතා බොරුවක් නෙවෙයි කියන්නෙ, දැන් ඔහුට සත්වයාගේ චුතියයි, පටිසන්ධියයි හොඳට වැටහෙනව කියල මේ ගාථාව දේශනා කළා.

**චුතිං යෝවෙදි සත්තානං**
**උප්පත්තිං ච සබ්බසෝ**
**අසත්තං සුගතං බුද්ධං**
**තමහං බ්‍රෑමි බ්‍රාහ්මණං**

යම් ශ්‍රමණයෙක් සත්ත්වයන්ගේ චුතියද (ආසන්න) පටිසන්ධියද (ආසන්න) සර්වප්‍රකාරයෙන් ප්‍රකට කොට දන්නේද, (තෘෂ්ණා වශයෙන්) අලග්න වූ (නොඇලෙන) මනා ගති ඇති සිවුසස් පසක් කළ ඒ උත්තමයා බ්‍රාහ්මණ යැයි මම කියමි (ධම්ම පදය - බ්‍රාහ්මණ වර්ගය)

චුති-පටිසන්ධි කියන්නෙ චිත්තක්ෂණ දෙකක්. ආසන්න කියන්නෙ, මරණාසන්න මොහොතෙ කොතැනක හෝ සිද්ධ වෙන චුතියයි, පටිසන්ධියයි ඇති කරන්න කිට්ටු අවස්ථාව. මොකද සමහර විට කෙනෙක් චුත වෙන්න පෙර කායික වේදනාවක් ආවොත්, ඒ පුද්ගලයට ආසන්නම චුතියේ අදහස නෙවෙයි එන්නෙ. පංචේන්ද්‍රියට ගෝචර වන්නා වූ බාහිරව භෞතික වශයෙන් ගන්නා වූ අදහස් තමයි එතකොට එන්නෙ. ඒ අවස්ථාව යථා මානසිකත්වය පූර්ණව ක්‍රියාත්මක වෙන අවස්ථාවක් නෙවෙයි. පංචේන්ද්‍රිය නිසා විසිරෙන අවස්ථාවක් තමයි එන්නෙ. ඒ වෙලාවෙදි චුතිය හොයන්න බෑ. මේකට උදාහරණයක් ත්‍රිපිටකයේ තියෙනවා. අනාගාමී වෙලා හිටපු එක් භික්ෂූන් වහන්සේ නමක් අපවත් වෙන අවස්ථාවට කිට්ටු වෙන කොට ලොකු කායික වේදනාවක් ආවා. ඒ වෙලාවෙ උන් වහන්සේට පැහැපත් මුහුණක් නැතිව නිකං වේදනා සහගතව බොහොම වෙහෙසට පත් වෙච්ච මානසිකත්වයක් තමයි තිබුණෙ.

එහෙම තිබිල උන් වහන්සේ චුත වෙන මොහොත එන කොට හොඳ පැහැපත් ප්‍රියමනාප මුහුණක් ආවා. එතකොට භික්ෂූන් වහන්සේලා මේ ගැන අහන කොට බුදුන් වහන්සේ ප්‍රකාශ කළා, උන් වහන්සේ මරණාසන්න මොහොතෙ වේදනා බරව හිටියට චුතියට ඒ වගේ අවස්ථාවක් එන්නෙ නෑ කියල. එතකොට ඒ මුල් අවස්ථාවෙදි උන් වහන්සේගෙ මූණෙන් ආවෙ කායික වේදනාව.

මේ කාරණය පැහැදිලි කරන්න තල් අත්තක උපමාවක් අටුවාවල තියෙනවා. තල් අත්තක් මැරෙන කොට ඉස්සෙල්ලම වටේ කොටස මැරුණත්, තල් ගහට හිටින ගෙඩිය වගේ පිත්තෙ මුල කොටස හොඳටම අමුයි, ඒක එහෙම ලේසියෙන් මැරෙන්නෙ නෑ. ඊට පස්සෙ තමයි ඒ කොටස මැරෙන්නෙ. එහෙම තමයි තල් අත්තක් මැරෙන්නෙ. ඒ වගේ, කෙනෙක් චුති-පටිසන්ධි සහිතව මැරෙන කොට පංචේන්ද්‍රිය තමයි ඉස්සෙල්ලම මැරෙන්නෙ. මනේන්ද්‍රිය මැරෙන්නෙ අවසානයට. අන්න ඒ අවසාන අවස්ථාව තමයි ආසන්න චුතිය කිව්වෙ. ඒත් එක්කම එන පටිසන්ධියත් ඊට අනුකූලයි. අන්න එතනදි නියම ස්වභාවය එනවා. ඒ නිසා තමයි අර අනාගාමී භික්ෂුවගෙ ආසන්න ගති ලක්ෂණය පංචේන්ද්‍රිය මළාට පස්සෙ මනේන්ද්‍රියට ආවෙ. ඒ නිසා තමයි චුති මොහොතෙදි පැහැපත් වුණේ. ඒ අවස්ථාවෙදි විපාක වශයෙන් මනේන්ද්‍රිය විසින් කායේන්ද්‍රිය (පංචේන්ද්‍රිය) හසුරුවන අවස්ථාවක් එනවා. මෙන්න මේ ආසන්න චුතියයි, පටිසන්ධියයි කියන අවස්ථා 2 තමයි අරිහතුන් වහන්සේ දකින්නෙ.

ඉතින් උන්වහන්සේ ඒ ගාථාවෙන් කිව්වෙ මේකයි. සත්ත්වයෙක් හටගන්නෙ කොහොමද, චුත වෙන කොට කොහොමද යන්නෙ, මේ කාරණය සර්ව ප්‍රකාරයෙන්ම දන්නවා. මොන මොන දේ කළාමද ජාතිය හටගන්නෙ, ඒ ජාති නිරෝධ කරන්නෙ කොහොමද මේ සියල්ල දන්නවා. ඒ ටික දන්නවා කියන්නෙ අරිහතුන් වහන්සේ නමක්. ඒක තමයි ඒ ගාථාවෙ සරල අදහස. ඒ වගේම ආර්ය විනයේ අරිහතුන් වහන්සේලාට තමයි බ්‍රාහ්මණ කියන්නෙ. ඒකත් පහදල දුන්නා.

ඒ වගේම වංගීස මහ රහතන් වහන්සේට තිබුණ තව චෝදනාවක් තමයි නිතර කවි කිය කියා ඉන්නව කියන එක. දවසක් භික්ෂුණ් වහන්සේලා ඇවිත් බුදුන් වහන්සේ ඉදිරියේ කියා සිටියා, වංගීස හාමුදුරුවො අන්න අතන කාන්තාවන් පිරිසකට කවි කිය කිය ඉන්නවා, මේක භික්ෂුන් වහන්සේ නමකට ගැලපෙන්නෙ නෑ කියල. හැබැයි බුදුන් වහන්සේ දන්නව, වංගීස හාමුදුරුවො ඒ වෙන කොටත් අරිහත් වෙලා හිටපු නිසා එහෙම නොගැලපෙන දෙයක් වෙන්න හේතු නෑ කියල. නමුත් මෙහෙම ගාථා ගෙතිල එන ක්‍රමයක්, කවි ක්‍රමයක් තියෙනව කියල අනෙක් අයටත් පෙන්වන්න නියම අවස්ථාව ලැබුන නිසා වංගීස හාමුදුරුවන්ට එන්න කියල කිව්වා. ඉතින් බුදුන් වහන්සේ වංගීස හාමුදුරුවන්ගෙන් ඇහුවා, ඇත්තද මේ කවි කිය කියා ඉන්නව කියන්නෙ කියල. එතකොට වංගීස හාමුදුරුවො කිව්වා, නෑ ස්වාමීනි මට තැනක්, පරිසරයක්, කෙනෙක් දැක්කම ඉක්මනට වැටහෙනවා මෙහි ඇති ඇත්ත තත්වය, ඒත් එක්කම ඒ අදහස කවියට නැගෙනව කියල. ඒක ඇත්ත නම් දැන් මම ගැනත් කවි පෙළක් කියන්න කියල බුදුන් වහන්සේ ඉල්ලා සිටියා. එසැණින්ම වංගීස හාමුදුරුවො බුදුන් වහන්සේගෙ ගුණ කවියෙන් කියා සිටියා.

ඒ මොහොතෙම බුදුන් වහන්සේ, වංගීස හාමුදුරුවන්ගෙ පාරමිතාව සම්පූර්ණ කරන්න, වහා වැටහීම් ඇත්තන් අතරින් අග්‍ර තනතුර පිරිනැමුවා. ඒ වගේම මේ වැටහීම තුලින් නැගී එන කවි කීමේ හැකියාව තියෙන අයගෙනුත් අග්‍ර තැන පිරිනැමුවා. ඒ කියන්නෙ ගෞතම බුද්ධ සාසනයේ පටිභාන කවීත්වය පිහිටන අය අතරින් අග තනතුර. වංගීස හාමුදුරුවන්ගෙ මේ හැකියාව ගැන සංයුක්ත නිකායේ වංගීස සංයුක්තය (සංයුක්ත නිකාය 1 - 330 පිටුවේ සිට) කියල වෙනම කොටසක් වෙන් කරල තියෙනවා. ඒ අනුව බොහෝ තැන්වල ධර්ම දේශනා කරද්දි උන්වහන්සේ නැගී ඉඳල, මට වැටහුනා මට වැටහුනා කියල අවසරය ඇතිව, ඒ දේශනාවල සාරාංශය කවියෙන් කියල තියෙනවා. මේ කවි ක්‍රමයට කියනවා පටිභාන කවි කියල. ඒක කට පාඩම් කරල හෝ හිතල මතල කියන ක්‍රමයක් නෙවෙයි. එවෙලෙ වැටහීමෙන් ගෙතෙන, නිවන් කරා යොමු කරන කවි රටාවක්. මේ ගැන මනා විස්තරයක් පසුගිය කලාපවලින් ඉදිරිපත් කළා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 2-1 වංගීස ස්ථවිරාවදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# නිවනට වදන්

## ද්වේශ සහගත පුද්ගලයාගේ කය ගිනි අවියකි. දුසිරිත් වදන් පවසන ඔහුගේ මුඛය අසූචි වළකි. එබන්දාගේ හිත ගිනි ජාලාවකි. අහෝ! අමා මෑණී බුදු පියාණන් වහන්සේ පෙන්වා වදාළ නිවී සැනසීම කෙතරම් දුලභද?

**- වහරක අභයරතනාලංකාර හිමි -**

# සත්කාය දෘෂ්ටිය යැයි අස්මි මානයට රැවටීම

*(පසුගිය කලාපයෙන්: හය ආකාර වූ සත්කාය දෘෂ්ටිය සහ දහසය ආකාර වූ විචිකිච්ඡාව....)*

සත්කාය දෘෂ්ටිය කියන්නෙ මොන වගේ දෙයක්ද කියල පසුගිය කලාපවලින් විවිධාකාරයෙන් පැහැදිලි කළා. එතනදි බමුණන්ගෙ තිබ්බ්ච විවිධාකාරයේ ආත්ම දෘෂ්ටි තමයි බුදු දහමින් සත්කාය දෘෂ්ටිය වශයෙන් විග්‍රහ කරල, ඒ දෘෂ්ටිවල මුලා ස්වභාවය පෙන්වා දුන්නෙ. එතකොට මේ සත්කාය දෘෂ්ටිය කියන වචනය අද වෙන කොට හරි විදියට අර්ථ දක්වෙන්නෙ නැති වුනත්, මේ වචනය ලෝක සම්මත බොදුනුවන් අතර බොහොම ජනප්‍රියයි. මොකද ත්‍රිපිටකයේ එන පද මාලාවක් නිසා. ඉතින් සෝවාන් වෙන කොට සත්කාය දෘෂ්ටිය නැති වෙනවයි කියනවා. ඊළඟට සත්කාය දෘෂ්ටිය කියන්නෙ මොකක්ද කියල ඇහුවම ''මම, මගේ'' කියල ගන්න හැඟීමයි කියල කියනවා. එයින් එහාට අර්ථ දක්වීමක් අහන්න ලැබෙනව බොහොම අඩුයි.

එතකොට මේ සත්කාය දෘෂ්ටිය කියන්නෙ සත්වයෙක් සසරට බැඳ තබන සංයෝජන ධර්ම 10 න් පළවෙනියට විග්‍රහ වෙන සංයෝජන ධර්මය. ඒක තමයි සෝවාන් වෙන කොට පළමුවෙන්ම නැති වෙන්නෙ. (විචිකිච්ඡා, සීලබ්බත පරාමාස දෙකත් ඒත් එක්කම පෙර පසු නොවී නැති වෙනවා) ඊළඟට අස්මි මානය කියල තවත් සංයෝජන ධර්මයක් තියෙනවා. ඒක සංයෝජන ධර්මවලින් 8 වෙනියට කියවෙන්නෙ. ඒකත් උච්ච මාන, සදිස මාන, හීන මාන කියල කොටස් 3 කට බෙදෙනවා. මගඵල ලාභීන්ට මේ අස්මි මානය කියල කියන්නෙ ''මම, මගේ'' කියන දැඩි දෘෂ්ටිය නෙවෙයි, සංඥාව සහ චිත්ත විපර්යාසය. සංඥාව සහ චිත්ත විපර්යාසය දෘෂ්ටියට වඩා ප්‍රබල බව්න් අඩුයි. එතකොට මේ අස්මි මානය නැති වෙන්නෙ අරිහත් ඵලයට පත් වෙන කොට. ඊට මෙහා ඉන්න සෝවාන්, සකෘදාගාමී, අනාගාමී අයටත් ඒ ඒ අයගෙ මට්ටම්වලින් මේ අස්මි මානය තියෙනවා. නමුත් අද වෙන කොට සමහර උදවිය මේ අස්මි මානයට සත්කාය දෘෂ්ටියයි කියල පටලවා ගෙන ඉන්නවා. මොකද ''මම, මගේ'' කියන අදහස නිසා. මේ නිසා **සමහර උදවිය සත්කාය දෘෂ්ටිය ඉවත් කළැයි කියල හිතාගෙන, අරිහත් ඵලයෙදි ඉවත් වෙන්න තියෙන අස්මි මානය සත්කාය දෘෂ්ටියයි කියල රැවටිලා ''මම, මගේ'' කියන වචන පවා පාවිච්චි කරන්නෙ නැතිව ඉන්නවා. මොකද ''මම, මගේ''**



**කියල කිව්වොත් සත්කාය දෘෂ්ටියට අහුවෙයි කියන බයට.**

නමුත් බුදුන් වහන්සේ පවා ''මම, මගේ'' කියන වචන භාවිතය අයින් කළේ නෑ. ඒ නාම මාත්‍රයෙන් කතා කළා. නමුත් අද ඉන්න සමහර උදවිය ''මම, මගේ'' කියන්න බයයි, සත්කාය දෘෂ්ටියට වැටෙයි කියල. සත්කාය දෘෂ්ටිය කියන්නෙ මොකක්ද කියල මාත්‍රයක්වත් දන්නෙ නැතිව සත්කාය දෘෂ්ටියට වැටෙන්නෙ කොහොමද? අනෙක සත්කාය දෘෂ්ටියෙදි නැති වෙන්නෙ ''මම, මගේ'' කියන ආත්ම දෘෂ්ටිය විතරයි. ඒ සංඥාව සහ චිත්ත විපර්යාසය නැති වෙන්නෙ නෑ. එතකොට මගඵල ලාභීන්ට අස්මි මානය කියන්නෙ ''මම, මගේ'' කියන සංඥාව සහ චිත්ත විපර්යාසය. ඒක අරිහත් ඵලයෙදි ඉවත් වෙලා හිත නිදහස් වෙනවා. නමුත් බුදුන් වහන්සේ ඇතුළු රහතන් වහන්සේලාත් ලෝක සම්මත කතා ව්‍යවහාරයෙදි හඳුන්වාදීම පිණිස ''මම, මගේ'' කියල කතා කරනවා. එහෙම කතා කරන්නෙ දෘෂ්ටියකින් නෙවෙයි, සංඥාවකිනුත් නෙවෙයි. ''මම, මගේ'' කියල ව්‍යවහාරයෙදි කතා කළාට ඒක නාම මාත්‍රයක් කියල උන් වහන්සේලා දකිනවා. නමුත් ඒ අතීතයේ හිටපු මමෙක්වත්, එහෙම යන එන කෙනෙක්වත් කියන අදහසින් නෙවෙයි. මේ හැම නාම මාත්‍රයක්ම හඳුන්වන්න ''මම, මගේ'' කියල කියනවා. එදා තිබ්බ්ච සංඥා මාත්‍රයට ''මම'' කියන මුලා දෘෂ්ටියෙන් ගත්තු අදහස නිසා හේතුඵල වශයෙන් සකස් වෙච්ච පංචස්කන්ධයක් හඳුන්වන්න කියන නාම මාත්‍රයට තමයි ''මම'' කියල කිව්වෙ. රහත් ඵලයෙන් මෙහා ඉන්න මගඵල ලාභීන්ට සංඥා වශයෙන් පෙර ''මම'' හිටිය කියල දැනෙනවා. හැබැයි පෙර ''මම'' කිව්වෙ පෙර තිබ්බ්ච පංචස්කන්ධයත් එක්ක කියල දකිනවා. අද ''මම'' කියල කියන්නෙ අද තියෙන පංචස්කන්ධයට කියල දකිනවා. මතු ''මම'' කියන්නෙ මතුවට හැදෙන පංචස්කන්ධයට මිසක් දැන් තියෙන පංචස්කන්ධයට නෙවෙයි කියල දකිනවා. මොකද ඒ අයගෙ දෘෂ්ටිය අහක් වෙච්ච නිසා. නමුත් පෘතජ්ජන අය ඒ ස්කන්ධ වෙනස දකින්නෙ නෑ. ''මම'' කියල එකම කෙනෙක් පෙර ඉඳගෙනම එනව යනව කියල තමයි ඒ අය දකින්නෙ.

එතකොට පෘතජ්ජනයන්ටත් එක්ක පොදුවේ ගත්තම අස්මි මානය කියන්නෙ ''මම, මගේ'' කියල දෘෂ්ඨී, සංඥා, චිත්ත තුනෙන්ම මැන ගැනීම. එදත් හිටියෙ මමයි, අදත් ඉන්නෙ මමයි කියල මැන ගන්නවා. අන්න ඒ මැනීම රහතන් වහන්සේලාට නෑ. ඊට මෙහා ඉන්න අනාගාමී කෙනාටත් සංඥා, චිත්ත දෙකෙන් ඒ මැනීම එක්තරා ☞

මට්ටමකට තියෙනවා. මොකද ''මම'' කියන සංඥාව සහ චිත්තය දුරු වෙලා නෑ. එහෙම ගිහින් අරිහත් ඵලයෙදි තමයි ඒක සම්පූර්ණයෙන්ම නැති වෙන්නෙ. එතකොට මගඵල ලාභීන්ගෙ අස්මි මානය කියන්නෙ ''මම'' කියන සංඥා විපර්යාසය සහ චිත්ත විපර්යාසය. අන්න ඒ සංඥා සහ චිත්ත විපර්යාසය තමයි රහත් ඵලයෙදි නැතිවෙන්නෙ. ඊට මෙහා ඉන්න මගඵල ලාභීන්ට ඒ සංඥාව සහ චිත්ත විපර්යාසය ඒ ඒ අයගෙ මට්ටම්වලින් තියෙනවා. අරිහත් ඵලයට යනකල් ඒ දෙක ක්‍රමයෙන් අඩු වෙලා ගිහින් එතනදි තමයි චිත්ත විපර්යාසයයි, සංඥා විපර්යාසයයි දෙකම නැති වෙන්නෙ. ඊට පස්සෙ ඒකාන්තයෙන්ම මේ පංචස්කන්ධයට ඇලෙන්න තවත් ''මම'' කියල කෙනෙක් නෑ කියල, පංචස්කන්ධය කියන්නෙ පෙර හේතුවේ ඵලයයි කියල, ඒ හේතුඵල සම්බන්ධය නිසා මෙහෙම දෙයක් තියෙනව කියල දකිනවා. නමුත් තමන් ලෝකයට හඳුන්වා දෙන්න විතරක් ''මම, මගේ'' කියන නාම මාත්‍රයෙන් කතා කරනවා. ඒ නාම මාත්‍රයෙන් හඳුන්වා දෙන්න කතා කරනව මිසක් වෙනත් සම්බන්ධයක් නෑ කියල රහතුන් වහන්සේ හරියටම දන්නවා. අනෙක් අයට කොච්චරවත් ඒ නාම මාත්‍රය වෙනුවට සංඥා, චිත්ත දෙකෙන් ''මම'' කියන අදහස ඇදිල එනවා. ''දැන් මම කොහෙ ගිහින් ඉපදෙයිද දන්නෙ නෑ. පෙර මම කොහෙ කවුරු වෙලා හිටියද දන්නෙ නෑ. දෙවියෙක් බ්‍රහ්මයෙක් වෙලා හිටියද?'' මේ වගේ අනික් අයට කොච්චරවත් ඒ සංඥා, චිත්ත දෙක ඇදල එනවා.

මේ අස්මි මානය තුළ තියෙන ''මම'' කියන දෘෂ්ටිය, සංඥාව සහ චිත්ත විපර්යාසය කියන තුනම පෘතජ්ජනයින්ට තියෙනවා. සත්කාය දෘෂ්ටිය බිඳුනට පස්සෙ දෘෂ්ටි විපර්යාසය දුරු වෙන නිසා සෝවාන්, සකෘදගාමී, අනාගාමී අයට ඒකෙන් ඇතිවන සංඥා විපර්යාසය සහ චිත්ත විපර්යාසය කියන දෙක විතරක් තියෙනවා. කවුරු හරි කිව්වොත් උඹ බල්ලෙක් වෙලා හිටිය කියල, අනේ උඹ දන්න කෙහෙල් මල, මම කොහෙද බල්ලෙක් වුනේ කියල අහනවා. එහෙම කියනවටත් තරහයි. තමන් බාල කරනවට හෝ තමන්ගෙ අඩුවක් කියනවට හෝ කැමති නෑ. ඒ නිසා හේතුඵල වශයෙන් පිළිගන්න කැමති නෑ. මොකද ''මම'' කියන දෘෂ්ටිය හෝ සංඥාව තියෙන නිසා. රහත් ඵලයෙන් මෙහා ඉන්න මගඵල ලාභීන්ටත් ඒ ඒ අයගෙ මට්ටම්වලින් ඒ නිසා එන වික්ෂිප්ත භාවය තියෙනවා.

''මම, මගේ'' කියන සංඥාවෙ **ඉන්න තාක් කල් ඒ පුද්ගලය කැමතියි ''මම, මගේ'' කියල උඩඟු කරල උස් කරල කතා කරන්න. ඒක තමයි උච්ච මානය කියන්නෙ. ඒ කියන්නෙ මම අනිත් අයට වඩා උසස් කියන හැඟීම. ඊළඟට මම අහවල් කෙනා වගේ කියල තවත් කෙනෙකුට සම කරල මනිනවා. ඒක තමයි සදිස මාන කියන්නෙ. ඊළඟට මම හීනයි, පුංචියි, දුප්පත්, අනෙක් අය ලොකුයි,**





**උසස්, පොහොසත් ආදී වශයෙන් තමන් පහත් කරල මනින්නෙ හීන මානය නිසා.** හැබැයි යථාර්ථය දැනගෙන ඇතිවන යටහත් පහත් ලක්ෂණයක් නෙවෙයි මේ හීනමානය කියන්නෙ. උදාහරණ විදිහට බුදුන් වහන්සේ අග්‍රයි, අපි දෙවෙනියි, රහතුන් වහන්සේ අපට වඩා අග්‍රයි, අපි ඊට පහළයි කියන්නෙ යථාර්ථයෙන් ගන්න අදහසක් මිසක් හීන මානයක් නෙවෙයි. කිසිම යථාර්ථවත් හේතුවක් නැතිව තමන්ගෙ තත්ත්වය තමන්ම පහත්කර ගැනීම තමයි හීනමානය කියන්නෙ. ලෞකිකව මොකක් හරි භෞතික දෙයක් මුල් කරගෙන ඇතිකර ගන්න නොදැනීම නිසා, වටහා ගන්න බැරිකම නිසා තමයි මේ හීනමානය එන්නෙ. ''මම'' කියන දෘෂ්ටිය, සංඥාව සහ චිත්ත විපර්යාසයත් එක්ක තමයි මේ මාන 3 හට ගන්නෙ. ඉතින් ''මම'' කියල දෘෂ්ටියක් හෝ සංඥාවක් හෝ චිත්තයක් හදා ගෙන මේ මාන තුනෙන් මැන මැන ඉන්නවා. සාමාන්‍ය පෘතජ්ජන අයගෙ මේ මාන 3 ඉහළින්ම තියෙනවා. ඊළඟට රහත් මාර්ගය දක්වා යන කොට ඒ මානය ක්‍රමයෙන් තුනී වෙවී ගිහින් අරිහත් ඵලයෙදි නැත්තටම නැති වෙනවා.

නමුත් ''මම'' කියන දෘෂ්ටිය සම්පූර්ණයෙන්ම නැති වෙන්නෙ ඉස්සෙල්ලම යථාර්ථය දැක්ක දාට. ඒ කියන්නෙ සෝවාන් වුනාට පස්සෙ. ඒත් ''මම'' කියන සංඥාව සහ චිත්තය තියෙනවා. එහෙම ක්‍රමයෙන් ගිහින් සම්පූර්ණයෙන්ම නැති වෙන්න නම් පටිච්ච සමුප්පාදය පිළිබඳ හේතු ඵල දහම් රටාව හොඳින් අවබෝධ කර ගන්න ඕන. එතකොට තමයි මේ ක්‍රම රටාව සත්‍යයි කියල දකින්නෙ. දහම් ඇස පහළ වෙලා නිතරම හේතුඵල දහම දකල, අහල ආවර්ජනය කරන්න පුරුදු වුනාම මේ මාන 3 ත් ක්‍රමයෙන් නැති වෙනවා. අවිද්‍යා, සංඛාර, තණ්හා, උපාදාන, භව කියන හේතු 5 මුල් වෙන කොට විඤ්ඤාණ, නාම රූප, සළායතන, ස්පර්ශ, වේදනා කියල ඵල 5 ක් හට ගන්නවා. දැන් ඒ හේතු 5 පහළ වෙන කොට ඒ හේතුවෙන් මතුවට ඵල 5 ක් පහළ වෙනවා. ඒ ඵල 5 න් පළවෙනි ඵලය තමයි පටිසන්ධි විඤ්ඤාණය කියන්නෙ. සංඛාර පච්චයා විඤ්ඤාණං කියන්නෙත් ඒකයි. කර්ම විඤ්ඤාණය උපනිශ්‍රය කරගෙන පටිසන්ධි විඤ්ඤාණයක් හට ගන්නවා. කර්ම විඤ්ඤාණය තමයි අපි දැන් මේ භවයෙ ඉඳගෙන කරන්නෙ. ඊළඟට උප්පත්ති භවය හට ගන්නෙ පටිසන්ධි විඤ්ඤාණයෙන්. මේ පටිච්ච සමුප්පාදය තමයි දුක් වශයෙන් තියෙන්නෙ. ඒක විවෘත කර ගත්තම හේතු ඵල දහම වැටහිලා සත්කාය දෘෂ්ටියත් නැති වෙනවා. ඒකම තව තවත් දකින කොට අස්මි මානයත් දුරු වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# යහපත් දිවියකට....

උතුම් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල යම් අවබෝධයක් ඇති වුනාට පස්සෙ, ඡන්ද රාගයෙන් තොරව යහපත් ගෘහ ජීවිතයක් ගත කරන්නෙ කොහොමද කියන ගැටළුවක් බොහෝ දෙනෙකුට ඇති වෙනවා. අවිවාහක නම් විවාහ වෙන එක හරිද, විවාහක නම් අඹු දරුවන්, නෑ හිතවතුන් එක්ක කටයුතු කර ගෙන යන්න ඕන කොහොමද, රැකියාවකට යන කොට හොඳට අඳින්න පළඳින්න ඕන, නැත්නම් සමාජයේ අනික් අය හිතයි සසර කලකිරිල කියල, එහෙම නැත්නම් ජය පතපු දේකින් පැරදිලා කියල... මේ ආදී වශයෙන් විවිධාකාර ගැටළු එන්න පුළුවන්. සමාපත්ති සුවයෙන් වැඩ හිටිය බුදුහාමුදුරුවන්ගෙන් මාර දූවරු අහපු ප්‍රශ්න ටික තමයි, සංවරව ඉන්න අයගෙන් අනික් අය අහන්නෙත්.

ඒ නිසා හොඳට අඳින්න පළඳින්න, ඒ වගේ දේවල් අගය කරන සමාජයක ජීවත් වෙන්න සිද්ධ වෙලා තියෙන නිසා ඒවා කළාට කමක් නෑ. නමුත් ඒවාට ඡන්ද රාගයෙන් බැඳීම අසාරයි කියන කාරණය තේරුම් ගන්න ඕන. ඒ වගේම, තමන් ඒ අය අතරෙ කැපී පෙනෙන්න, ලස්සනයි කියන්න, වැදගත් පෙනුමක් ගන්න නෙවෙයි එහෙම අඳින්නෙ පළඳින්නෙ. ඒව ඇත්ත වෙන්න පුළුවන්. නමුත් මේ සමාජය තුළ ජීවත් වෙන්න ඒකත් අවශ්‍ය දෙයක් නිසා, කොටින්ම රැවුළත් බේරගෙන කැඳත් බොන්න ඕන නිසා තමයි එහෙම අඳින්නෙ පළඳින්නෙ. මේ අසාරත්වය පිළිබඳ හැඟීම තමන්ගෙ හදවතේ තියෙන දෙයක් මිසක් බාහිරට පේන්න නෙවෙයි ඉන්න ඕන.

ඡ(ච) + අන්ධ - ඡන්ද. ''ච'' කියන්නෙ චිත්තය. චිත්තය ප්‍රභාෂ්වරයි. ඇස, කන, නාසය, දිව, කය, මන කියන හයෙන් රූප, ශබ්ද, ගන්ධ .... ආදී අරමුණු ස්පර්ශ වුනාම, අනිච්ච-දුක්ඛ-අනත්ත-අසුභ අරමුණු, නිච්ච-සුඛ-අත්ත-සුභ හැටියට අරගෙන ඒවා වටිනවයි, සාරයි කියන අදහසින් ආස්වාද විඳින කැමැත්තෙන් බැඳෙනවා. අසාරයි, අසුභයි කියල නොදැකීම තමයි අන්ධ කිව්වෙ. අනන්ත සසරෙ ඉතා දිගු කාලයක් මේ විදියට අන්ධ වෙලා තමයි අපි ඇවිත් තියෙන්නෙ. ඒ නිසා සද්ධර්මය දැනගත්ත පලියට, හිතට අරමුණු ආවම ඒවායේ අසාරත්වය එකවරම දකින්නෙ නෑ. ඒ දැකීම එන්න, පුරුදු වෙන්න කාලයක් ගත වෙනවා. අසාරත්වය දකින්න හිත පුරුදු කරන්න ඕන. ප්‍රභාෂ්වර චිත්තයේ බැඳිල තියෙන මේ ආස්වාද මායාවල්වලට ඇති කැමැත්ත (කෙලෙස් කසළ) ටිකෙන් ටික ඉවත් වුනාම චිත්තය ප්‍රභාෂ්වර වෙන්න පටන් ගන්නවා. ටික ටික එළිය එන කොට,



ටික ටික අසුභය පෙනෙන්න පටන් ගන්නවා. අරමුණ ස්පර්ශ වෙන කොටම අසුභය, ආදීනවය දකින්න හිත හුඟක් පුරුදු කරන්න ඕන. පෙර සසරෙදිත් යම් කාලයක එහෙම පුරුදු පුහුණු කර ගෙන ගිහින්, ඒක පූර්ණ කරගන්න කලින් ඒ ජීවිතය ගෙවිල ගියා නම්, මේ අත්භවයෙදි ඒ වගේ අයට ඒ පෙනීම කෙටි කලකින්ම දැනෙන්න පුළුවන්.

අපි සාමාන්‍යයෙන් දැනුවත් වෙලා තියෙන්නෙ, රාගය කියන්නෙ ගැහැණු පිරිමි අය අතරෙ ඇති වෙන කාම සිතිවිලි, ක්‍රියා, වදන්වලට කියල. නමුත් රාගය කියන වචනයේ ඊට වැඩිය ගැඹුරු අරුතක් සැඟවිලා තියෙනවා. රා + අග්ග තමයි රාග කියන්නෙ. රා කියන්නෙ බිව්වම මත් වෙලා, ඒ මත් ගතිය තුළ කිසියම් සැහැල්ලුවක්, විඳීමක් ඇති කරන බීම ජාතියක්. ජාතියක් හට ගන්නෙ පටිච්ච සමුප්පාදය අනුව සංඛාරයකින්. ඒ සංඛාරය හට ගන්නෙ අර මත් ගතිය තුළ තියෙන සැහැල්ලුව විඳීමට ඇති කැමැත්ත නිසා. අන්න ඒ අභ්‍යන්තර ගති ලක්ෂණයට අනුරූපව බාහිරින් නිෂ්පාදනය වුනේ ''රා''. (මනෝ පුබ්බංගමා ධම්මා ....) එහෙනම් ඒ වගේ සැහැල්ලුවෙන් විනෝදෙන් සසර සැරිසරන කැමැත්තක් තියෙන අභ්‍යන්තර ගති ලක්ෂණයට තමයි රා කියන්නෙ. අග්ග කියන්නෙ, මුල් තැන හොබවන කියන අර්ථය. (උදාහරණ : අග්ග සාවක) ආයතන හයට එන යම් කිසි අරමුණක් ස්පර්ශ වුනාම, ඒ අරමුණේ ආස්වාදය, ආදීනවය සොයා නොබලා, අර සැහැල්ලුවෙන් විනෝදෙන් මත් වෙන ගති ලක්ෂණයට මුල් තැන දීල කටයුතු කරන එකට තමයි රාග කියන්නෙ.

දැන් මේ රාග කියන වචනයේ තියෙන ගැඹුරු අරුත මතු කරල දෙනකල්, රාග කිව්වෙ ගැහැණු පිරිමි අය අතරෙ ඇති වෙන කාම සිතිවිලි, ක්‍රියා, වදන්වලට. ඉතින් බොදු මග සැඟවිලයි කිව්වම සමහර අය කියනවා, එහෙම මතු කරල දෙන්න දෙයක් නෑ, මේ තියෙන්නෙ බොදු මග තමයි කියල. දැන් කල්පනා කරල බලන්න මේ වචනය තුළ බොදු මග සැඟවිලා තිබුණෙ නැත්ද කියල. **ගැහැණු පිරිමි අය අතරෙ කාම සිතිවිලි, ක්‍රියා, වදන් නැති සමාජයක් තියෙන්න පුළුවන්ද? නමුත් ඒ මත්වෙන ගතියට මුල් තැන නොදී, හොඳ නිසා වටින නිසා නෙවෙයි, අවශ්‍යතාවයට කටයුතු කරනවා කියන මානසිකත්වයෙන් යුක්ත සංවර සමාජයක් අතීතයේ තිබිල තියෙනවා.** සත් අවුරුද්දෙන් සෝවාන් වුන විශාඛාවට දරු මුණුබුරන් කොච්චර හිටියද? අනේපිඬු සිටුතුමාට දරුවො හිටියෙ නැත්ද? ඡන්ද රාගයට මුල් තැන නොදී සංවර ගෘහ ජීවිත ගත කරපු චිත්ත ගහපති, නකුල මාතා නකුල පිතා වගේ ශ්‍රේෂ්ඨ චරිත අනුගමනය කරන සමාජයක් වෙනුවට නළු නිළියන්, ක්‍රීඩකයන් වගේ චරිත අද

දෙමව්පියන්ගෙත් දරුවන්ගෙත් වීරයො බවට පත් වෙලා.

ඡන්ද රාගය කියන්නෙ මොකක්ද කියල දැන් පැහැදිලියි. උඩු ගං බලා පීනනව වගේ, සසරින් එතෙර වෙන මේ ගමන යන්න වෙලා තියෙන්නෙ මේ වගේ සමාජයක ඉඳගෙන. මේ අය එක්ක කටයුතු කරන එකත් ලොකු කමටහනක්. හැම තිස්සෙම හිත නිවෙන පැත්තට කටයුතු කරන්න සිහිය තියාගන්න ඕන, ආස්වාදය පැත්ත දෙවැනි කරන්න ඕන. උදාහරණයකින් තව දුරටත් පැහැදිලි කරනව නම්, අපි පන්සල් යන්න හිතාගෙන ඉන්න වෙලාවක හිතවතෙක් ඇවිත් විනෝද ගමනක් යන්න කථා කළොත්, විනෝද ගමන අයිති වෙන්නෙ සසර සැරිසරන පැත්තට. පන්සල් යාම හිත නිවෙන පැත්තට අයිතියි. ඒ නිසා ඒ අවස්ථාවෙදි අපි මුල් තැන දෙන්න (අග්‍ර කරන්න) ඕන පන්සල් යන්න.

එහෙම කරන්න නම් පන්සල් යන එකෙන් ලැබෙන ප්‍රයෝජන මොනවද? අප්‍රයෝජන මොනවද? විනෝද ගමන යාමෙන් ලැබෙන ප්‍රයෝජන මොනවද? අප්‍රයෝජන මොනවද? මේ විදියට දහමට අනුව තෝරා බේරා ගන්න පුළුවන් වෙන්න ඕන. පන්සල් යන එකත් අද සමහර තරුණ පිරිස්වලට විනෝද ගමනක් වගේ. දහම් පාසල පවත්වගෙන යන්න නම් තරඟ තියන්න සිද්ධ වෙලා. මේ වගේ සමාජයක දරු දැරියන්ට තමයි යහ මග පෙන්වන්න සිද්ධ වෙලා තියෙන්නෙ. පන්සලට යන්න නම් සංවර ඇඳුමකින් සැරසෙන්න ඕන. සුදු කියන්නෙ යහපත් පැත්ත. කලු කියන්නෙ අයහපත් පැත්ත. අභ්‍යන්තර යහපත සලස ගන්න බාහිර වශයෙනුත් යහපත් වෙන්න ඕන. ඒ නිසා සංවර ඇඳුම සුදු පාට නම් වැඩිය හොඳයි. ගැහැණු ළමයින්ට ළමා සාරිය හොඳ ඇඳුමක්. නමුත් දැන් සමහරුන්ට ඒකත් බඩ වියතක් පේන විදියට විලාසිතාවක් බවට පත් වෙලා තියෙන නිසා, කිරි කළයකට ගොම දැම්ම වගෙයි. වහගන්න ඕන තැන් විවර කිරීම අසංවරයි. මේවා පෙන්නුවත් ගණන් නොගන්න අම්මලා ඉන්නවා. ඒ තරමටම මෝස්තර (මෝහ + ස්ථර) සමාජගත වෙලා. මෝස්තර නිරූපනය කරන තැන පන්සල නොවිය යුතුයි.

පන්සල කියන භූමියේ මස් ලේ ඇහැට පේන අය වගේම, අසරණ භූතාත්ම ලබපු නොපෙනෙන පිරිසකුත් ඉන්නවා. පන්සල නිතරම පින් අනුමෝදන් කරන තැනක් නිසා, පින් අනුමෝදන් වෙන කැමැත්තෙන් තමයි ඒ අය ඉන්නෙ. ඒ නිසා පන්සල් භූමියේ දුව පැන ඇවිදින එක ඉතාම නරකයි. ඒ අසරණ පිරිසට ඒකෙන් කරදර වෙන බවත් සිහි තබා ගන්න ඕන. රණ්ඩු සරුවල්, ඝෝෂා කරන්න හොඳ නෑ. එබඳු පහත් ගති නිසා, ජීවිත අවසානයේ දුක්ඛිත ආත්මයක් ලබපු ඒ අයගෙ පෙර තිබුණ ඒ පහත් ගති නැති කර ගන්න ආපු පන්සලෙත් අහන්න දකින්න ලැබෙන්නෙ ඒවම නම්, ඒ අයගෙ දුක නිවා ගන්නෙ කොහොමද? මේ කියන්නෙ සංවරකමට හැසිරෙන මූලිකම පරිසරය ගැන.

අනික් පිරිස කෑ කෝ ගහනව නම්, අසංවර නම්, අපි විතරක් සංවර වෙන්නෙ කොහොමද? අන්න එතන තමයි සැඟවුන දහම මතු කරන තැන. උදාහරණ විදියට ගත්තොත් බල්ලො බුරන තැන අහළ පහළ ඉන්න අනික් බල්ලොත් බුරනවා.



මනුස්සයොත් ඒ වගේ නම්, මනුස්සකමේ වෙනසක් තියෙනවද? කෑ කෝ ගහන අසංවර තැනක තමයි අපි සංවර වෙන්න අධිෂ්ඨාන කර ගන්න ඕන. හැමෝම නිශ්ශබ්ද තැනක අපි කොහොමටත් සද්ද කරනව නම්, අපි කරන්නෙ වැරැද්දක්. අනික් අයටත් සංවර වෙන්න, නිශ්ශබ්ද වෙන්න අපි මූලික වෙන්න ඕන. මේ සත්‍ය දහම දැක්ක පිරිස හැටියට අපේ යුතුකම, වගකීම ඒකයි කියල කරුණාවත් ඉවසීමත් වැඩි දියුණු කර ගන්න ඕන. එහෙම නම් දහම දැනගත් කෙනෙක් පන්සල් යෑමෙන් ඒ යන කෙනාටත්, එහි ඉන්න යම් අසංවර පිරිසක් ඇත්නම් ඒ අයටත් යහපතක් වෙනවා. දැන් තෙල් මල් පහන් පුදල බෝධි වන්දනා කරන වත් පිළිවෙත් කිරීමෙන් ලැබෙන මානසික සුවය වගේම, අසංවර අය අතරෙදි සංවර වීම කියන උතුම් ගුණය, කරුණාව, ඉවසීම තමන් තුළ වැඩි දියුණු වෙනවා. අසංවර ඇඳුමින් සැරසිලා, පෙනෙන නොපෙනෙන අනික් පිරිසගේ රාග, ද්වේශ, මෝහ වැඩි දියුණු වෙන අරමුණු සපයල අසංවරව හැසිරුනොත්, සුද්ධ භූමියක් අසුද්ධ භූමියක් කිරීමේ පාපය තමයි පන්සල් යෑමෙන් සිද්ධ වෙන්න පුළුවන් අප්‍රයෝජනය වෙන්නෙ.

විනෝද ගමනක් යෑමෙන්, පෙර නොදැකපු ලස්සන දේවල්, ලස්සන ස්ථාන, පුරාණ නටඹුන්, විස්මිත ගොඩනැගිලි වගේ දේවල් දකින්න පුළුවන්. නටඹුන් කියන්නෙ පෙර හොඳට තිබිල ටිකෙන් ටික ගෙවිල වැනසිලා දැන් ඉතිරි වෙලා තියෙන කොටස්. ලස්සන තැන්, ලස්සන දේවල්, විස්මිත ගොඩනැගිලි වගේ දැන් හොඳට තියෙන ඒවත්, අර නටඹුන් වගේ අනාගත දවසකදි ටිකෙන් ටික කැඩිල බිඳිල වැනසිලා ගිහින් තියෙනව දකින්න පුළුවන්. නොදැකපු තැන් කියල දැන් කිව්වට, මේ කොයි ඒවත් අනන්ත සසරෙ අනන්ත වාරයක් දැකල අද වගේම බලන්න ගියපු දේවල්මයි. දැක්ක බව අමතක වීම නිසා තමයි දැක්කෙ නෑ කියන්නෙ. පිරිස එකතු වෙලා කාල බීල විනෝද වෙලා ආවත්, වෙහෙසයි මතක රූප ගොඩකුයි ඇරෙන්න වෙන ඉතුරු වෙච්ච දෙයක් නෑ. මමත් දැකල තියෙනව කියල මැරෙන තුරු සිහි කර කර සංඛාර ගොඩ නගන්න පුළුවන්. නමුත් මළාට පස්සෙ ඒ මතක මුකුත් ඉතුරු නෑ. ගොඩ ගහගත්තෙ රාග, ද්වේශ, මෝහ සංඛාර ගොඩක්. මේ පුංචි උදාහරණයක් විතරයි. ඔය විදියට ධර්මානුකූලව හොඳ නරක, වැඩ අවැඩ තේරුම් අරගෙන, සාමය සතුට, නිවීම සැනසීම ලැබෙන ගමනට පළවෙනි තැන දෙන්න ඕන, අග්‍ර කරන්න ඕන.

බුදු දහම කියන්නෙ මෙලොව අභිවෘද්ධිය, පරලොව සුගතිය, නිවන කියන තුන් අභිවෘද්ධියම සඳහා මග පෙන්වන දහමක්. මේ ජීවිතය නිවන කරා යොමු වෙන විදියට ගිහි ජීවිතය ගත කරන්න ඕන පිළිවෙල මහා මංගල සූත්‍රයෙන් දේශනා කරල තියෙනවා. පළවෙනි කාරණය අසේවනාච බාලානං ... බාලයින් ඇසුරු නොකරන්න කියන කාරණය. මෙතන බාල කියන්නෙ සත් ධර්මය නොදන්නා අයට. වයස අවුරුදු හැට හැත්තෑවක් වුනත් සතුන් මරන, සොරකම් කරන, වැරදි කාම සේවනයේ යෙදෙන... ආදී වශයෙන් දස අකුසල් කරන, කරවන, ඒවාට අනුබල දෙන, ☞

දස අකුසල් කිරීම යහපතැයි කියල වර්ණනා කරන පිරිස බාලයි. ඒ අය ඇසුරු කිරීමෙන් වලකින්න ඕන. නමුත් ඒ වගේ පිරිස් සමාජයේ බොහෝ කොටම ඉන්නවා. ඒ නිසා 100% ක්ම ඇසුරු නොකර ඉන්න බෑ. ඒ අයගෙ චරියා රටාව දැනගෙන තමන් ඒ රටාවට හැඩ නොගැසී, ගැටුම් ඇති කර නොගෙන, එදිනෙදා අවශ්‍ය කටයුතු කර ගැනීම තමයි කළ යුතු වෙන්නෙ. එදා හිටපු බුද්ධ ශ්‍රාවක පිරිසත් අන්‍ය තීර්ථක ආරාමවලට වැඩල තියෙනවා. එහෙම වැඩල ඒ අයටත් යහපතක් කරල දුන්න මිසක්, තමන් යාග හෝම බිලි පූජා තියන්න ගියේ නෑ.

ඊළඟ මංගල කාරණය තමයි පණ්ඩිතානංච සේවනා... කියන්නෙ. නමුත් අද පණ්ඩිතය කියල කියන්නෙ කාටද? පොත පත කියවල විශාරද දැනුමක් ලබාගත් පිරිසට තමයි අද පණ්ඩිත කියන්නෙ. ඒ වගේම කාගෙවත් බහකට නොනැමෙන, තමන් ගත් මතයේ ස්ථිරව ඉන්න අයටත් පණ්ඩිත කියල කියනවා. ඒ දෙපිරිසම බොහෝ දුරට මේ ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ වශයෙන් දැකල නෑ. ඒ වගේම සිවු අරිසස් (චතුරාර්ය සත්‍යය) දැකල නෑ. මේ දෙක නොදැකම තමයි තමන්ගෙ මතයෙ ඉන්නෙ. නමුත් සැබෑ පණ්ඩිතයා මේ දහම දැකල, දැනගෙන තමයි තමන්ගෙ මතයෙම ඉන්නෙ. ධර්මානුකූලව ලෝකෙ හරි වැරදි තෝරගන්න න්‍යාය ධර්මය ගැන අවබෝධයක් තියෙන නිසා, ඒ පුද්ගලය කවුරුවත් කියන දේට නැමෙන්න ඕන නෑ. ඒ නිසා බාල පණ්ඩිතකමයි, සැබෑ පණ්ඩිතකමයි හොඳින් වටහා ගෙන තමයි පණ්ඩිතානංච සේවනා කියන මංගල කරුණ ජීවිතයට ළංකර ගන්න ඕන. සද්ධර්මය දන්න කෙනා පණ්ඩිත ඇසුරෙන් කළ යුතු, නොකළ යුතු දේ නිවැරදිව දැනගන්නවා.

පූජාච පූජනීයානං.... පිදිය යුත්තන් පිදීම. පිදිය යුත්තන් කවුද, පුදන්න ඕන මොනවද කියල තෝරල බේරල දැනගන්න ඕන. ''අග්ගෝ හමස්මි ලෝකස්ස - ජෙට්ඨෝ හමස්මි ලෝකස්ස - සෙට්ඨෝ හමස්මි ලෝකස්ස.... කියල සීහ නාද පවත්වපු තුන් ලොවටම අග්‍ර වූ, දෙටු වූ, ශ්‍රේෂ්ඨ වූ බුදු පියාණන් වහන්සේ තමයි පිදිය යුත්තන් අතර අග්‍රතම වෙන්නෙ. උන්වහන්සේ තමයි අපට භය හතර දැනගෙන, දැකගෙන කියල දුන්නෙ. කියල දුන්න විතරක් නෙවෙයි හතරට (හතර අපායට) නොවැටී භයට (දිව්‍ය ලෝක භයට) යන මගක් කියල දුන්නා. භයට ගියත් සදාකාලික නැති නිසා භය හතරෙනුත් එතෙර වෙලා, අරි අටඟි මග පුරල නිවන් දකින හැටිත් කියල දුන්නා. උන්වහන්සේ පිරිනිවන් පැවත් මේ මග නිවැරදිව, පිරිසිදුව රැකගෙන ලෝකයාට දෙන්න මහා කරුණාවෙන් ආර්ය මහා සංඝ පරම්පරාවක් මේ ලෝකෙ පිහිටෙව්වා. මෙන්න මේ බුද්ධ රත්නය, ධම් රත්නය, සංඝ රත්නය පිදිය යුත්තන් අතර අග්‍රයි, ශ්‍රේෂ්ඨයි. මේ ත්‍රිවිධ රත්නයට උපහාර පුද පූජා පවත්වන්න ඕන.

ඊළඟට තමන්ට මේ තැනට උතුම් මනුස්සයෙක් හැටියට එන්න උදව් උපකාර කරපු මවු පිය දෙපළ, අසල්වැසි ඥාති හිතමිත්‍රාදීන්, ශිල්ප ශාස්ත්‍ර දුන් ගුරු මෑණි පියවරුන්, රැකියා ජීවනෝපාය ක්‍රම සකස් කර දුන් පිරිස, ලෙඩට දුකට ඇප උපස්ථාන කරපු පිරිස.... ආදී වශයෙන් කොටසක් ඉන්නවා. ගම්බිම්, කෙත් වතු, වැව් පොකුණු, ගංගා ආදියට අධිගෘහිත දෙව් දේවතාදීන් ඉන්නවා. ඒ වගේම පෙර සසරෙදි අපට උපකාර කළත්, ධර්මානුකූලව ඒ ජීවිත ගත නොකිරීම නිසා ව්‍යසනයට වැටිල දුගී මගී යාචකාදීන් වගේම සමහර අය අමනුස්ස ලෝකවලත් ඉන්න පුළුවන්. ඒ ඒ අයට සුදුසු විදියට දන් පැන් දීම, පින් අනුමෝදන් කිරීම වගේ දේවල් කරන්න ඕන.

මේ දේවල් එදිනෙදා ජීවිතයෙදි ගැටළු මතුවෙන වෙලාවට සිහි කර ගන්න ඕන. උදාහරණයක් හැටියට කාර්යාලයක හැමෝම එක වගේ නෑ. තමන්ට පාඩුවේ වැඩ කර ගෙන ඉන්න දෙන්නෙ නැති අය ඉන්න පුළුවන්. බණ නම් නිබොරුය මුනිවරයන් නේ.... එතකොට මේ අයට පෙර සසරෙදි තමන් අතින් යම් වරදක්, අසාධාරණයක් සිද්ධ වෙලා ඇති, ඒ නිසා තමයි විපාකයක් ඇවිත් තියෙන්නෙ, ඒ නිසා ඉවසීමෙන්, කරුණාවෙන් ඒ අයට මෙත් වඩනවා. කාටවත් ඇහෙන්න ජේන්න නෙවෙයි, හිතෙන්. තමන් හොඳයි, අහවලා නරකයි කියල හිතන්න හොඳ නෑ. අනන්ත සසරෙ අපි හොඳ වුනා නම් මේ වෙන කොට නිවන් දැකල තියෙන්න ඕන. ''මම වැරදි කරල ඒවායේ විපාක හැටියට අනන්ත කාලයක් දුක් විඳල තමයි මගේ වරද, වරද හැටියට පෙනිල තියෙන්නෙ. මං හොඳ වුනේ එහෙමයි. අනේ ඒ අයටත් වරද, වරද හැටියට පෙනේවා! සසර දුකෙන් මිදේවා!'' මෙහෙම හිතල අවංකව කරුණු දැනගෙන, තේරුම් අරගෙන මෙත් වඩන්න ඕන. එතකොට පළමුව තමන් නිවෙනවා. තමන් නිවිල නම්, කවුරු පත්තු කරන්න හැදුවත් පත්තු වෙන්නෙ නෑ. දහමින් සිසිල් වීම කොයි තරම් ශාන්තද, ප්‍රණීතද? තරහ යටපත් කර ගෙන හිටියට කවදාවත් මේ සිසිල දැනෙන්නෙ නෑ. ඒකත් සිහිකර ගන්න ඕන. කේන්ති එන අරමුණක් ආවම ඒක අමතක කරල බුදු ගුණ වඩන්න හෝ මෙත් වඩන්න හෝ තමයි අද බොදු මග කියල අපි දැනුවත් වෙලා තියෙන්නෙ. බුදු ගුණ අනන්ත නිසා ඒ වචන පවා ශබ්ද කරන කොට නැගෙන ශක්තියෙන්, ප්‍රශ්නය ඒ වෙලාවට සමනය වෙලා මග ඇරෙන්නත් පුළුවන්. නමුත් ඒක තාවකාලිකයි. මොකද තමන්ගෙ හිත නිවිල නැති නිසා. නමුත් වරද, වරද හැටියට තේරුම් අරගෙන, කර්ම විපාක හරි විදියට වටහා ගෙන හිත නිවා ගත්තම ඒ නිවීම ශාන්තයි, ප්‍රණීතයි. ඒ වැඩ පිළිවෙල තමයි සැඟවුන බොදු මග කියන්නෙ.

වැරදි කරන සමාජයක් ඇසුරෙ එහෙම ජීවත් වෙන්න අමාරුයි කියල තමයි බොහෝ දෙනෙකුට හිතෙන්නෙ. බුදුන් වහන්සේ ජීවමාන කාලෙත් සමාජය මේ වගේ තමයි. මතුවටත් මේ වගේ තමයි. බුදු බණ එදාටත්, අදටත්, මතුවටත් නිවැරදි මග පෙන්වන දහමක්. නිය පිටට ගත් පස් පිඩක් පෙන්වල, මේ මනුස්ස වෙලා ඉපදිලා ඉන්න පිරිස අතරින් මහ පොළොවෙ පස් තරම් ප්‍රමාණයක් මරණයෙන් මතු යන්නෙ සතර අපායට, නිය සිලේ තියෙන පස් තරම් නොගිණිය හැකි සුළු පිරිසක් තමයි සුගතිගාමී වෙන්නෙ කියල බුදුන් වහන්සේ දේශනා කළේ එදා සමාජයත් මේ වගේ නිසා තමයි.

ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල, සසර ගමන කැමති සේ නෑ දුකයි, අසාරයි කියල වැටහුනා නම්, නිතර කළණ මිතුරන් ඇසුරු කරන්න ඕන. පතිරූප දේස වාසෝච.... කිච්චෙ එබඳු අය ඇසුරට පහසුකම් තියෙන, ඒ වගේම තමන්ගෙ ජීවන වෘත්තියට පහසු ප්‍රදේශයක් වාසයට තෝර ගන්න කියන එක. සම්මත බෞද්ධකම විතරක් මදි. උත්තම ගුණ තියෙන, සත්පුරුෂ ජීවිත ගත කරන, සද්ධර්මය අගය කරන, ත්‍රිවිධ රත්නය ගරු කරන, පුදන පිරිසක් තමයි ඇසුරු කරන්න ඕන. අදට වැඩිය එදා දහම තුළ ජීවිතය පවත්වාගෙන ගිය පිරිසක් හිටියා. ඒ පිරිස මහා මංගල සූත්‍රයේ බුදු උපදෙස් අනුව ජීවිත හැඩ ගසා ගත් ආකාරය හෙළ බොදු පියුම 4 වන කලාපයේ විස්තර කරල තියෙනවා. ඡන්ද රාගයෙන් තොරව, දැනුත් යහපත් ගිහි ජීවිතයක් ගත කරන්න කැමති පිරිසට ඒ මග අනුගමනය කරන්න පුළුවන්.

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික බැංකු නිලධාරිණී**
**කඩවත**

**අභයරතනාලංකාරය - 35**

# තිරිසන් වේසයෙන් ආ අමනුස්ස පිල්ලි ...



\- වහරක අභයරතනාලංකාර හිමි

*(පසුගිය කලාපයෙන් - ගුප්ත ලොවින් ආ මහ සොහොන් දිෂ්ටිය .......)*

ගුප්ත ලෝකයේ ඉන්න මහසොහොන් දිෂ්ටිය සම්බන්ධයෙන් මා ලබපු සත්‍ය අත්දැකීමක් මීට කලින් විස්තර කළා. දැන් මේ විස්තර කරන්නෙ මට අත්දකින්න ලැබිච්ච ඒ වගේ තවත් සිද්ධියක්. මේක සිද්ධ වුනේ මම මහණ වෙන්න පෙර ගිජිදාගම ඉන්න කාලෙ. ඒ කාලෙ මම එහේ නැවතිලා පූජා සෙත් ශාන්ති ආදී කටයුතු සිද්ධ කළා. ඒ කටයුතු සඳහා පන්සල් භූමියක් අසල නිවසක් තමයි යොදා ගත්තෙ. ඉතින් ඒ පන්සලේ ධර්ම ශාලාවෙත් මම කිහිප දවසක් නැවතිලා හිටියා. ඒ ඉන්න දවස්වල එතන හුඟක් ප්‍රශ්න තිබුණා. නමුත් ඒව පුද්ගලත්වයෙන් කියන එක ගැලපෙන්නෙ නැති නිසා, නම් ගම් නැතිව අදාල සිද්ධිය විතරයි මේ කියන්නෙ.

යම් කිසි පිරිසක් විසින් මොනව හරි පිල්ලි එවනව කියල මහසොහොන් පිල්ලිය බලු වෙසින් එවන ක්‍රමයක් තිබුණා. ඒ කියන්නෙ මේ මහසෝනට කර්ම විපාක ඍද්ධි තියෙන නිසා, කට්ටඩියො මන්ත්‍ර බලෙන් ජීවම් කරල බන්ධනය කරන කොට කැමති වෙසක් ඒ කර්ම විපාක ඍද්ධියෙන් මවා ගන්න පුළුවන්. ඒ පිල්ලිය යම් කිසි කෙනෙකුගෙ ඇඟට හපා කන්න, පනින්න යවන්න ඕන නම්, ඒ ගති ලක්ෂණය ගත්තම ඊට අනුව බලු වේසයක් වගේ රුවක් මවාගෙන එන්න පුළුවන්. ඒ වගේම කටුසු වේසයෙන්, නාග වේසයෙන් විවිධාකාර ක්‍රමවලට එවන්න පුළුවන්. ඒ විදියට කාළි පිල්ලිය බළල් වේසයෙන් එවන්න පුළුවන්.

ඉතින් තෙරුවන් ගුණ මුල් කර ගෙන, සෙත් ශාන්ති ආදී පූජා විධි මගින් මම පින්වත් පිරිසට යම් යම් කටයුතු සිද්ධ කරල දීම ගැන නොරිස්සපු කට්ටඩියන් කිහිප දෙනෙක් එකතු වෙලා, ඒ වගේ බලු පිල්ලියක් මටත් එව්වා. ඒ පිල්ලිය මම ළඟට එන කොට රෑ 2 ට විතර ඇති. ඒ වෙලාවෙ මම හොඳටම නිදාගෙන හිටියෙ. නමුත් කොහොම හරි ක්ෂණයකින් මට ඇහැරුණා. එහෙම පිල්ලියක් එන කොට කොච්චර තදින් නිදාගෙන හිටියත් භෞතික මස් ලේ කයත් ඇහැරෙනවා. මට මොනව හරි කරදරයක් වෙද්දි වේලාසනින් එහෙම දැනෙන්නත් හේතුවක් තියෙනවා. ඒ කියන්නෙ මුල් කාලෙ සමාධිය නැගෙන කොට යම් කිසි විදියකට කටයුතු ගැන හොයල බලන්න මම මනෝමය ආරක්ෂකයෙක් නිර්මාණය කරල තිබුණා. ඒක ඉස්සර ඉඳන්ම තියෙන දෙයක්. ඒ අවස්ථාවෙදි මගේම මනස පැත්තක ඉඳල සිද්ධ වෙන කටයුතු ගැන හොයල බලනවා. යම් කිසි කරදරයක් එන කොට ඒ මනෝමය සංඥාවෙන් තමයි මට ඇහැරවන්නෙ. මම ගිහි වතක ඉඳෙද්දි නම් ඒ මනෝමය ආරක්ෂකයා, මට අයියෙ කියල තමයි කතා කළේ. ඒ මමම මවපු කෙනා. එහෙම කතා කරල, අයියෙ මෙන්න මෙහෙම දෙයක් කියල ඒ සිද්ධිය කියනවා. නමුත් මහණ වුනාට පස්සෙ දැන් කතා කරන්නෙ හාමුදුරුවනේ කියල. ඔන්න ලොකු හාමුදුරුවනේ කියල එක පාරටම මොනව හරි වෙන්න තියෙන දෙයක් කියනවා. එතකොට මම වෙන අවධානයකින් හිටියත් මගේම කොටසක් තමයි මම ගැන බලන්නෙ. ඒ විදියට අවස්ථානුකූලව තමයි ඒ මනෝමය ආරක්ෂකයා ක්‍රියාත්මක වෙන්නෙ. මොනව හරි හදිසි අවස්ථාවකදි අවදි වෙන්න ඒ විදියට මනසට සංඥාවක් දෙනවා.

දැන් මේ ක්‍රමවේදය මොකක්ද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. මනෝමය ඍද්ධි, ඍද්ධිවිධ, දිබ්බ චක්ඛු, දිබ්බ සෝත, පරචිත්ත විජානන, පූර්වේනිවාසානුස්සති, චුතූපපාත, ආසවක්ෂය කියල ඥාන ක්‍රමයක් තියෙනවා. මෙතනින් මනෝමය ඍද්ධි තමයි මූලික අවස්ථාව. ඉස්සෙල්ලම ඒ ක්‍රමය ප්‍රගුණ කළාම තමයි දෙවෙනියට ඍද්ධිවිධ පහළ වෙන්නෙ. ඊළඟට පියවරෙන් පියවර දිබ්බ චක්ඛු, දිබ්බ සෝත ... ආදී වශයෙන් ඒ හැකියාවන් ලැබෙනවා. එතනදි මනෝමය ඍද්ධි 1% ක් ප්‍රගුණ කළ කෙනාට ඍද්ධිවිධ ඇතුළු අනෙක් ඥානත් 1% ක් ප්‍රගුණ වෙනවා. ඒ වගේම ඍද්ධිවිධ 1% ක් ප්‍රගුණ කළ කෙනාට දිබ්බ චක්ඛු ඇතුළු අනෙක් ඥානත් 1% ක් ප්‍රගුණ වෙනවා. මේ විදියට එකින් එකට ඒ හැකියාවන් ලබන ක්‍රමයක් තියෙනවා. නමුත් සමහරවිට කර්ම වේගයක් තිබුණොත් මේවායින් එකක් හෝ කිහිපයක් දුර්වල වෙන්න පුළුවන්. මෙතනදි ඉස්සෙල්ලම මනෝමය ඍද්ධි සුළු මාත්‍රයක් ප්‍රගුණ කරල තමයි මම වැඩේ පටන් ගත්තෙ. ඒකට ඉතින් යම්කිසි ශක්තියක් තියෙන්නත් ඕන. නිකම්ම කරන්නත් බෑ. ඉතින් මම ඒ ශක්තිය අරගෙන තමයි පළවෙනි මනෝමය රූපය මැව්වෙ. ඒ තමයි මනෝමය ගුරුවරයා. (මේ පිළිබඳ විස්තරයක් 8 වන කලාපයේ අභයරතනාලංකාරය තුළින් ඉදිරිපත් කළා) ඊළඟට දෙවනුව තමයි අර කියපු මනෝමය ආරක්ෂකයා මැව්වෙ.

දැන් මේ ක්‍රමවේදය බුදුන් වහන්සෙත් අනුගමනය කරල තියෙනවා. උන්වහන්සේට ඒ හැකියාවන් උපරිමයෙන්ම තිබුණා. උන්වහන්සේ නිර්මිත රූපයක් මවාගෙන රුවන් සක්මනේ සක්මන් කළයි කියන්නෙත් ඔය ක්‍රමයට. එතනදි නිර්මිත බුදුන් වහන්සේ ප්‍රශ්න අහනකොට බුදුන් වහන්සේ උත්තර දෙනවා. නැවතත් බුදුන් වහන්සේ ප්‍රශ්න අහනකොට නිර්මිත බුදුන් වහන්සේ උත්තර දෙනවා. ඒ විදියට මනෝමය ඍද්ධියයි, ඍද්ධිවිධයි දෙකම සම්බන්ධ කරල තමයි ඒ අවස්ථාවෙදි උන්වහන්සේගෙ මනස දෙයාකාරයකින් ක්‍රියා කළේ. මනෝමය ඍද්ධියෙන් නිර්මිත රූපය මවනවා. ඍද්ධිවිධවලින් ඒක විද්‍යමාන කරනවා. එතකොට පිටින් බලන කෙනෙකුට පේන්නෙ එක වගේ ලොව්තුරා බුදුන් වහන්සේලා දෙනමක් පහළ වෙලා ඉන්නව කියල. නමුත් එක බුදුන් වහන්සේ නමයි.

ඉතින් මේ හා සමාන ක්‍රමයක් අනුගමනය කරල තමයි මමත් මුලින්ම මනෝමය පුද්ගලයෙක් මැව්වෙ. ඒ මනෝමය ආරක්ෂකයා තවමත් ඉන්නවා. මට අවශ්‍ය නම් ඒක නැති කරන්නත් පුළුවන්. නමුත් එහෙම අවශ්‍යතාවයක් නෑ. යම් කිසි විදියකින් එහෙම රූපයක් මවල තිව්වොත් අධිෂ්ඨාන කරපු විදියට ඒක සැහෙන කාලයක් තියෙනවා. හරියට සාමාන්‍යයෙන් අපි දකින තරුණ මනුස්සයෙක්ගෙ ස්වභාවයමයි ඒ නිර්මිත රූපයට තියෙන්නෙත්. මගේ සහෝදරයෙක් වගේ මේ ජීවිතේ තියෙන තුරාවට ඒ නිර්මිත ආරක්ෂකයා පස්සෙන් ඉන්නවා. එතකොට මේ නිර්මාණය කරන රුව මනෝවශීකෘත භාවයෙන් යුක්තයි. ඒ වගේම අවශ්‍ය නම් ඒක රූපයක් විදියට නිර්මාණය කරල මස් ලේ ඇහින්ම බලන්න පුළුවන්. එහෙම නැත්නම් සංඥාව විතරක් එන විදියට නිර්මාණය කරන්නත් පුළුවන්. මුලින්ම මවපු කෙනා රූපයෙන් තමයි මැව්වෙ. නමුත් මම ඒ රූපය ගැන නොහිතා නිර්මිත රුවේ සංඥාව ගැන විතරක් හිත තියන්න පටන් ගත්තම, සංඥාව විතරක් ඔහුගෙන් ලැබෙනවා. එතකොට පුද්ගලයෙක් පේන්න නෑ, නමුත් කතා කරන හඬ ඇහෙනවා. කොහේ හිටියත් ඒ සංඥාව ලැබෙනවා. ඕන නම් නැවතත් රූපයෙන් බලන්නත් පුළුවන්. නමුත් ඒක ටිකක් භයානකයි. මොකද ඒ නිර්මිත පුද්ගලයා බාහිර සමාජයට පේන්න ආවොත් එහෙම විවිධාකාර ප්‍රශ්න එන්න පුළුවන්. සෘද්ධියක් විදියට නැගෙනකොට ඒ ගැටළුව එන්න පුළුවන්.

ඒ වගේ කර්ම විපාක සෘද්ධියකින් වෙච්ච අකරතැබ්බයක් ඉස්සර වැඩ හිටපු එක්තරා භික්ෂූන් වහන්සේ නමකටත් සිද්ධ වෙලා තියෙනවා. ඒ කියන්නෙ කර්ම ශක්තියෙන් දිව්‍යාංගනාවක් වගේ ස්ත්‍රියක් මැවිල උන්වහන්සේ පිටුපස එන්න පටන් ගත්තා. නමුත් ඒ නිර්මිත ස්ත්‍රී රුව බාහිර සමාජයේ අයට පෙනුනට මේ භික්ෂූන් වහන්සේට පේන්නෙ නෑ. ඒකත් කර්ම විපාකයක්. ඒ කියන්නෙ උන්වහන්සේ පෙර දේවතාවෙක් වෙලා හිටපු අත්බැවක, එක්තරා භික්ෂූන් වහන්සේලා දෙනමකගෙ සමගිය පරීක්ෂා කරල බලන්න, ඒ තිබුණෙ සීල සමගියක්ද, වෙනත් සමගියක්ද කියල බලන්න කරපු නොගැලපෙන පරීක්ෂණයක ප්‍රතිවිපාකයක්. ඉතින් ඒ කාලෙ අද වගේ වැසිකිළි බහුල නෑ. උන්වහන්සේලා වැඩ හිටපු කුටිය අසල තිබ්බ්ච කැලෑවක් තමයි ඒකට පාවිච්චි කළේ. එක් භික්ෂූන් වහන්සේ නමක් ඔය කැලෑවට ගිහින් එන අතරෙ මේ දේවතාව මොකද කළේ, අනෙක් භික්ෂූන් වහන්සේට පේන්න ලස්සන ස්ත්‍රියක් මවල අර කැලේට ගිහින් එන භික්ෂූන් වහන්සේ ළඟින් තියල වට පිට බලල පැනල යන අවස්ථාවක් මැව්වා. දැන් මේ කුටියෙ හිටපු භික්ෂූන් වහන්සේ හිතුවෙ, අර කැලේට ගිය භික්ෂූන් වහන්සේත් එක්ක ස්ත්‍රියක් ඉඳල පැනල ගියා කියල. ඊට පස්සෙ මොකද වුනේ ''මේක මහ දුස්සීලයෙක්, අසත් පුරුෂයෙක්, පාරාජිකයි, මම නම් ආයෙත් මොහුත් එක්ක වචනයක්වත් කතා කරන්නෙත් නෑ, සම්බන්ධ වෙන්නෙත් නෑ'' ආදී වශයෙන් අර භික්ෂූන් වහන්සේට දොස් කියල අනිත් භික්ෂූන් වහන්සේ සම්පූර්ණයෙන්ම අමනාප වුණා.

දැන් ඉතින් අර භික්ෂූන් වහන්සේ මේ මොකවත් දැක්කෙත් නෑ, දන්නෙත් නෑ. ඉතින් ඇයි අමනාප මං මොනව කළාටද කියල ඇහුවා. මගෙන්ද අහන්නෙ? මං දන්නෙ නෑ කියල හිතුවද? මේ විදිහට අර භික්ෂූන් වහන්සේ තරහින් උත්තර දුන්නා.



දැන් ඉතින් මේ සිද්ධියට මුහුණපාපු භික්ෂූන් වහන්සේ අහස පොළව දන්නෙ නැතිව මේ මොකක්ද වෙන්නෙ කියල කල්පනා කරනවා. ඊට පස්සෙ අර දේවතාව දැනගත්තා, මේ දෙන්න වික්ෂිප්ත වෙන්න ගියා, මේ දෙන්න අතර තිබිල තියෙන්නෙ සීල සමගියක් තමයි කියල. නමුත් ඉතින් මහා භයානක පරීක්ෂණයක් තමයි කළේ. ඒ නිසා මේ දේවතාව නැවතත් ඇවිත් අර අමනාප වෙච්ච භික්ෂූන් වහන්සේ ඉදිරියේ පෙනී ඉඳල කියනවා, ස්වාමීනි ඒ ස්ත්‍රියක් නෙවෙයි, ඔබ වහන්සේලා දෙනම පරීක්ෂා කරන්න මමයි ඒ රූපය මැව්වෙ කියල. නමුත් මේ භික්ෂූන් වහන්සේ ඒක පිළිගත්තෙ නෑ. මේ වගේ දුස්සීලයොත් එක්ක එකතු කරල මාරයාටත් පුළුවන් මගේ සීලය කඩන්න, උඹ මේ මාරයගෙ පාක්ෂිකයෙක් වෙන්නත් පුළුවන්, උඹ මාරයා වෙන්නත් පුළුවන්, මං පිළිගන්නෙ නෑ උඹ ඔහොම දෙයක් කළා කියල, මේ දුස්සීලයගෙ දුස්සීලකමට මාවත් කොටු කරන්න උඹත් ඒකට පැත්ත අල්ලන්න එනවා, උඹල දෙන්නම පලයන් ... මේ ආදී වශයෙන් උන්වහන්සේ මේ දේවතාවටත් දොස් කියන්න පටන් ගත්තා. අප්පොච්චියේ මං කරගත්ත පාපෙක හැටි කියල දේවතාවා මුලා පරීක්ෂණයක් කරන්න ගිහින් වික්ෂිප්ත වෙලා ඒ පාපෙන් අපාගත වුණා. ඊට පස්සෙ අත්බැවකදී නැවතත් මනුස්සයෙක් වෙලා ඉපදිලා ගෞතම බුද්ධ සාසනයේ පැවිදි වුණා. අර කලින් කරගත්තු පාපයේ ශේෂ මාත්‍රයක් ඉතිරිවෙලා තමයි පැවිදි වෙලා නැවතත් අර විදිහට විපාක විඳින්න සිද්ධ වුනේ. දැන් ඉතින් උන්වහන්සේ පිංඩපාතෙ වඩිනකොට ඒ නිර්මිත ස්ත්‍රී රුව පිටුපසින් ආවත් උන්වහන්සේට පේන්නෙ නෑ, වටේ ඉන්න මිනිස්සුන්ට පේනවා. ඉතින් මිනිස්සු දොස් කියන්න පටන් ගත්තා, අපි නම් දන් දෙන්නෙ හාමුදුරුවන්ට විතරයි, මේ ස්ත්‍රීන් තියාගෙන ඉන්න අයට දන් දෙන්නෙ නෑ ආදී වශයෙන්. අර විපාකය එච්චර බලවත්.

මෙන්න මේ වගේ මනෝමය පුද්ගලයෙක් මොන විදිහට මැව්වත්, මැවිනත් ඒක බලවත් වුනොත් ඔය විදිහට පේන්න ගන්න පුළුවන්. (මේ හා සමාන සිද්ධියක් 20 වන කලාපයේ අභයරතනාලංකාරය තුලින් ඉදිරිපත් කළා.) එතකොට මිනිස්සු භය වෙන්න පුළුවන්. ඒ නිසා තමයි මමත් ඒ කාලෙ ඉඳන්ම ඒ මනෝමය ආරක්ෂකයා පේන්න පැමිණීම අඩු කරල සංඥාව විතරක් ගත්තෙ. දැනුත් ඒ සංඥාව ඕන නම් ගන්න පුළුවන්. මගේ කටහඬ වගේම කටහඬක් තමයි ඒ සංඥාවෙන් එන්නෙ. ඒ හඬත් මට අඳුන ගන්න පුළුවන්. වෙන කෙනෙක් ඒ හඬින් කතා කරන්න ආවොත් ඒ වෙනසත් මට දැනගන්න පුළුවන්. විශේෂයෙන් මේ මනෝමය ආරක්ෂකයා ඒ කාලෙ මම බෙහෙත් වර්ග ලියනකොට හුඟක් උදව් කරනවා. බැරි වෙලාවත් ඒ වගේ වෙලාවක ගුප්ත ලෝකයේ ඉඳන් වෙන කවුරුහරි අදහසක් දුන්නොත්, අයියෙ ඔය වෙන කෙනෙක් අදහස් එවන්නෙ ඕක ලියන්න එපා කියල ක්ෂණයකින් දැනුම් දෙනවා. ඉතින් ඒ කටහඬ අදත් මට අඳුන ගන්න පුළුවන්. ඒ නිසා මාව රවට්ටන්න බෑ. මේක මම මුල් කාලෙ ගත්තු ප්‍රයෝග සම්පත්තියක්.

දැන් එතකොට මේ ක්‍රමය නිසා අර පිල්ලිය එවද්දිත් ඒක මට දැනෙනවා. එතකොට මස් ලේ කයත් ක්‍රියාත්මක වෙනවා. හැබැයි කිරණ කය (මනෝමය කය) ක්‍රියාත්මක වෙන කොට බාහිර පරිසරය දකින නිසා මොනව හරි කරදරයක් වෙද්දි මම නින්දෙන් ක්ෂණයකින් අවදි වෙනවා. මොකද මස්

ලේ කයට පිල්ලි එව්වට කිරණමය කයට ඒ වගේ පිල්ලි එවන්න බෑ. ඒ නිසා ඒ උදවිය ඒව එවන්නෙ මට හොඳට නින්ද ගිය වෙලාවක් බලල. මොකද එහෙම නැත්නම් මම ක්‍රියාත්මක වෙනව කියල ඒ අය දන්නවා. ඒ වගේ වෙලාවට මගේ චිත්ත කිරණ ක්‍රියාත්මක වුනොත් මට ඒක වදින්නෙ නෑ. ඒ කාරණයත් ඒ අය දන්න නිසා මට හොඳට නින්ද යන වෙලාවක් බලල තමයි මේ පිල්ලි එවන්නෙ. නිදා ගෙන ඉන්නවද නැද්ද කියල අඳුන්වලින් බලන්න පුළුවන් ක්‍රම තියෙනවා. අන්න ඒ විදියට බලල තමයි ඒ අය මේ පිල්ලිය එව්වෙ.

හැබැයි ඒක එවනවත් එක්කම මට ඇහැරුණා. දැන් මට පේනවා ඇතින් එහෙම පිල්ලියක් එනවා. ඇත්තම බල්ලෙක් එනව වගේ ආකාසයෙන් මැව්ච්ච පාරක තමයි ඒ බලු පිල්ලිය දුව ගෙන ආවෙ. දොර වහල තිබුණත් හරියට විවෘත කරපු දොරක් වගේ තමයි කිසි ගානක් නැතිව ලෑල්ල අස්සෙන් ආවෙ. ඒ බලු පිල්ලිය ඒ විදියට දුව ගෙන ආපු ගමන් මගේ ඇඟ වටා කැරකෙන්න පටන් ගත්තා. එතකොට මගේ අත් දෙකයි, කකුල් දෙකයි බඹරෙ වගේ ප්‍රකෘති සිහියෙන්ම කැරකුණා. ඒ කියන්නෙ මම උඩු අතට නිදා ගෙන ඉන්න කොට අත් දෙකයි, කකුල් දෙකයි ඉස්සිලා රවුමට රවුමට කැරකෙන්න ගත්තා. ඒ කැරකෙන කොට වටේට කිරණ වළල්ලක් විහිදෙනවා. ඒක ක්ෂණිකව ක්‍රියාත්මක වෙච්ච ආරක්ෂක උපක්‍රමයක්. ඒ ක්‍රියාවලිය මටවත් හිතාගන්න බෑ. හදිසි අනතුරක් වෙන්න ආවොත් මම නොහිතම ඒ වගේ ක්ෂණික ක්‍රියාකාරීත්වයක් එනවා. ඒ අනතුරින් බේරෙන්න තමයි එහෙම වෙන්නෙ. හොඳට පැහැදිලිව යන එන වෙලාවක එහෙම අනතුරක් වෙන්න ආවත් ඒක ක්‍රියාත්මක වෙනවා.

ඉතින් මේ අවස්ථාවෙදිත් ඒ වගේ දෙයක් තමයි සිද්ධ වුණේ. ඒ වෙලාවෙ මම ඇහැරිලා හිටියෙ. අත් දෙකයි කකුල් දෙකයි කැරකෙන කොට මට නිකං දැනෙනව සුළි හතරක් යනව වගේ. මොකද ඒ විහිදෙන කිරණ සුළි වශයෙන් තමයි විහිදෙන්නෙ. ඒ නිසා ඒ බලු පිල්ලිය ආපු වේගයෙන් මාව හපන්න බැරි වුණා. අන්තිමට ඇඟ වටේ කැරකිලා ගිහින් තමයි ඒ බලු පිල්ලිය මගේ පපුවට පැන්නෙ. හරියට ඇත්ත (ස්වභාවික) බල්ලෙක් පැන්න ගාණටම මට ඒ අවස්ථාවෙ දැනුණා. හැබැයි ඌට දත් තිබුණට කට අරින්න බැරුව හිර වෙච්ච බවත් මට දැනුනා. මොකද අර කිරණ වලල්ල ක්‍රියාත්මක වෙච්ච නිසා. එතකොට මේ බලු පිල්ලිය එව්වෙ මාව හපල යන්න. මොකද ඇට කැබලි, රීරි මාංස කාපන්, ලේ බීපන්.... ආදී වශයෙන් අණ කරල අමනුස්සයෙක් බන්ධනය කරල වින කරන්න තමයි මේ වගේ පිල්ලි එවන්නෙ. අණ වින කියන්නෙත් ඒකයි. ඉතින් එහෙම හපල ගියා නම් ලෙඩෙක් වෙලා මැරෙනවා. මොකද හැපුවට පස්සෙ මොකද වුනේ කියලවත් දන්නෙ නෑ. ඒ කියන්නෙ ඒ සිද්ධිය මොකක්ද කියල තෝර ගන්න බෑ. සමහර විට හිටි ගමන් රෝගයක් හැදෙනවා. දැන් මේ බලු වේසයෙන් ආපු පිල්ලිය මාව හපන්න පැන්නත් මගේ කිරණ කය ක්‍රියාත්මක වීම නිසා ඒ කිරණ පාර වදින කොටම හපන්න බැරිව අහකට පැන්නා. ඊට පස්සෙ නැට්ට අකුල ගෙන පිල්ලිය එව්ව තැනටම දිව්වා. ඒ ගිය දිහාව අනුව කොහේ හරි ළඟපාත තැනක ඉඳන් තමයි එවල තිබුණෙ.

ඒ විදියට දුවල ගිය හැටිත් මට මනෝමය වශයෙන් පෙනුණා. ඊට පස්සෙ මම පැදුරෙන් නැගිට්ටා. ඒ වෙලාවෙ සැහෙන බයකුත් ආවා. කෑ ගහන්න තරම් බයක් නැතිවට එක්තරා කම්පනයක් ආවා. දැන් මේ පිල්ලිය ආයෙත් එවයි කියල මට සැකයි. මම ඊට පස්සෙ මොකද කළේ, පේනුව (Switch) දාල බලන කොට විදුලිය තිබුනෙ නෑ. කොහොම හරි ඒ වෙලාවෙ විදුලි බලයත් ඇණ හිටල තිබුණෙ. ඊට පස්සෙ මම චිමිනි ලාම්පුවක් පත්තු කරන්න බැලුවම, ගහන ගහන ගිනි කූර නිවෙන්න ගත්තා. බොහොම අමාරුවෙන් ගිනි කූරු 4 - 5 ක් විතර ගහන කොට තමයි යන්තම් එකක් පත්තු වුණේ. ඒ විදියට ලාම්පුව පත්තු කරල, ඊළඟට මම කල්පනා කළා දැන් මොකද කරන්නෙ කියල.

ඊට පස්සෙ පිරිත් පොත අරගෙන හිමිහිට ආටානාටිය සූත්‍රය කියන්න පටන් ගත්තා. ඒත් එක්කම, ආරක්ෂාවට අපි ඉන්නවා බය නැතිව නිදා ගන්න කියල සද්දයක් ඇහුණා. ඒක දේවතාවෙක්ගෙ සම්බන්ධයෙන් වෙච්ච දෙයක්. ඊට පස්සෙ මම පිරිත් පොත තියල ලාම්පුවත් එහෙම්ම පත්තු වෙන්න ඇරල නිදා ගත්තා. එතනින් පස්සෙ මුකුත් ප්‍රශ්නයක් වුනේ නෑ. හැබැයි ඊට සතියකට විතර පස්සෙ ඒ පළාතෙ පන්සලක වැඩ හිටපු හාමුදුරු නමකටත් ඒ වගේම දෙයක් වුණා. උන් වහන්සේ දවසක් පන්සලේ ඇතුල් කාමරයක වැඩ ඉන්න කොට එක පාරටම බල්ලෙක් පැනල හපල තියෙනවා. හැබැයි බලන කොට බල්ල ආගිය අතක් නෑ. එතකොට මම හිතුවා, අර මට එවපු ජාතියේම පිල්ලියක් තමයි එවන්න ඇත්තෙ කියල. ඒ බලු පිල්ලිය උන් වහන්සේගෙ අත තමයි හපා කාල තිබුණෙ. බල්ලෙක් හැපුව කියල උන් වහන්සේ අනික් අයත් එක්ක කියල තිබුණා. නමුත් කොහේවත් එහෙම බල්ලෙක් හොයා ගන්න බැරි වුණා. අන්තිමට උන් වහන්සේට ජලභීතිකාව හැදිල රෝහල් ගත කළාම, දවස් 2 - 3 යි ගියේ උණ ගැනිල වෙව්ලන්න ගත්තා. ඊට පස්සෙ උන් වහන්සේ අපවත් වුණා. නමුත් එහෙම බල්ලෙක් පේන්න හිටියෙ නැති නිසා ඒක ඒ අය ගණන් ගත්තෙ නෑ. එතකොට මනෝමය වශයෙන් බලු වේසයෙන් එවපු පිල්ලියෙනුත් ජලභීතිකාව හැදුණා. ඒක මහ පුදුම දෙයක්.

ඉතින් අර කලින් කරපු සිද්ධියෙන් පස්සෙ ඒ හිර කරපු බන්ධනය මගේ ශරීරයේ තාමත් තියෙනවා. ඒ කියන්නෙ මේ පිල්ලියට සමගාමීව කරපු තවත් බන්ධනයක්. එතනදි කළු පාට දළ තියෙන අමනුස්සයෙක්ගෙ රූපයක් ඇඳල, කළු නූල්වලින් මතුරල ඒ රූපයේ තෝරා ගත්තු ස්ථාන හිර කරල ගැට ගහල තිබුණා. එහෙම ගැට ගහල ඒ කට්ටඩි වැඩ කරපු කෙනා ඉන්න තැන තියාගෙන තමයි ඒක ජීවම් කළේ. ඒ රූපයේ බෙල්ලට, පපුවට, අතට පයට, තුනටියට ආදී වශයෙන් හිර කරල ඇඟ හැම තැනම නූල්වලින් ගැට ගහල තිබුණෙ. ඒකට ජීවම් කර කර දුම් අල්ලන කොට මගේ ශරීරයෙත් ඊට අදාල ස්ථාන හිර වෙනවා. ඒ කියන්නෙ ඒ අමනුස්ස රූපෙ හිර කරල ගැට ගහපු තැන්වලට අනුරූපව මගේ ශරීරයෙත් ඒ ඒ ස්ථාන හිර වෙන්න, ගැට ගැහෙන්න පටන් ගත්තා. ඒ බන්ධනය මිටි වගේ හිර කරල තියෙන හැටි මට සමාධියට පේනවා. ඒ දවස්වල ඒක බොහොම තදේට තිබුණා. ඇඟට මොනව හරි බේතක් දැම්මත් ඒ හිර කිරීම තිබුණා. උදාහරණ විදියට බේතක් ගාල කනේ පුළුං කෑල්ලක් ගැහුවත්, ඒ පුළුං කෑල්ල මිරිකිලා හිර කරනවා. ඒකෙන් පෙන්වන්නෙ දෙන බේතක් අහන්නෙ නෑ, ප්‍රත්‍ය වෙන්නෙ නෑ කියන එක. ඒ තරම් මහ පුදුම බන්ධනයක්. ඒක පැහැදිලිවම පේනවා. හරියට ගෙවල්වල පොල් අතු බඳින කොට ඒ පොල් අතු මිටි එකට තියල බැඳල ගැට ගහල තියෙනව වගේ. ඒ වගේ පොල් කොළ මිටියක් මැදින් බැන්දම දෙපැත්තෙන් විසිරිලා මැද තදට හිර වෙලා තියෙනව වගේ තමයි මේ බන්ධනයත් හිර වෙලා තියෙන්නෙ. ඊට පස්සෙ ඒක ස්නායුවලට බැඳෙනවා. ඒ විදියට ශරීරයේ කොහේ හරි තැනක් බැඳිල වගේ දැනෙනවා. එතකොට ඇඟට විතරක් හිර කරල නෙවෙයි, අත් පා කකුල්, තුනටිය, බෙල්ල ආදී ස්ථානවලත් ඒ හිර කිරීම තියෙනවා. ඊට පස්සෙ ස්වභාවිකවත් ඒ හිරය එනවා.

දැන් ඒ බන්ධනය මගේ බෙල්ලටයි, තුනටියටයි, අත් දෙකටයි බැඳිල තිබුණා. ඒ සියල්ලම තිබුණෙ අර විදියට මිටි වගේ හිර වෙලා. බලන කොට එතන තන්තු වගේ බැඳිල. ඒකෙන් මුළු ස්නායු පද්ධතියම හිර වෙනවා. හිර වුනාම නිකං ඉන්න වෙලාවටත් ඒක භෞතික කයට දැනෙනවා. ඒ තමයි මේ බන්ධනවල ස්වභාවය.

ඉතින් ඊට පස්සෙ සමාධි ගත වෙන්න හදන කොටත් හිර වෙන්න පටන් ගන්නවා. විශේෂත්වය තියෙන්නෙ ඒ හිරවීම කිසිම නවීන යන්ත්‍රයකටවත් අහු වෙන්නෙ නෑ. ඒ තමයි ඒකෙ ස්වභාවය.

මේ වගේ තවත් සිද්ධියක් මම මහණ වෙලා ගෝනගල්දෙණිය පන්සලට ආපු අලුතත් සිද්ධ වුණා. එක දවසක් මම නිදාගෙන ඉන්න කොට, හිටි ගමන් දවල් 1 ට විතර තුනටිය ළඟ හිරවෙලා තියෙන තැනින් මොකක් හරි එළියට ඇවිත් එක පාරටම කළු බළලෙක් පැන්න වගේ මට දැනුණා. ඒ බැඳල හිටපු අමනුස්සයෙක්. බළල් ගන්ධබ්බ වෙසින් තමයි ආවෙ. ඒකත් අර වගේම මගේ මස් ලේ ඇහැට පෙනුණා. ඌ ඤාව් කියල හයියෙන් කෑ ගහගෙන පැන්නෙ මගේ බෙල්ලට. පැනල බෙල්ල ඇල්លුවා. ඒත් මම සද්ද නැතුව හිටියා. එවෙලෙම ඒ දර්ශනය දුරු වෙලා ඊට පස්සෙ ඒක ගණන් ගන්නෙ නැතිව චිත්ත ප්‍රසාදය ඇති කර ගෙන සමාධි ගත වෙලා හිටියා. හැබැයි එතනින් පස්සෙ ටික දවසක් ගියාම ඒ හිරය බෙල්ලට ආවා. ඒ බන්ධනය කරපු අමනුස්සය බෙල්ලෙ ඉඳගෙන එතනින් ලේ අදිනවා. ඊට පස්සෙ ඉතින් මම දස දිසා බන්ධන පිරිත, ජලනන්දන පිරිත කියල ඒකෙන් තෙල් සෙත් කරල අරගෙන පහන් පත්තු කරල යම් කිසි වැඩක් කළා. කරගන්න දෙයක් නැතිකමට මොනව හරි කරන්න ඕන නිසා තමයි එහෙම කළේ.

එතකොට මට පේනවා, ලොකු මදුරුවන්ගෙ ස්වභාවයට මනෝමය වශයෙන් අඩි 4 - 5 ක් විතර දිග බඩවල් තියෙන අමනුස්සයො මගේ බෙල්ලෙ එල්ලිලා ඉන්නවා. එතනදි තමයි දැක්කෙ උන් ලේ උගුරු 1000 ක් බිව්වොත් මගේ ඇඟේ එක ලේ උගුරක් අඩු වෙනව කියල. ඒ කියන්නෙ අපේ මස් ලේ කයට වඩා උන් 1 ට 1000 ක් සියුම්. උන් කවද හරි ලේ බෝතල් 1000 ක් බිව්වොත් මගේ ඇඟේ ලේ බෝතලයක් අඩු වෙනවා. එහෙම වෙලා අන්තිමට ඒක හොයන්න බැරි ලෙඩක් වෙනවා. දැන් මම පිරිත් බලෙන් සෙත් කරපු තෙල්වලින් ජීවම් කරන කොට තමයි ඒ අමනුස්සයො මදුරු වේසයෙන් ඉන්න බව දැනගත්තෙ. ඒ කියන්නෙ කලින් හිර වෙලා තිබ්ච්ච බව දැක්කට උන් ලේ උරනව කියල දැක්කෙ නෑ. අර විදියට සෙත් කරන කොට තමයි ඒ ස්වභාවය, ඒක සිද්ධ වෙන හැටි පැහැදිලිව දැක්කෙ. එහෙම වේසයෙන් ඉඳගෙන තමයි අර විදියට ශරීරයෙන් ලේ අදින්නෙ. හැබැයි උන්ට දැන් මගේ ශරීරයට විත ගහන්න බෑ. බෙල්ලට ගහන කොටම විත නැවෙනවා. ඒ නිසා කලින් බීපු ලේ ටිකක් විතරයි, අර ජීවම කළාට පස්සෙ උන්ට ලේ අදින්න බැරිව ගියා. මොකද ඒ ජීවමේ බලයෙන් මටත් සිද්ධි පිහිටියා. ඒ දවස්වල මගේ ඇඟේ හුඟක් ලේ අඩු වෙන්න පටන් ගෙන තිබුණා. පස්සෙ ඒක සමනය වුණා.

ඉතින් ඒ විදියට බලු පිල්ලි, බළල් පිල්ලි වගේ දේවල් මගේ ඇඟට ඒ කාලෙ එව්වා. ඒව, මම ගැන දන්න කියන අය කරපු දේවල්. අදත් මේ වගේ දේවල් අනන්තවත් සිද්ධ වෙනව ඇති. ඉතින් මට ඔය වගේ ගුප්ත දේවල් පේන නිසා මම ඒව දැක්කට, හුඟක් උදවියට එහෙම පේන්නෙ නෑ. ඒ නිසා ඒ වගේ අය නිකං බය වෙනවා, අමනුස්ස බයක් ආව කියල කියනව මිසක් වෙච්ච දෙයක් දන්නෙ නෑ. එක්කො ඒ වෙලාවට සිහි නැති වෙනවා. මම ඉතින් අවසිහි වෙන්නෙ නැති නිසා ඕක දකිනවා. නමුත් එහෙම නැති කෙනෙක් නම් ඒ වගේ වෙලාවට සිහි නැති වෙලා දත් ඇඳි පූට්ටු වෙලා මොනව හරි වෙනවා. අන්තිමට මානසික රෝගයක් කියල තමයි වෛද්‍යවරු නිගමනය කරන්නෙ. අර වගේ දෙයක් වුනයි කියල ඒ අය දන්නෙත් නෑ, විස්වාස කරන්නෙත් නෑ. ඉතින් මේ වගේ ආපු පිල්ලිවල, බන්ධනවල කාලයක ඉඳන් එවපු කොටස් තවමත් මගේ ශරීරයේ තියෙනවා. ඒව තවමත් ඉවර නෑ. නමුත් දැන් ඒවායේ බලය හුඟක් දුරට මගේ ශක්තියෙන්ම අඩු කරල තියෙන්නෙ. විශේෂයෙන් මට ඇති වෙච්ච රෝගවලටත් ඒ බලපෑම සම්බන්ධයි. මෙහෙම දේවල් මේ ලෝකෙ තියෙනව කියල දැන ගන්න තමයි මට වෙච්ච සිදුවීම් කිහිපයක් මේ විදියට හෙළිදරව් කළේ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලෙඩ රෝග සම්බන්ධයෙන් වැඩිදුර දැනුවත්වීම පිණිසයි.

පසුගිය 33 වන කලාපයෙන් ඉදිරිපත් කළ දියවැඩියාව සුව කරන ඖෂධ ප්‍රතිකාරය මාසයක පමණ කාලයක් ලබාගත යුතු බව සඳහන් කළත්, බොහෝ දෙනෙකුගේ ඉන්සියුලින් නිෂ්පාදනය යථා තත්ත්වයට පත් වීම සඳහා ඊටත් වඩා වැඩි කාලයක් ලබාගත යුතු වෙනවා. මොකද සමහර රෝගීන්ගෙ මාංශ ධාතුවට විතරක් වස විස කාවැදිල තිබුණොත් එහෙම ඉක්මනින් සුව වෙන්න පුළුවන් වුනත්, ඒ විස කාවැදීම තවත් තදේට තියේ නම් සමහරවිට කල් යන්න පුළුවන්. එතකොට මේ ඖෂධ තවත් කාලයක් ගන්න වෙනවා. ඒ නිසා මාසයක් පාවිච්චි කිරීමෙන් පසුව සීනි මට්ටම අඩු වුනත් ඉන්සියුලින් නිෂ්පාදනය කිරීම යථා තත්ත්වයට පත් වෙන්න නම් තවත් කාලයක් මේ බෙත ගන්න වෙනවා. ඒ විදියට යථා තත්ත්වයට පත් වුනාද නැද්ද කියල බලාගන්න පුළුවන් පරීක්ෂණ නවීන විද්‍යාවෙ තියෙනවා. ඒ වගේ ස්ථානයකින් ඒ බව පරීක්ෂා කර බැලීමෙන් අනතුරුව යථා තත්ත්වයට පත් වෙන කල් මේ ප්‍රතිකාරය ලබාගන්න ඕන.

ඒ වගේම දැන් බහුලව තියෙන දියවැඩියාව ඇතුළු බොහොමයක් රෝග වලට හේතුව වස විස කැවීම බවත් මීට පෙර සඳහන් කළා. එතකොට මේ බෙතෙන් කරන්නෙ ශරීරයට කාවැදිච්ච ඒ වස විස ඉවත් කිරීම. නමුත් නැවතත් ඒ වගේ වස විස යෙදූ ආහාර පාන නම් දිගටම ගන්නෙ, ඒ හේතුවෙන් කෙනෙකුට තවත් කාලයක් ගිහින් නැවතත් මේ දියවැඩියා තත්ත්වය එන්න පුළුවන්. ඒ නිසා පුළුවන් තරම් වස විස නොයොදා සකස් කළ ආහාර පාන ලබාගැනීමෙන් මේ තත්ත්වය තවදුරටත් ඇතිවීම වළක්වා ගන්න පුළුවන්. දැනටත් රටේ සමහර ප්‍රදේශවල වස විස නොයොදා, රසායනික පොහොර වර්ග නොදමා හවභෝග වගා කරන්න ජනතාව අතර උනන්දුවක් ඇති වෙලා තියෙනවා. ඒ වගේ ස්ථානයකින් වැඩි මිලක් ගෙවල හරි ඒ වගේ වස විස යොදපු නැති ආහාර වර්ග ලබා ගන්න පුළුවන් නම් දිගු කාලීන වශයෙන් නුවණට හුරුයි. මේ සම්බන්ධයෙන් දැනුවත් කෙරෙන විශේෂ ලිපියක් ඉදිරියේදී බලාපොරොත්තු වන්න.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඇදුම ඇතුළු පීනස් රෝග 18 ක් නිට්ටාවට සුව කරන ඖසුවක් ....

චරක අභයරතනාලංකාර හිමියන්ගෙ සමාධියට ඉතාමත් මෑත කාලයක හසු වූ තවත් විශේෂ ප්‍රත්‍යක්‍ෂ ඖෂධයක් තමයි මේ හෙළිදරව් කරන්නෙ. දේශීය වෙදකමේ පීනස් රෝගය ගැන කතා කරන කොට ළය පීනස, ගල් පීනස, දිය පීනස, ගඳ පීනස, ලේ පීනස, කටු පීනස.... ආදී වශයෙන් පීනස් රෝග 18 ක් ගැන සඳහන් වෙනවා. ඊට අමතරව ඇදුම, දත් මිටි කෑම, ඉරුවාරදය, දිගුකල් පවතින කැස්ස කියන මේ රෝගත් පීනස් රෝගවලටම තමයි සම්බන්ධ වෙන්නෙ. මේ හැම රෝගයකටම මුල් වෙන්නෙ සෙම නරක් වීම. ඒ සෙම විවිධාකාරයෙන් ක්‍රියාත්මක වෙන කොට තමයි මේ විදියට ශරීරයේ විවිධ තැන්වල විවිධාකාරයෙන් පීනස් රෝග හට ගන්නෙ. උදාහරණ විදියට ශරීරයේ තියෙන සිව්වල සෙම විසවීම් ඇති වුනාම එන පීනස එක ආකාරයක්. සිව් කියල කිව්වෙ ශරීරයේ හැම ඉන්ද්‍රියකම මාංශ පේෂීන් අතරින් අපද්‍රව්‍ය ගෙන යන මාධ්‍ය. ඊළඟට පපුවට සෙම ගැහුවොත් තවත් ආකාරයක්. උගුරට ගැහුවොත් කටු වගේ හැදෙන කටු පීනස කියල තවත් ආකාරයක් තියෙනවා. ඒ වගේම සමහර උදවියගෙ කන් පැසවන පීනසක් තියෙනවා. ඒ වගේම කෙස් ඉදෙන, ඇස් පෙනීම දුර්වල කරන, නාසය හිර කරන පීනස් රෝග තියෙනවා. ඊළඟට අද බහුලව දකින්න තියෙන ඉරුවාරදය කියන්නෙත් පීනස් රෝගයක්. නමුත් ඒ කාරණය නවීන විද්‍යාවෙන් හොයා ගෙන නොතිබෙන්න පුළුවන්. ඒ වගේම අද වෙන කොට බොහෝ දෙනෙක් පීඩා විඳින ඇදුම රෝගය කියන්නෙත් මේ පීනසේම තවත් කොටසක්. මේ විදියට පීනස් රෝගත් විවිධාකාරයි. මෙන්න මේ සියලු පීනස් රෝග නිට්ටාවට සුව කරන, දැනටමත් අත් හදා බලපු ප්‍රත්‍යක්‍ෂ ඖෂධයක් තමයි මේ කියන්නෙ.

ඊට පෙර මේ ඇදුම ඇතුලු පීනස් රෝග ඇතිවීමේ කර්ම විපාකය ගැනත් යම් පමණකට දැනගෙන ඉන්න එක හොඳයි. **සියල්ල කර්මයෙන් සිද්ධ නොවුනත් මේ හැම එකකටම කර්මය මුල් වෙනවා.** පෙර කරපු අනන්තරයක් තියේ නම් දැන් ඊට බාහිර පරිසරය හෙවත් සමනන්තරයක් සකස් වුනාම, සමනන්තර - අනන්තර ප්‍රත්‍යය ක්‍රියාත්මක වෙලා මේ වගේ රෝග හට ගන්න පුළුවන්. **ප්‍රිය දේ නසන අර්ථයෙන් තමයි පීනස කියන්නෙ.** එහෙම නැත්නම් පියා කියන දේ නසනවා. මේ සියලුම අර්ථ පීනස කියන වචනයේ තියෙනවා. ප්‍රිය (පිය) දේ නසන අයට ඒ හේතුවේ ඵලය විදියට මතු කලකදි පීනස හටගන්න පුළුවන්. පියා කියන දේ නසනවයි කියන්නෙත් ප්‍රිය දේ නැසීම තමයි. මොකද පියෙක් දරුවෙකුට කියන්නෙ ප්‍රිය දේවල් මිසක් අප්‍රිය නරක දේවල් නෙවෙයි. හැබැයි මේ කියන්නෙ මූලික පිය ගුණයක් මිසක් පියවරුන්ට නොගැලපෙන, ඊට විරුද්ධව කටයුතු කරන නාම මාත්‍රික පියවරුන් ගැන නෙවෙයි. එතකොට පියා කියල කියන්න හේතුවත් දරුවන්ට ප්‍රිය දේවල් කියන නිසා. යමක් ප්‍රියද, මධුරද, යහපත්ද ඒක





අහන්නෙ නැත්නම් පීනස හැදෙන්න හේතුවක් වෙනවා. ඒක මේ අත්බවයෙ කරපු දෙයක් නොවෙන්න පුළුවන්. පෙර කරපු අවස්ථාවක් වුනත් අද පරිසරය සකස් වුනොත්, එහෙම දෙයක් ඇදිල එන්න පුළුවන්. ලෝකයට යහපතක් වෙන දේවල් ප්‍රියයි. ඒ ප්‍රිය දේවල් නැසීම තමයි පීනස කියන විපාකයට මුල් වෙච්ච සංඛාරය. ඒ සංඛාරයෙන් හට ගන්න ජාතිය තමයි පීනස කියන රෝගය. රෞද්‍ර බව අග්‍ර කිරීම නිසා තමයි රෝග කියන්නෙ. මොකද ප්‍රිය දේ නසන්න නම් යම් කිසි රෞද්‍ර බවක් අග්‍ර කර ගන්න ඕන. හිතක් පපුවක් නෑ කියන්නෙත් ඒකට තමයි.

ඊළඟට උම කියන්නෙ මාතෘ ගුණ ධර්ම, යහපත් දේවල්. ඒ උම ගුණය කියා දෙන පළවෙනි කෙනා තමයි මව. එහෙම නැත්නම් අම්මා. මෘදු මොළොක් යහපත් දේවල් මුලින්ම පෙන්වා දෙන්නෙ මව. ඒ **උම ගුණවලට ඇද කිරීම නිසා ඇදෘ උම - ඇදුම කියල රෝගයක් හට ගන්න හේතු වෙනවා.** ඒ ඇද කිරීම තමයි සංඛාරය. ඒකෙන් හට ගන්න ජාතිය තමයි ඇදුම කියන රෝගය. එතකොට මව පියා කියල කියන්නෙත් මේ උම ධර්ම, ප්‍රිය දේවල් දරුවන්ට කියා දෙන නිසා. ඒක තමයි මූල අර්ථය. මෘදු (උම) සහ ප්‍රිය කියන අර්ථ තමයි මව, පියා කියන වචනවලින් අදහස් වෙන්නෙ.

එතකොට මේ රෝගවලට මුල් වෙන භෞතික සාධකය තමයි සෙම. සෙම් රෝගවලට මුල් වෙන්නෙ කාමය. කාමය කිව්වම අද සමාජයේ කතා කරන අර්ථයෙන් විතරක් නෙවෙයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ පංච කාමයම අයිතියි. එතකොට මේ ප්‍රිය දේවල් සහ උම ධර්ම වනසන දෙයක් තමයි පංචකාමය කියන්නෙ. යම් කිසි පෙර විපාකයක් වශයෙන් මේ කියන විපරීත පංච කාම අදහස් ආවත්, මේ කාලෙ සංඛාර වශයෙන් විපරීත ලෙස පංචකාම අදහස් ආවත් සෙම තමයි ඒකෙන් විපරීත වෙන්නෙ. පෙර විපාකය කිව්වෙ අනන්තරය. ඒකට සමනන්තරය හැදෙන්නෙ දැන් ගොඩ නගන සංඛාරවලින්. මේ ක්‍රම දෙකටම සෙම විපරීතයන් හට ගන්න පුළුවන්. ඒ කියන්නෙ වැරදි ආකල්ප නිසා. එතකොට මේක ඉස්සෙල්ලම සම්බන්ධ වෙන්නෙ මනෝමය හදවතට. ඊළඟට මනෝමය මොළයට. ඊළඟට භෞතික මස් ලේ කයේ හදවතට සහ මොලයටත්, අනෙක් ඇඟ පසඟවලටත් සම්බන්ධ වෙනවා. හැම වෙලේම මෘදු ගති නැති කළොත්, ප්‍රිය ගති නැති කළොත් ඒ කාරණය මුල් කර ගෙන ඉස්සෙල්ලම රෝග හැදෙන්නෙ හදවතට සහ මොළයට. කෙනෙකුට යම් කිසි පහත් නීච අදහසක් ආවොත්, ඒක ඉස්සෙල්ලම බලපාන්නෙ හදවතට සහ මොළයට. මේ දෙක අතර තමයි ඊළඟට සියළු ක්‍රියාවලියන් සිද්ධ වෙන්නෙ. සංවේගයක් ආවොත් කඳුලු ගලනවා, හූල්ලනවා. තරහක් ආවත් ඒ වගේමයි. හති දානවා, දත්මිටි කනවා. දත්මිටි ඇදුම් කෑම කියන්නෙත් පීනස් රෝගයේ අවස්ථාවක්. තරහෙන් තමයි දත්මිටි ☞

කන්නෙ. ඒ කියන්නෙ තමන් බලාපොරොත්තු වෙන දේට විරුද්ධ දෙයක් ආවොත් හූල්ලනවා, දත්මිටි කනවා. එතකොට ඒ ගති ලක්ෂණ සියල්ලම පීනස් රෝගයන්ට මුල් වෙනවා. හදවත සහ මොළය මුල් කරගෙන තමයි ඒක සිද්ධ වෙන්නෙ. ඊට පස්සෙ හදවත මුල් කරගෙන ශරීරය වටේම ඒ තත්ත්වය විහිදෙනවා. ඒකෙන් තමයි මේ රෝග ආරම්භ වෙන්නෙ.

ඉතින් පෙර හේතුවකුත් තිබිල, දැන් ඊට පසුතලයක් හැදුවොත් මේ වගේ පීනස් රෝග හැදෙනවා. දැන් මේ ගැන කියවෙන පැරණි කවියකුත් තියෙනවා. ''**හිසට පිනි බැමෙන් - පොද වැස්සට තෙමීමෙන් - නිසි හැටි නොනැමෙන් - හැදෙයි පීනස නිදි වැරීමෙන්**'' මේ කවියෙන් කියන්නෙ පීනස් රෝගයන්ට සමනන්තරය හෙවත් පරිසරය හැදෙන ආකාර කිහිපයක් ගැන. එතකොට පෙර අනන්තරය හෙවත් කර්ම විපාකයක් තිබුනොත් ඒක ඇදිල ඇවිත් විපාකය විදියට මේ පීනස් රෝග හට ගන්න පුළුවන්. දැන් මෙතන සමනන්තරය හැදෙන ක්‍රම 4 ක් විග්‍රහ වෙනවා. මේ කාරණාවලින් සෙම විපරීතයක් හට ගන්න පුළුවන්. ඒ වගේම මෙතනදි නිසි හැටි නොනැම කියන්නෙ අඩුවෙන් ආවට ගියාට නැම විතරක් නෙවෙයි. නොගැලපෙන රාත්‍රී කාලයේ, ඒ වගේම ඇඟ අධික ලෙස උෂ්ණ කරන මධ්‍යාහ්නය වගේ කාල වෙලාවල්වලදි නැමත් අනිසි විදියට නැමට අයිති වෙනවා. ඉතින් මේ කාරණාවල බලපෑමෙන් සෙම විපරීතයන් හට ගෙන පීනස හැදෙන්න හේතු වෙනවා.

ඒ වගේම මේ රෝගයට හේතුවන සංඛාර දැනුත් ගොඩ නැගුවොත් ඒකත් සමනන්තරයක් විදියට ක්‍රියාත්මක වෙන්න පුළුවන්. අද වුනත් මේ පීනස් රෝග තද බල විදියට තියෙන උදවිය ගැන සියුම්ව පරීක්ෂා කළොත්, ඒ අයගෙ හිත නිතරම පෑරෙන ස්වභාවයක් දකින්න පුළුවන්. නිතරම වගේ කවුරු හරි රුස්සන්නෙ නැති ස්වභාවයක් පෙන්වනවා. කතා කළොත් බොහෝ කොටම කතා කරන්න බලන්නෙ කාගෙ හරි ඇද කුදයක් ගැන. ඒකට යම් කිසි මාන්නක්කාරකමකුත් එනවා. විශේෂයෙන් තද පීනස් රෝගීන්ගෙ එහෙම ස්වභාවයක් තියෙනවා. ඒ අය කරන කතා බහ ගැන අභ්‍යන්තරයෙන් අති සියුම්ව අධ්‍යනය කළොත්, කොච්චරවත් ඇද පළුද්දක් ගැන තමයි කතා කරන්නෙ. හොඳ පැත්තක් ගැන කතා කෙරෙනව අඩුයි. ඒ එක ලක්ෂණයක්. උදාහරණ විදියට ගඳ පීනස කියන රෝගී තත්ත්වයට හේතුව ගත්තොත්, ඒ පුද්ගලය සමාජය ගඳ ගස්සවන කතාමයි නිතරම වගේ කියල තියෙන්නෙ. ඒ පෙර තිබ්ච්ච සසර පුරුද්ද දැනුත් ක්‍රියාත්මක වෙන්න පුළුවන්. එතකොට ඒක තමයි සමනන්තරය වෙන්නෙ. ඊළඟට අර පෙර තිබ්ච්ච අනන්තරය ඇදිල ආවොත් දැනුත් ඒ කියන රෝගී තත්ත්වය ඇති වෙන්න පුළුවන්. ඉතින් මේ කාරණා කිව්වෙ කාටවත් අපහාස උපහාස කරන්නවත්, අමනාප වෙන්නවත් නෙවෙයි. මේ රෝගවල මූල හේතුව දැන ගෙන ඒවා මතුවටවත් නැති කර ගන්න උපකාරී වෙන්න කියන අදහසින්.

එතකොට මේ රෝගවලට ප්‍රතිකාරය විදියට හදාගන්න බේතට ප්‍රධාන වශයෙන් යොදා ගන්නෙ තිල් මානෙල් අල සහ ගම්මිරිස් ඇට. මානෙල් කියන වචනයේ තියෙන්නෙත් යම් කිසි මහ ධර්ම හෙවත් යහපත් සාර ධර්ම නෙළා ගන්නවා





කියන අර්ථය. මාංසය හෙවත් මහ දේවල් කියන්නෙ යහපත් සාර ධර්මවලට. ඒ වගේ මහ ධර්ම නෙළා ගන්න ස්වභාවයක් තමයි මුල් කාලීනව මිනිස්සු ළඟ තිබුණෙ. එදා තිබ්ච්ච සුද්ධ පවිත්‍රතාවය තමයි ඒකෙන් පෙන්වන්නෙ. මූලිකව ඒ සුද්ධතාවය තිබ්ච්ච නිසා මුල් කාලෙ හිටපු මිනිස්සුන්ට ඒ වගේ සෙම විපරීතයන් හට ගත්තෙ නෑ. මෙන්න මේ මහ දේවල් නෙලා ගන්න ගති ලක්ෂණය පසු කාලීනව ක්‍රමයෙන් දුරස් වෙලා ගිහින් මානෙල්වල තැන්පත් වුණා. එදා ළයට ආපු ඒ යහපත් ගති ලක්ෂණය තමයි පසුකාලීනව දුරස් වෙලා ගිහින් ආ + ළය - ආල කියල මානෙල් අලවල තැන්පත් වුණේ. ඒ නිසා ළය මුල් කර ගත් රෝගවලට ප්‍රත්‍ය වෙන ශක්තිය මේ අලවල තියෙනවා. මානෙල් අලෙන් නැවත ගන්නෙත් මේ සෙම විපරීතය නැති කරන්න අවශ්‍ය වෙන ශක්තිය. ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් තමයි ඒ ශක්තිය තියෙන බව හොයා ගන්නෙ. එතකොට මේ මානෙල් ශාකය වතුරෙ හැදුනත් වතුර නොගෑවී, වතුරෙ නොඇලී තමයි තියෙන්නෙ. වතුරෙ හැදිල උඩට ඇවිත් ප්‍රිය මනාපයෙන් පවතිනවා. ඒ වගේ ඒකට අදාල පෙර තිබ්ච්ච ගුණය බැලුවොත්, කාම ලෝකයේම ඉඳගෙන පහත් කාමයන්ගෙන් මිදිල ඒවට බැඳෙන්නෙ නැතිව හිටපු පිරිසගෙ ගති ලක්ෂණ තමයි එදා තිබුණෙ. ඒක යහපතට හේතු වුණා. ඒක තමයි මහ ධර්ම හෙවත් සාර ධර්ම කිව්වෙ. ඒ මහ ධර්ම නෙළා ගන්න ගති ලක්ෂණය තමයි දුරස් වෙලා ගිහින් මිරිදියේ මානෙල් කියන ශාකයක පිහිටියේ. මිහිරියාව දියත් කරපු ගති ලක්ෂණය නිසා තමයි මිරිදියේ පිහිටියේ. එදා පහත් කාමයන්ට නොඇලී හිටපු ගති ලක්ෂණය අදත් මානෙල් ශාකයෙන් පෙන්නුම් කරනවා. ඒ නිසා තමයි මඩෙන් උඩට ඇවිත් වතුරේ නොඇලී තියෙන්නෙ.

ඊළඟට මිහිරියාව ආශ්‍රය කිරීමේ ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සු ළඟ තිබුණා. ඒ ගති ලක්ෂණය දුරට අස් වුනාම තමයි මිරිස් හට ගත්තෙ. අම කියන්නෙ අමෘතය, නිවන, මිහිරියාව. අන්න ඒ අම කියන ස්වභාවයේ ගෑවීම තමයි ගාම (ග + අම - ගාම හෙවත් ගම්) කියන්නෙ. අද ගමේ හැදෙන නිසා ගම්මිරිස් කිව්වත් ඒකෙන් කියවෙන නියම මූලාර්ථය තමයි මේ. ගම්, ගාම, ග්‍රාමීය, ග්‍රාම්‍ය ආදී වශයෙන් කිව්වම ප්‍රධාන වශයෙන් අර්ථ 2 ක් එනවා. ගමේ ස්වභාවය කියන්නෙ සුන්දරත්වය, යහපත් පැත්ත. ඒ ගුණය තමයි ඉස්සෙල්ල තිබුණෙ. ග්‍රාම්‍ය කියන්නෙ ඒ ගමේ තිබ්ච්ච යහපත් තත්ත්වය මැකිල ගියා කියන එක. ගම්මා, ගම්මෝ කිව්වමත් ගම් කියන්නෙ හොඳ පැත්ත, ඒක මා කරල දැම්මම ඒකෙන් මිදුනා වෙනවා. (ගම් + මා - ගම්මා) එතකොට අමෘතයේ ගෑවීම තමයි ගම් කියන්නෙ. අදත් හොඳ දේවල් තියෙන්නෙ ගමේ. ග්‍රාම්‍ය බවට පත් වුනාම ඒක මැකිල ගියා. එතකොට ඒකෙ තිබ්ච්ච මිහිරියාව, රසාස්වාදය තමයි ගිලිහිලා ගිහින් ගම්මිරිස්වල පිහිටියේ. සැර කරල හරි ඒ තිබ්ච්ච මිහිරියාව, යහපත සමාජයේ පවත්ව ගන්න උත්සාහ කරපු ගති ලක්ෂණය නිසා තමයි ගම්මිරිස් සැරට පිහිටන්නෙ. ඒ රසයත් අද ගම්මිරිස්වල පිහිටල තියෙනවා.

එතකොට මානෙල් හැදෙන්නෙ දියේ. ගම්මිරිස් හැදෙන්නෙ ගොඩේ. ගොඩ දිය හැදෙන කොටස් 2 ක් තමයි මේ බේතට ප්‍රධාන වශයෙන්ම යොදා ගන්නෙ. **දියත් කරපු පැත්ත තමයි දිය කියන්නෙ. ගොඩ යන පැත්ත තමයි ගොඩ කියන්නෙ. මේ දෙකේම තියෙන ශක්තිය එකතු කරල තමයි මේ බේත හදන්නෙ.**

ඒ වගේම මේ සඳහා යොදා ගන්නෙ නිල් මානෙල් ශාකයේ අලේ කොටස. අන්න ඒ අලේ අරගෙන ඒකෙ පිට තියෙන කළු පාට මඩ කුරුටු ගතිය සම්පූර්ණයෙන්ම රැහැල ඉවත් කරනවා. ඊළඟට තියෙන සුදු පාටට හුරු කොටස හීන් වෙන්න පෙති ගහල හොඳට අව්වෙ වේල ගන්නවා. උදුනකින් වේලගන්නව නම් උෂ්ණත්වය වැඩි කරන්නෙ නැතිව බොහොම අඩු උෂ්ණත්වයක් යටතේ ජල වාෂ්ප ඉවත් වෙන කල් වේල ගන්න ඕන. මේ විදියට වේලගත්ත මානෙල් අල පෙති සහ වේලිච්ච ගම්මිරිස් ඇට 5:1 අනුපාතයට ගන්න ඕන. ඒ කියන්නෙ වේලිච්ච මානෙල් අල ග්‍රෑම් 500 ක් ගත්තොත් වියළි ගම්මිරිස් ඇට ග්‍රෑම් 100 ක් ගන්න ඕන. හැබැයි එතකොට වේලිච්ච අල ග්‍රෑම් 500 ක් ගන්න නම්, සාමාන්‍යයෙන් අමු මානෙල් අල කිලෝ ග්‍රෑම් 4 - 5 ක් විතර අවශ්‍ය වෙනවා. ඒ නිසා එච්චර ප්‍රමාණයක් හොයා ගන්න අපහසු නම් අර කියපු 5 : 1 අනුපාතය එන විදියට මේ වර්ග 2 න්ම අඩු කරල ගන්න පුළුවන්. උදාහරණ විදියට වේලිච්ච මානෙල් අල ග්‍රෑම් 200 ක් ගත්තොත් වියළි ගම්මිරිස් ඇට ග්‍රෑම් 40 ක් ගන්න ඕන.

දැන් මේ විදියට වේලල ගත්ත මානෙල් අල පෙති ටිකයි, වේලිච්ච ගම්මිරිස් ඇට ටිකයි එකට කබලක දාල රත්වන් පාට වෙන කල් බැද ගන්නවා. එතනදි මානෙල් අල පෙති ටික රත්වන් පාටට හුරු වෙන කොට ලිපෙන් බාගන්න පුළුවන්. ඊට පස්සෙ ඒ මිශ්‍රණය වංගෙඩියක හෝ මිශ්‍රණ යන්ත්‍රයක දාල හීනියට කුඩු කර ගන්නවා. ඊළඟට ඒක පෙනේරයකින් හළා ගන්නවා. දැන් මේක තමයි බේත වෙන්නෙ. ඒක මොකක් හරි ඇසුරුමක දාල තියාගෙන හැමදාම උදේට හිස් බඩට තේ කහට වගේ බොන්න ගන්නවා. එතනදි මේ ඖෂධ කුඩු තේ හැඳි 3/4 ක් (තුන් කාලක්) නටන උණු වතුර කෝප්පයකට දාල ටික වෙලාවක් තැම්බෙන්න ඇරල ඒකට සහිඳ ලුණු තේ හැඳි 1/4 ක් (කාලක්) විතර හෝ තමන්ට බොන්න පුළුවන් ප්‍රමාණයට එකතු කරල හොඳට කලවම් කර ගන්නවා. මෙතනදි බෙහෙත් කුඩුත් එක්ක සහිඳ ලුණු එකවිටම දාල තම්බන්නෙ නෑ. හැම තිස්සෙම ඒ බේත් කුඩු ටික, ටික වෙලාවක් (විනාඩි කිහිපයක්) තැම්බුනාට පස්සෙ තමයි සහිඳ ලුණු එකතු කරන්නෙ. මොකද නැත්නම් රසායන සංයුතිය වෙනස් වෙන්න පුළුවන්. ඒ වගේම සාමාන්‍යයෙන් වතුර කෝප්පයක් හෝ කෝප්ප 3/4 ක් දම්මම ප්‍රමාණවත්. ඊළඟට ඒකෙන් එන මණ්ඩියත් (රොඩ්ඩ) එක්කම උදේ හිස් බඩට බොන්න ගන්න ඕන. එහෙම අරගෙන පැය 1/2 ක් යනකල් මොකවත් කන්නෙ බොන්නෙ නෑ. අඩු තරමින් වතුර එකක්වත් බොන්න හොඳ නෑ. පැය 1/2 ක් ගියාට පස්සෙ ඕන දෙයක් කන්න බොන්න පුළුවන්. ඒ අතරෙ නැවයි කියල කිසි ගැටළුවක් නෑ. මෙන්න මේ විදියට එක දිගට මාසයක් විතර මේ බේත පාවිච්චි කරන කොට අර තියෙන රෝග සියල්ලම සමනය වෙනවා. මාසයකට වැඩි වුනත් කමක් නෑ. මොකද මේ බේතෙ කිසිම අතුරු ආබාධයක් නෑ. වෙනත් බටහිර බේත් පාවිච්චි කරන ගමන් ගත්තයි කියලත් කිසිම ගැටළුවක් නෑ. පුංචි ළමයින්ට වුනත් දෙන්න පුළුවන්. අවුරුදු 10 න් පහළ ළමයින්ට දෙනකොට තේ හැඳි 1/2 ක් හෝ 1/4 ක් විතර බේත් කුඩු දම්මම ප්‍රමාණවත්. එතකොට සෙම විපරීත වෙන්න යම් කිසි අපද්‍රව්‍ය ආදියක් ඇත්නම් ඒ සියල්ලම මේ බේතෙන් දවා හැරල පුච්චල මළ මුත්‍රවලින් කොටසක් ඉවත් කරනවා. තවත් කොටසක් දහඩියෙන් සහ ප්‍රාස්වාස වාතයෙන් ඉවත් වෙනවා. සහිඳ ලුණු දාන්නෙත් බඩ විරේක කරන ගතියක් ඇවිත් ඒ සුද්ද වීම පහසු වෙන්න. ඒකෙන් ප්‍රත්‍ය ලැබිල නැවතත් ස්වභාවික තත්ත්වයට පත් වෙනවා.

ඒ වගේම ගම්මිරිස් තියෙන නිසා කෙනෙකුට මේ බේත ටිකක් සැරට දැනෙන්න පුළුවන්. ඒ නිසා තේ හැඳි තුන් කාලක් දාල බොන්න අමාරු නම් ඊට ටිකක් අඩුවෙන් දම්මත් කමක් නෑ. එතකොට ඒ ප්‍රමාණයට සහිඳ ලුණුත් ටිකක් අඩුවෙන් තමයි දාන්න ඕන. නමුත් එතකොට මාසයකට වඩා තවත් ටිකක් වැඩි කාලයක් මේ බේත බොන්න සිද්ධ වෙන්න පුළුවන්. ඒ වගේම මේ කියපු මාත්‍රාවත් පොඩ්ඩක් අඩු වැඩි වුනා කියලත් ගැටළුවක් නෑ. එහෙම අඩු වැඩි වුනොත් ඒ බේත පාවිච්චි කරන්න ඕන කාලය වෙනස්වීම විතරයි සිද්ධ වෙන්නෙ. ඒ වගේම කෙනෙකුට තියෙන රෝගී තත්ත්වය අනුව සමහර විට මාසයකට අඩු කාලයකදිත් සනීප වෙන්න පුළුවන්. කොහොම හරි සමනය වෙනකල්ම මේ බේත ගන්න ඕන. සමනය වුනාද නැද්ද කියල තමන්ටම දැනගන්න පුළුවන්. බේත නතර කරල ටික දවසක් ගිහින් නැවතත් ආවොත් තව දුරටත් ගන්න පුළුවන්.

ඒ වගේම මේ විදියට වතුර දාල බොන්න බැරි අයට තවත් ක්‍රමයක් තියෙනවා. මොකද සමහර වකුගඩු රෝගීන්ට බොහොම පාලනය කරල තමයි වතුර බොන්න වෙන්නෙ. දවසකට වැඩිපුර වතුර බොන්න හොඳ නෑ. ඒ නිසා ඒ වගේ අයට අවශ්‍ය නම්, අර හදා ගත් ඖෂධ කුඩු දෙහි ඇඹුල්වලින් මිශ්‍ර කරල කෝපි ගෙඩි තරම් ගුලි හදල වේලල අරගෙන අර විදියටම උදේට හිස් බඩට ගුලිය බැගින් දිගටම පාවිච්චි කරන්න පුළුවන්. එතකොට වතුර දාන්න ඕනත් නෑ, සහිඳ ලුණු දාන්න ඕනත් නෑ. අවශ්‍ය නම් ගුලියක් අරගෙන වතුර උගුරක් විතර බොන්න පුළුවන්. හැබැයි ඒ ගුලිය අරගෙන අර වගේම පැය 1/2 ක් යන කල් වෙන මුකුත් ගන්න හොඳ නෑ. මේ ක්‍රම 2 න් තමන්ට පහසු ක්‍රමයකට බේත හදාගෙන පාවිච්චි කරන්න පුළුවන්.

## කටී වායුව නිසා හට ගන්නා කොන්දෙ අමාරුවට තවත් ඔසුවක්.

කටී වායුව නිසා හට ගන්නා කොන්දෙ අමාරුවට වල් දෙල් කොට්ටයෙන් හදා ගන්න බේතක් පසු ගිය කලාපයෙන් හෙළිදරව් කළා. ඒ වගේම වල් දෙල් කොට්ට හැම කාලෙටම නැති නිසා, හොයා ගන්න අමාරු වුනොත් ඊට විකල්ප වශයෙන් තවත් බේතක් ඉදිරියේදී හෙළිදරව් කරන බවත් සඳහන් කළා. දැන් ඒ විකල්ප බේතත් අත් හදා බලල මේ වෙන කොට සුව වෙච්ච රෝගීන් ඉන්න නිසා ඒ බේත තමයි මේ ඉදිරිපත් කරන්නෙ. එතනදි වල් දෙල් කොට්ටය වෙනුවට ගන්නෙ වල් දෙල් ඇට. වල් දෙල් ඇට කාලයක් තියා ගන්නත් පුළුවන්. ඒ වගේ වල් දෙල් ඇට ග්‍රෑම් 50 ක් අරගෙන ඒකෙ පිට තියෙන සුදු පාට පොත්ත විතරක් ඉවත් කර ගන්නවා. ඇතුලෙ තියෙන දුඹුරු පාට කුරුට්ට ඉවත් කරන්නෙ නෑ. ඒ විදියට සකස් කර ගත්ත වල් දෙල් ඇටවලට කලින් විදියටම එනසාල් ඇට කුඩු තේ හැන්දක් දාල ඒක





අඹර ගන්නවා. එහෙම නැත්නම් කොටා ගන්නවා. ඊළඟට ළපටි වල් දෙල් කොළයක් අරගෙන නම්‍යශීලීතාවයක් එන්න ඒක ටිකක් රස්නෙන් තවල, ඒකට අර මිශ්‍රණය දාල ඔතල වටේට තුන් හතර පොළකින් කෙහෙල් පට්ටවලින් ඔතා ගන්නවා. ඒක උණු අළු පල්ලෙ විනාඩි 12 ක් විතර තැම්බෙන්න තියනවා. ඊළඟට ඒක අරගෙන වටේට තියෙන කෙහෙල් පට්ටත් එක්ක වල් දෙල් කොළේ ඉවත් කරල, ඒ මිශ්‍රණයට ලිපේ තියෙන අළුවලින් තේ හැඳි 1/2 ක් හෝ 3/4 ක් එකතු කර ගන්නවා. ඊළඟට ඒ මිශ්‍රණය මී ඇට තෙල්වලින් අඹර ගන්නවා. ඊට පස්සෙ අර කලින් වගේම රෙදි කෑල්ලකට දාල ප්ලාස්ටරයක් විදියට හදල පාවිච්චි කරන්න පුළුවන්. හැබැයි මේ ක්‍රමය එක දිගට දින 7 ක් කරන්න ඕන. දින 7 ට වඩා වැඩි වුනාට කමක් නෑ. ඒ වගේම කලින් විදියට උණු වතුරින් තවන්න හෝ ඇඟ හෝදන්න ඕන.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මරණාසන්න මොහොතේ සහ ඉන් පසු ඇති වන මහා දාහය...

චුති-පටිසන්ධි සහිත මරණයකදි කෙනෙකුගෙ හිතට එන කර්ම, කර්ම නිමිති, ගති නිමිති ගැන තමයි පසු ගිය කලාපයෙන් විශේෂයෙන් විග්‍රහ කළේ. ඊළඟට චුති-පටිසන්ධි නැතිව මැරෙන අවස්ථාත් තියෙනවා. මොකද හැම මරණයකදිම චුති-පටිසන්ධි සිද්ධ වෙන්නෙ නෑ. නමුත් පසුව ලියපු අභිධර්ම අටුවා අර්ථ සංග්‍රහවලදි, මස් ලේ කයේ මරණයත් එක්කම චුති-පටිසන්ධි දෙකත් ඒකාන්තයෙන්ම සිද්ධ වෙනව කියල තමයි විග්‍රහ කරල තියෙන්නෙ. නමුත් ඒක පසුව ලියපු ආචාර්ය වාදයක් මිසක් බුද්ධ දේශනාවක් නෙවෙයි. මේ පිළිබඳ මීට පෙරත් විග්‍රහ කරල තියෙනවා. ඒ වගේම බුදුන් වහන්සේ දේශනා කරපු ආකාරයට, චුති-පටිසන්ධි නොවී සිද්ධ වෙන මරණයකදි ඇති වන ගන්ධබ්බ අවස්ථාව ගැන සමාධි වඩපු උදවියට පවා අනන්තවත් හසු වෙලා තියෙනවා. ඒ නිසා ඒ ආචාර්යවාද නෙවෙයි, බුද්ධ දේශනාව නිවැරදියි කියන කාරණය එතනිනුත් සනාථ වෙනවා. මේ පිළිබඳව සූත්‍ර පිටකයේ එන <u>තිරෝකුඩ්ඩ සූත්‍රයේ</u> සහ <u>මහා අස්සපුර සූත්‍රයේ</u> පැහැදිලිව සඳහන් වෙනවා.

සතර මං සන්ධියක උඩ ඉඳගෙන බලන කොට කඩවලට ඇතුල් වන, පිට වන, අතර මග සැරි සරන... ආදී වශයෙන් විවිධාකාරයේ මිනිස්සුන්ගෙ සැරි සැරීම පෙනෙනව වගෙයි, කෙනෙක් මළාට පස්සෙ චුති-පටිසන්ධි නොවී මේ වගේ අතර මග සැරිසරන ගන්ධබ්බ අවස්ථාවන් ගැන දිවැස් තියෙන අය දකින බව මහා අස්සපුර සූත්‍රයේ පෙන්වා තියෙනවා. එතනදි චුති-පටිසන්ධි කියල නෙවෙයි, චුති උත්පාද කියල තමයි සඳහන් වෙන්නෙ. චුති-පටිසන්ධි කියන එක සම්පිණ්ඩනය කරල තමයි මේ කෙටියෙන් කියල තියෙන්නෙ. ඒක තමයි චුතූපපාත කියල කියන්නෙත්. චුත වුණා, උපත වුණා. ඒ කියන්නෙ චුත වෙන අය, උපදින අය දකිනව කියල. මවු කුසකට ඔක්කන්ති වීම තමයි මෙතනදි ඉපදීම කියන්නෙ. උප්පත්තිය ගැන විග්‍රහ වෙන කොට තමයි අර විදියට සතර මං සන්ධියක උපමාවක් යොදා ගෙන විවිධාකාරයේ සැරි සරන ගන්ධබ්බ අවස්ථාවන් ගැන විග්‍රහ කරල තියෙන්නෙ.

තිරෝකුඩ්ඩේසු හිට්ටේසු ආගන්ත්වා සකන්ගරං... ආදී වශයෙන් පෙන්වන්නෙ, එහෙම මියගිය සමහර අය තමන් ජීවත් වෙලා හිටපු ගෙවල්වලට ඇවිත් ඒවායේ බිත්ති පර්වත ආදියේ තිරස් අතට පසාරු කරගෙන යන්න පුළුවන් මනෝමය කායික ස්වභාවයකින් ඉන්න බව. එතකොට ගෙයක් සම්පූර්ණයෙන්ම වහල තිබුණත් ඒ අයට ඒ සියුම් කයින් බිත්ති හරහා යන්න එන්න පුළුවන්. මේ කියන්නෙ අද ඇස්ට්‍රල් බොඩි වශයෙන් හඳුන්වන සූක්ෂම කය ගැන. ඒ කියන්නෙ කෙනෙක් මරණාසන්නව ඉඳල අතර මග මැරෙන්න පුළුවන්, රෝහලකදි මැරෙන්න පුළුවන්. ඒ කොහේදි මළත් **චුති-පටිසන්ධියක් නැතිව නම් මළේ, අර පෙර හිටපු විදියටම සූක්ෂම මනෝ කයින් නැවතත් තමන් හිටපු ගෙදරට, ආශ්‍රය කරපු තැන්වලට යනව එනවා.**

මෙන්න මෙහෙම කෙනෙකුට මරණාසන්න මොහොතෙ නිමිත්තක් නෑ.



මොකද මානසික වශයෙන් චුත වෙන අවස්ථාවක් එන්නෙ නෑ. නමුත් කයේ වේදනාව දැනෙනවා. ස්වභාවිකව තමන්ගෙ පංචේන්ද්‍රියට දැනෙන්නා වූ කායික වේදනාවක් ඇත්නම් ඒක දැනෙනවා. අන්තිමට මරණාසන්න මොහොතෙදි කය හිරි වැටෙනවා. ඒ මරණාසන්න මොහොත වෙන කල්ම මරාන්තික දුක් වේදනා එනවා. මරණය කෙළවර වෙන්න එන කොට විඳින්න වෙන දුක් වේදනා තමයි මාරාන්තික වේදනා කියන්නෙ. ඒ වගේම මේ මරාන්තික කායික දුක් වේදනා වැඩි හරියක් එන්න හේතු වෙන්නෙත් මස් ලේ කය තවදුරටත් ජීවත් කිරීමේ හැකියාව තියෙන කොට. එහෙම කෙනෙකුගෙ කයට නැවත ප්‍රතිකාරයක් කළොත්, පෝෂණය කරගන්න පුළුවන් තත්ත්වයක තියෙනව නම් ඒ පුද්ගලයට බොහෝ කොටම කායික වේදනා දැනෙනවා. වේදනාව කියල දැනුම් දෙන්නෙ තමන්ට ආරක්ෂාව දෙන සංඥාවක්. කර්ම විපාකයක් වුනත් විශේෂයෙන් කායික දුක් වේදනාව දැනෙන්න ඒකත් එක හේතුවක් වෙනවා. එතකොට මානසික දුක් වේදනාව වෙනම එකක්. ඒක අතීත හෝ වර්තමාන හෝ අනාගත හෝ තුන් කාලය හේතු කොට ගෙන ගොඩ නැගෙන කර්ම හෝ විපාක වේදනාවක්. කර්ම වේගයකට කායික දුක් වේදනාව ආවත් ඒක එන්නෙ මරණාසන්න මොහොතෙ විතරයි. මළාට පස්සෙ නෑ. **නමුත් මානසික දුක් වේදනාව සූක්ෂම මනෝ කායිකය ඔස්සේ, ඒ අරමුණු යම් තාක් තියෙන කල් ඒ තුළ ක්‍රියාත්මක වෙනවා. සමහර විට කායික වේදනාව සූක්ෂම කයට දැනෙන අවස්ථාත් තියෙනවා.** එතකොට කායික වේදනාව කියන එක කයේ රැකවරණය සඳහා ස්වභාවයෙනුත් එන්න පුළුවන්. නමුත් සමහරු ඉන්නවා මරණාසන්න මොහොතෙදි කයේ වේදනාව දැනෙන්නෙ නෑ. මොකද කය දුර්වල වෙලා, ස්නායු පද්ධතිය දුර්වල වෙලා.

දැන් මේ හා සමාන දුර්ලභ සිදුවීමක් මීට කාලයකට පෙර වාර්තා වුණා. ඒ කියන්නෙ ස්නායු පද්ධතිය හරියට ක්‍රියා නොකරන ළමයෙක් ගැන. ඒ ළමයගෙ හැම තැනම පිළිස්සුම් ළප කැළැල් තිබුණා. මොකද ඒ ළමයට ස්පර්ශ දැනෙන්නෙ නැති නිසා වටේ පිටේ තියෙන මොනවායින් හරි අත පය පිච්චුනත් දැනෙන්නෙ නෑ. ඒ නිසා පිච්චෙනව ඇස් දෙකෙන් දැක්කොත් තමයි අත පය ඉවතට ගන්නෙ. එහෙම නැත්නම් වේදනාවක් දැනෙන්නෙ නැති නිසා ඔහේ නිකං ඉන්නවා. එතකොට ඒක ලොකු පාඩුවක්. නමුත් පිටින් බැලුවම ළමය හොඳට නිරෝගීව වැඩෙනවා. ඒත් පරිස්සම් කරන්න බොහොම අමාරුයි. එතකොට ඒ ළමයට කායික වේදනාවක් දැනෙන්නෙ නෑ. ඒ නිසා කයට රැකවරණයක් නෑ. නමුත් කායික වේදනාවක් එනව නම් ඒකෙන් ඉවත් වෙන්න උත්සාහ කරන නිසා කයට රැකවරණයක් එනවා. මේ එක ක්‍රමයක්.

මේ විදියට කය දිගටම පවත්ව ගන්න පුළුවන් අවස්ථාවක් තියෙනව නම්, ඒ වෙලාවෙදි තමයි වේදනාව දැනුම් දෙන්නෙ. ඉක්මන් කරල මේකට ප්‍රතිකාරයක් කර ගන්න කියන සංඥාව තමයි ඒ දෙන්නෙ. අන්තිමට කායික ලෙස ඒ වේදනාව ඉක්මවා යන අවස්ථාවක් එනවා. එතකොට දැන් කයත් එක්ක සම්බන්ධ වෙන්න බෑ කියල ඒ පුද්ගලයට දැනෙනවා. ඒ කියන්නෙ කය ඇතුලෙ ස්වභාවික නිර්වින්දන ක්‍රමයක් ක්‍රියාත්මක වෙනවා. කෘතීමව නිර්වින්දනය ☞

කරන්නෙත් යම් කිසි කායික වේදනාවක් නතර කරන්න. එතනදි ස්පර්ශයෙන් එන කායික වේදනාව එකක්, මානසික ස්පර්ශ වේදනාව තව එකක්. ඒක කර්ම වේගයක් හා සම්බන්ධයි. ඒ නිසා ඒක එහෙම ලේසියෙන් නිර්වින්දනය කරල නතර කරන්න බෑ. ඒ නිසා තමයි සමහරු තමන්ගෙ ශරීරයට සැත්කම් කරන කොට උඩ ඉඳන් බලාගෙන හිටිය කියන්නෙ. නමුත් කෙනෙකුට සිහි නැති කරන බේතක් කෘතීමව විද්දම ශරීරයේ කැලි කපන්න කොටන්න පුළුවන්. කිසි වේදනාවක් නෑ. හැබැයි ඒ වගේ නිර්වින්දන ක්‍රමයක් අපේ ශරීරයේ ස්වභාවයෙන්ම හැඳෙන ක්‍රමයකුත් තියෙනවා. ඒක හැදෙන්නෙ කය පවත්ව ගන්න බැරි තත්ත්වයක් ආවොත්.

උදාහරණ විදියට සමහර තදබල පිළිකා රෝගවලදි ඒක හොඳ කරන්න බැරි නම්, මුලින්ම තදබල විදියට වේදනාව තිබිල මරණාසන්න මොහොතෙදි ඒ පුද්ගලයට කායික වේදනාව නැති වෙලා යනවා. නමුත් ඒ රෝගය නිසා කන්න බොන්න බැරිව ඔත්පල වෙලා එන වෙහෙස මහන්සිය තියෙනවා. හැබැයි ඒ රෝගය නිසා කයට එන වේදනාව අන්තිම මොහොතෙ නොදැනී යනවා. නමුත් සමහර අයට කැපෙනවා, කෙටෙනවා වගේ දැනෙනවා. හමුදාවෙ ඉන්න සමහර අයට මේ වගේ අත්දැකීම් හුඟක් තියෙනවා. ඒ අයට වෙඩි වැදිල කැලි කැපෙන අවස්ථා තියෙනවා. ඒ වගේ වෙලාවක වැදිච්ච කැල්ල කපල දාල යන්නත් ඒ අයට හැකියාව තියෙනවා. ඒක ලේසි වැඩක් නෙවෙයි. නමුත් පුරුදු කරල තියෙන විදියට ඒ වේදනාව උහුල ගෙන ඉන්නවා. සමහර වෙඩි වැදිච්ච, කැපිච්ච අයගෙන් ඇහුවොත් දැනුනද කියල, දැනුනෙ නෑ කියනවා. මාරාන්තික හෝ ඒ ඉන්ද්‍රිය පවත්වන්න බැරි තත්ත්වයකදි තමයි ඒක වෙන්නෙ. හැබැයි ප්‍රතිකාර කරන කොට ඒ අයට හොඳ කර ගන්න පුළුවන් තත්ත්වයක් එනව නම්, අන්න ඒ මට්ටමට එන කොට කලින් නැති ලොකු කායික වේදනාවක් දැනෙනවා.

දැන් මේ කිව්වෙ මරණාසන්න මොහොතෙදි එන කායික වේදනාව ගැන. හැබැයි මේ මොන අවස්ථාවෙ වුනත් මානසික වශයෙන් නම් පුද්ගලයට ලොකු කම්පනයක් එනවා. ඒ තමයි මානසික වේදනාව. ඒ වෙලාවෙදි එන මානසික වේදනාව, කායික වේදනාවට වඩා වැඩියි. මොකද පුද්ගලයෙක් ''මම, මගේ'' කියන දෘෂ්ටියෙන් දැඩි විදියට ලෝකයට බැඳිල ඉන්න නිසා. ඒ වගේම වේදනාව පිළිබඳව සංඥාව දැනෙන්න වුනොත් ඒකත් මනෝමය කය ඇසුරු කර ගෙන එනවා. **''මම'' කියන්නා වූ පළවෙනි බැඳීම විනාස වෙන්න යෑම තමයි ලොකුම මානසික වේදනාව. ඒකට අනිත් ආධාරය තමයි තමන්ගෙ කය කියන දෙවන බැඳීම විනාස වෙන්න යෑම. මේ බැඳීම් දෙක නිසා පුද්ගලයා ඒ වෙලාවෙ විසාල මානසික දාහයකට පත් වෙනවා.** චුත වෙන්න නිමිත්තක් නැති නිසා තමන්ගෙ කය සහ මනස එතනදි ''මම, මගේ'' කියන හැඟීමෙන් අල්ල ගෙන තියෙන්නෙ. බැරි වෙලාවත් ඒ පුද්ගලයගෙ හිත තදින් පැරිලා ගියොත් එහෙම, අනේ කොහොමද මං මේව දාල යන්නෙ! මට මොකද මේ වුනේ කියල වික්ෂේප මානසිකත්වය වැඩි වෙන කොට ඒත් එක්කම මානසික දාහයත් වැඩි වෙනවා. එතකොට ඒ මනුස්ස ගතිය ඉක්මවා ගියොත් එහෙම මනුස්ස භවයෙන් චුත වෙනවා. එහෙම වුනොත් කර්ම, කර්ම නිමිති, ගති නිමිති කියන තුනෙන් එකක් ක්ෂණිකව ඇදිල එනවා. එතකොට ඒ පුද්ගලයට ප්‍රධාන කාරණය වෙන්නෙ අර කායික වශයෙන් ආපු ප්‍රශ්නය මුල් කර ගෙන ''මම, මගේ'' කියල අල්ල ගත්තු දැඩි බැඳීම අත හැරල යන්න වෙනව කියන එක. **එහෙම දෘෂ්ටිගත වෙලා බැඳිල හිටියොත් ඒකාන්තයෙන්ම ප්‍රේත භවයකට තමයි යන්නෙ.**

පසුගිය කලාපයෙන් විස්තර කරපු ඔසුපත් නරකය වගේ තැන්වලට යන්නෙ, ඒ වෙලාවට තමන් මේ මේ ජාතියේ අසාධාරණකම්, පස් පවු කළානෙ කියල මතක් වුනොත් තමයි. එතකොට ඒ මතකය ආසන්න කර්මය විදියට ඇදිල එනවා. ඒ වගේ කෙනෙක් මැරෙන කොට මානසිකත්වය ප්‍රකෘතිමත්ව තිබිල ඒ පුද්ගලයට දැනුනොත්, මම මැරෙන්න තමයි එන්නෙ කියල, අන්න ඒ වගේ වෙලාවක ''හරි වැඩේනෙ! මම මෙහෙම දේවල් මෙච්චර කරල තියෙනවනෙ! මං යහපතක් කරල නැනෙ!'' මේ ආදී වශයෙන් අදහස් මොහොතකින් ඇදිල එනවා. එතකොට මහ වික්ෂේපයකට, දාහයකට පත් වෙනවා. එතනදි අපොයි කියන අදහස නෙවෙයි එන්නෙ. ඒ කියන්නෙ යම් කිසි විදියකට ප්‍රාණ ඝාත වගේ මොනව හරි දස අකුසලයක් සිද්ධ කරල තිබුණ නම්, අනේ අපොයි මං කරගත්තු දෙයක් කියල පශ්චාත්තාප වීමක් නෙවෙයි වෙන්නෙ. මොකද එහෙම පශ්චාත්තාප වීමක් එනව කියන්නෙ ඒකෙ ආදීනවයන් දැකල, තමන් ඒක පාපයක් විදියට දැකල ඒ දෘෂ්ටියෙන් අහක් වෙනවයි කියන එක. නමුත් එහෙම දෙයක් නෙවෙයි මේ කියන්නෙ. **අර විදියට මතක් වෙන කොට ඒ පුද්ගලයට අධික බයක් එන්න පටන් ගන්නවා. එක පැත්තකින් තමන් ''මම, මගේ'' කියල අල්ල ගත්තු ඒව දාල යන්න බෑ. පෙළක් උදවිය ඒ වගේ වෙලාවට අඬ ගහලම කතා කරනවා.** ''ළමයට කවුද ඉන්නෙ? මහත්තයට කවුද ඉන්නෙ? නෝනට කවුද ඉන්නෙ? මං නැති වුනාම ඒ අය අනාථ වෙනවනෙ....'' මේ වගේ විවිධ අයට මමත්වය මුල් කර ගෙන විවිධ අදහස් එනවා. ඒ වගේම සමහර විට පුද්ගලයට තරහක් එනවා, ඊර්ෂ්‍යාවක් එනවා. ''දැන් මුං සද්ද නැතිව ඉන්නෙ මං මැරෙන කල්නෙ!'' මෙන්න මේ විදියෙ අදහස් හිතින් මවා ගන්නවා.

යම් කිසි කෙනෙක් මේ විදියට ''මම, මගේ'' කියල බඳා ගැනීම බලවත් වුනොත් ඒ හේතුවෙන් චුත වෙන්න පුළුවන්. එතකොට ඇදිල එන්නෙ ආසන්න කර්මයක්. ඒ කියන්නෙ ඒ මොහොතෙදි ඇදිල ඇවිත් ක්‍රියාත්මක වෙන එකක්. ඊළඟට ආචින්න කර්ම කියල නිතර පුරුදු කරපු ඒවත් ආසන්න කර්ම වශයෙන් ඇදිල එන්න පුළුවන්. ගරුක කර්ම වුනත් එහෙමයි, ආසන්න වශයෙන් ඇදිල එන්න පුළුවන්. මේ විදියට කර්ම වේග එන ක්‍රමයක් තියෙනවා. මේ කොයි ක්‍රමයෙන් හරි චුත වෙන්න නම් ආසන්න කර්මයක් නිර්මාණය වෙලා ඇදිල එන්න ඕන. දැන් ඉතින් මේ විදියට **භවයෙන් චුත නොවී චුති-පටිසන්ධි නොලබපු කෙනෙක් අර හිටපු මනුස්ස භවයෙන්ම ගන්ධබ්බ විදියට නැවතත් තමන් හිටපු ගෙදරට යනව, එනවා. ''මට යන්න තැනක් නෑ, අනේ මම කොහේ යන්නද? මේ එකෙක්වත් මට සැලකුවෙ නෑ'' මේ ආදී වශයෙන් අනික් අය දිහා බලාගෙන දත් මිටි කාගෙන අඬනවා.** මෙන්න මේ විදියට සැරි සරන අවස්ථාවක් ගැන තමයි බුදුන් වහන්සේ තිරෝකුඩ්ඩ සූත්‍රයෙන් පෙන්නුවෙ. මේ වගේ අසහනයෙන් මැරිල කොච්චර නම් කාලයක් ඉන්නවද, ඒ තාක් මේ අය අනේ මට වෙච්ච දෙයක්! කවුරුවත් සැලකුවෙ නෑ ... ආදී වශයෙන් හූල්ල ගත්තු ගමන්මයි ඉන්නෙ.

ඉතින් මේ මස් ලේ කය මැරිලත් චුත වෙලා නැත්නම්, ඊළඟට ඒ ගන්ධබ්බ අවස්ථාවෙ ඉඳන් තමන්ට අසාධාරණකම් කරපු අයගෙන් පළි ගන්න බලනවා. විවිධාකාර කරදර කරනවා. ඒ වගේම පුද්ගලයෙක් මැරිල චුති- පටිසන්ධි නොවී නැවතත් මිනිස් වෙලා උපන්නොත් ඒ ගති ලක්ෂණ නැවතත් ඇදිල එන්න පුළුවන්. නමුත් චුති-පටිසන්ධි වෙලා වෙනත් භවයක උපන්නොත් ඒව අමතක වෙනවා. එතකොට ආගන්තුකයෙක් වගේ අලුතින් පරිවර්තනය වෙනවා. නමුත් අර විදියට චුති-පටිසන්ධි නොවී මස් ලේ කයින් නිකං අහක් වෙන අයට එහෙම පරිවර්තනයක් නෑ. ඒ අයගෙ කය මළාට මනෝන්ද්‍රිය පරපුර ක්‍රියාත්මක වෙනවා. මනෝන්ද්‍රියත් එක්කම සූක්ෂම කයකින් ඉන්නවා. ඒ නිසා ජීවත් වෙලා ඉදෙද්දි කරපු කියපුවා ඔක්කොම මතකයි. ඒ සූක්ෂම කායිකයා තමයි හතර මං හන්දිවල, අගුපිල්වල, ගෙවල්වල බිත්ති අතර, දර මැහිවල ඉන්නෙ. ඥාති ප්‍රේත කියන්නෙත් ඒ අයට. එහෙම ඉඳගෙන සැහෙන්න දැවෙනවා. ජීවත් වෙලා ඉන්න කෙනෙක් ඒ අයට බනින්න පටන් ගත්තොත් ඒකත් දරා ගන්න බෑ. **ජීවත් වෙලා ඉන්න මනුස්සයො ඒ පුද්ගලයා මැරිල කියල කිව්වට, ඒ** ☞

**අයට නොපෙනෙන්න ඒ මැරිච්ච අය ජීවත් වෙනවා. අපි කියන, කරන දේවල් ඔක්කොම ඒ අයට ඇහෙනවා, පේනවා.** අපි මොනව හරි ඒ අය ගැන කිව්වොත් ඒකත් ඒ අයට ඇහෙනවා. එහෙම ඇහෙන නිසා තමයි ඒ අයට පිං අනුමෝදන් වෙන්න පුළුවන් වෙන්නෙත්.

දැන් මෙතනදි මේ කාලෙ බොහොම වැදගත් වෙන කාරණයක් තියෙනවා. යුද්දෙන් මියගිය හමුදාවෙ උදවියට පින් අනුමෝදන් කිරීමේ පිංකම් කියල අද රටේ හුගක් තැන්වල විවිධ පිංකම් සිද්ධ කරනවා. එතකොට ඒ අයව හඳුන්වන්න පුරුදු වෙලා ඉන්නෙ සටන් කරපු වීරයො, රණවිරුවො කියල. එහෙම කියල තමයි පිං දෙන්නෙ. මෙන්න මෙතනදි මේ පිං අනුමෝදන් කරවන අයවත්, ඒ අයගෙ ඥාති හිතමිත්‍රාදීන්වත් නොදන්න දෙයක් සිද්ධ වෙනවා. මොකද ඒ මියගිය අය බොහෝ විට චුත වෙලා නෑ. අර හිටපු මනුස්ස ස්වභාවයෙන්ම ගන්ධබ්බ ලෝකෙ සූක්ෂම කායිකව තමයි බොහොමයක් උදවිය ඉන්නෙ. ඒ නිසා තමයි මරණයත් එක්කම හැම පුද්ගලයෙක්ම චුත වෙන්නෙ නෑ කිව්වෙ. ඒ වගේ අයට වීරයො කියල පිං අනුමෝදන් කරන්න ගියාම මොකද වෙන්නෙ, ඒව අහගෙන ඉන්න ඒ අය, අපි වීරයො, වීරකමක් කළැයි කියල මානසිකත්වයක් හිතට ගන්නවා. ඒ කියන්නෙ තවත් කට්ටියකට පහර දීල, මරල යටත් කර ගත්තැයි කියන එකට තමයි වීරකමක් කළයි කියල හිතා ගෙන ඉන්නෙ. යුද්දෙ පැවති අවස්ථාවෙදි ඒ තිබ්බ තත්ත්වය අනුව, මිනිස්සු විඳපු පීඩාවලින් බේර ගන්න ඒ අය වීරකමක් කළැයි කියල ලෞකිකත්වය තුළ පෙනුනත්, දහමට අනුව ඒ වඩපු සංඛාර දස අකුසල්වලටමයි අයිති වෙන්නෙ. තිත්ත වුනත් ඒක තමයි ඇත්ත කතාව. ඉතින් ඒ කරපු ක්‍රියාවලිය වීරකමක් කියල ඒ අයට අදහස් දුන්න ගමන්ම, ගන්ධබ්බ ලෝකවල ඉන්න ඒ අයට වීරත්වයක් හිතට ආරෝපනය වෙනවා. නමුත් පාප ක්‍රියාවලියක් වීරත්වයක් විදියට හිතට ගත්තොත් ඒ අය අපායට යනව කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒක සාමාන්‍ය නැණ නුවණක් තියෙන කෙනෙකුට වුනත් වටහා ගන්න පුළුවන් දෙයක්. අවාසි වෙයි කියල මේ කාරණය අද හැංගුවත් යථාර්ථය ඕකයි.

හැබැයි මෙතනදි සතර අපා ගත මට්ටමට යනවයි කියන්නෙ, කිසිම සාධාරණ හේතුවක් නැතිව මිනිස්සු මැරීමේ පාප චේතනාවෙන්ම, එහෙම නැත්නම් තවත් පිරිසක් පාගා දැමීමේ චේතනාවෙන්ම යුද්ධ කළොත් තමයි. **නමුත් එක්තරා මට්ටමක දැහැමි සාධාරණ පිරිසට සුවසේ ජීවත් වෙන්න මග පාදා දීම සඳහා සාධාරණයක් ඉෂ්ට කරන බලාපොරොත්තුවෙන්, වෙනත් කර කියා ගන්න දෙයක් නැතිකමට යුද්ධ කරපු උදවියට එහෙම තත්ත්වයක් උදා නොවුනත්, ඒ කාරණය උළුප්පල වර්ණනා කළොත් මොකද වෙන්නෙ, ඒකෙ විපාකය විදියට ඒ ගන්ධබ්බ ලෝකවල ඉන්න ඒ අයට පිං අනුමෝදන් වෙන්න බැරිව යනවා.** එතකොට ඒ දුක්ඛිත ගන්ධබ්බ අවස්ථාවෙන් මිදෙන්න බැරිව යනවා. මොකද පාපයක් වීරත්වයෙන් හිතා ගත්තම පිං අනුමෝදන් වෙන්න බෑ. එහෙම අනුමෝදන් වෙන්න නම් ඒ වෙලාවෙදි සුද්ධ මානසිකත්වයක් නැගෙන්න ඕන. ඉතින් කොච්චර රණ විරුවො කියල පිං දුන්නත්, ඒ පිං ඒ අයට අනුමෝදන් වෙන්න බෑ. මේ නිසා ඒ මියගිය හමුදාවෙ අය බොහොමයක් අද වෙන කොට ලොකු අසරණ තත්ත්වයකට පත් වෙලා ඉන්නෙ. නමුත් ඒ කාරණය මෙහේ ඉන්න උදවිය දන්නෙ නෑ. මොකද දැන ගන්න විදියක් නෑ.

ඒ නිසා පිං අනුමෝදන් කරන්න ඕන නිවැරදි ක්‍රමය ඕක නෙවෙයි. **මින් මතු මේ වගේ අනාථ යුද්දෙකට කොටු නොවන, සාමය සමාදානය ඇති වන පිරිසක් වේවා කියල, ඒ අයගෙ නම් ගම්**



**සිහි කරල ඒ කාරණයේ ස්වභාවය ධර්මානුකූලව පෙන්වල පිං අනුමෝදනාව සිද්ධ කළා නම් ඒ අයට ඒක දැනෙන්න පටන් ගන්නවා.** යුද්ද කරල ගහ මරා ගැනීම වීරත්වයක් නෙවෙයි කියල පෙන්වන කොට, ඒ අයගෙ තියෙන ''අපි රණවිරුවො'' කියන මානසිකත්වය වෙනස් වෙනවා. මොකද මේ ලෞකිකත්වය තුළ ඉඳගෙන අපි මෙහේ රණවිරුවො කියල කිව්වට, ඒ අය දැන් ගන්ධබ්බ ලෝකවල ඉඳ ගෙන දුක් විඳිනවා. රට ජාතිය බේර ගන්න සටන් කරපු වීරයන්ට අපි පිං දෙනව කියල කියන කොටම, ඒ අයගෙ ඒ දුබල මානසිකත්වයට මාන්නක්කාරකමක් ඇවිත් ඒක මනසට කාවදිනවා. ඒ කියන්නෙ ද්වේශ මානසිකත්වය රජ කරනවා. එතකොට නැගෙන්නෙ ව්‍යාපාද නීවරණය මුල් කර ගෙන දේශප්‍රේමීන් කියන්නා වූ කාමච්ඡන්ද කියන නීවරණය. ඒ නීවරණ අහක් නොකර මොන ජාතියේ මහ පිංකම් කරල පිං දුන්නත් වැඩක් නෑ, ඒ අයට අනුමෝදන් වෙන්න බෑ. මොකද ඒ නීවරණවලින් මනස වැහෙනවා. එතකොට නැවතත් මතකයට එන්නෙ අපි විශේෂ අය, වීරකම් කරපු අය කියන හැඟීම. ඉතින් අනාථ තත්ත්වයෙන් මිදෙන්න බැරිව යනවා. මොකද චුති-පටිසන්ධි නොවී ගන්ධබ්බ තත්ත්වයෙන් ඉන්න නිසා, පෙර කරපු දේවල් ගැන මතකය අඩුවක් නැතිව තියෙනවා. **කෙනෙක් කරපු පාප ක්‍රියාකාරීත්වයට වීරත්වයක් ආරූඪ කළාම ඒ පුද්ගලය තවත් අනාථයට වැටෙනව මිසක් ගොඩ යෑමක් නෑ.** ඒ නිසා මේ කාරණය යථාර්ථවත්ව තේරුම් අර ගෙන, මීට පස්සෙවත් මේ කියපු විදියට පිං අනුමෝදන් කිරීමෙන් ඒ අය ඉන්න අසරණ අනාථ තත්ත්වයෙන් මිදෙන්න හේතු වෙනවා.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එදා එහෙම යුද්ධ කරල ත්‍රස්තවාදීන් පරාජය නොකළ නම්, අද අපිට නිදහසේ ඔළුව උස්සන්නවත් විදියක් නෑ, එහෙම යුද්ද කරපු අය කොහොමද පාපයකට සම්බන්ධ වෙන්නෙ කියල. එහෙම පරාජය නොකළ නම් අද අපිට මෙහෙම නිදහසේ ඉන්න බෑ කියන කාරණය ඇත්ත. නමුත් ඒක වෙනම කතාවක්. එහෙම **යම් කිසි සාධාරණයක් බලාපොරොත්තුවෙන් යුද්ද කරන අයත් ඉන්න නිසා තමයි යුද්ද කරන හැමෝම අපායට යන්නෙ නැත්තෙ. කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියන පිං පවු දෙකම එතනදි ක්‍රියාත්මක වෙනවා. නමුත් සාධාරණත්වය වෙනුවෙන් හරි ගහ මරාගෙන ඒකට වීරත්වයක් ආරෝපනය කරන්න ගියාම පැහැදිලිවම පාපයට සම්බන්ධයි. තමන් අතින් වෙච්ච පාප කොටස නැවත අනුමෝදන් වීමක් තමයි එතනදි වෙන්නෙ.** ඒකෙන් ඒ අය තවත් අනාථ වෙනවා. ඒ නිසා ඒකට වීරත්වයක් ආරෝපනය කිරීම නෙවෙයි කරන්න ඕන, මින් මතු එවැනි තත්ත්වයක් ඇති නොවේවා කියල, සාසනය මුල් කර ගෙන සිදු කරන යහපත් පුණ්‍ය කටයුතුවලට හිත යොමු කරල චිත්ත ප්‍රසාදය මතු කිරීම. මේ වෙන කොට සැඟවිලා තියෙන මේ කාරණය මේ විදියට එළිදරව් කළේ, පසුගිය කාලයෙත් දැනටත් රට පුරාම මේ මියගිය රණවිරුවො සිහි කරන්නයි කියල නොයෙක් ආකාරයෙන් කරන පිංකම්, බුද්ධ දේශනාවට අනුව නිවැරදි ආකාරයට සිද්ධ කිරීමෙන් ඒ මිය පරලොව ගියපු තමන්ගෙ ඥාති හිතමිත්‍රාදීන්ට යහපතක් සිද්ධ වෙලා සුගතිය අත් පත් වේවායි කියන හැඟීමෙන්.

එතකොට පොදුවේ මේ විදියට චුති-පටිසන්ධි නොවෙච්ච අය දැන් ගන්ධබ්බ ලෝකවල ඉන්නෙත් මෙහේ හිටපු ආකාරයෙන්ම ඒ මානසිකත්වයෙන්. එදා ඒ අය කරපු කියපු දේවල්වලට අනුව අද දැවෙනවා, තැවෙනවා. දැනුත් ඒ තත්ත්වයෙන් මිදෙන්න විදියක් නෑ.

ඒ නිසා යහපතක් කළොත් හේතු වාසනා තියෙන අයට ඒක දකල සතුටු වෙන්න පුළුවන්. හැබැයි අර විදියට මිනිස් ගතිය ඉක්මවන තරමට මානසිකත්වයක් ආවොත් ඒ ගන්ධබ්බ තත්ත්වයේ ඉඳෙද්දීම චුත වෙලා ඒ පැත්තට පටිසන්ධි අල්ලනවා. එතකොට ඒ වගේ අයගෙ චුතිය මස් ලේ කය මැරෙන මොහොතෙ නෙවෙයි සිද්ධ වෙන්නෙ. ජවනතා (චුත වෙන තත්ත්වය, ස්වභාවය) කිව්වෙ ඒකයි. චුතිය කිව්වෙ මනුස්සයෙක් නම් මස් ලේ කය මැරෙන මොහොතෙ චුත වීම. චුත වෙන භවක් වේද, ඒක ජවනතා කියල පෙන්වනවා. ඒ කියන්නෙ මස් ලේ කය මළාට පස්සෙ ඒ භවයෙ ඉඳගෙනම චුත වෙනවා. යා චුති ජවනතා භේදො අන්තර්දානං කලේහරස්ස නික්ඛෙප්පො මච්චු මරණං .... අයං වුච්චති භික්ඛවේ මරණං කියල, මේ මරණය ගැන විවිධාකාරයෙන් විග්‍රහ කරල තියෙනවා. ඉස්සෙල්ලම පෙන්වන්නෙ මැරෙන කොට චුත වෙලා පටිසන්ධි ලබන මොහොත. ඊළඟට ජවනතා කියන්නෙ දෙවන අවස්ථාව. ඒ කියන්නෙ භවයෙදි චුත වෙන අය. වෙනත් විදියකින් කියනව නම්, ගන්ධබ්බයා කාලයක් යන කොට පිනක් අනුමෝදන් වෙලා හෝ භවයට හිමි කර්ම ශක්තිය ගෙවිල හෝ චුති-පටිසන්ධි ලබන අවස්ථාව. මස් ලේ කයින් බිඳිල ගන්ධබ්බ වෙච්ච අවස්ථාව තමයි භේදො කිව්වෙ. ඒ කියන්නෙ හදිසියේ කය බිඳිල ගියා.

ඒ වගේ මරණය සිද්ධ වෙන විවිධ ක්‍රම තමයි මේ පෙන්වන්නෙ. එතනදි ජවනතා හෙවත් චුත වෙන භව කියන කාරණය සූත්‍ර පිටකයේ සුදුසු තැන්වල පෙන්වල තියෙනවා. චුත වුනා නම් ඒකාන්තයෙන්ම ඊළඟ උපතක් එනවා. චුතූපපාත කිව්වෙ ඒකයි. චුතියයි, උප්පත්තියයි කියන එක. එතකොට පටිසන්ධිය කියල පෙන්වන්නෙ බොරුවක් නෙවෙයි. සිත පිළිබඳ ඉතා සියුම් විග්‍රහයක් කරන කොට, අංශු මාත්‍ර චිත්තයක් ගානෙ චිත්තක්ෂණය කියන්නෙ මොකක්ද කියල, ඊළඟ චිත්තක්ෂණ හැදෙන ක්‍රියාවලිය ආදී වශයෙන් මෙහෙම අති සූක්ෂම විග්‍රහයක් තමයි ඒ පෙන්වන්නෙ. ඒ අති සූක්ෂම විග්‍රහය චුති-පටිසන්ධි කියල පෙන්වන්නෙ. නමුත් පසු කාලෙක ආචාර්යවාද වශයෙන් ලියපු අය තමයි ඒකට මරණාසන්න චිත්ත වීථිය කියල ලිව්වෙ. ඒ කියන්නෙ මැරෙන කොටම අනිවාර්යෙන් චුතියක් වෙනවයි කියල. නමුත් ඒක බුද්ධ දේශනාව තේරුම් ගන්න බැරිව ලියපු ආචාර්ය වාදයක්. ඒ අදහස් දන් ඉන්න අය අතරටත් ඇවිත් තමයි, මැරෙනවත් එක්ක හැම කෙනෙකුටම චුති-පටිසන්ධියක් ලැබෙනවාමයි කියන අදහසේ සමහරු ඉන්නෙ. මෙතනින් චුත වෙන කොටම බඩේ පටිසන්ධි වෙනව කියල පටලවා ගෙන.

ඊළඟට අද කාලෙ මේ විදියටත් හිතන බොහොමයක් උදවිය ඉන්නවා. ''අපි කාටවත් වරදක් කරන්නෙ නෑ, පවු කරන්නෙ නෑ, මල් පහන් පූජ කරනවා, හැම පෝයටම සිල් ගන්නවා, ඒ නිසා අපි නම් අපායෙ යන්නෙ නෑ.'' දන් මේ වගේ අයගෙන් සමහරෙකුට මරණාසන්න අවස්ථාවෙදි කොහොමද දනෙන්නෙ? තමන් කිසිම වරදක්, පාපයක් කරන්නෙ නෑ කියල ඒ අය මතු පිටින් හිතාගෙන හිටියට, මේ ලෝකෙට අධික ඇලීමෙන් ඉන්න බව ඒ අය දන්නෙ නෑ. ඒක පාපයක් කියල දකින්නෙත් නෑ. මොකද මතුපිටින් පේන්න නෑ. මෙන්න මෙතන තමයි අපි දකින්නෙ නැති පැත්ත.

උදාහරණ විදියට ලෝක සම්මතයේ කාටවත් වරදක් නොකර හොඳින් ඉන්න කෙනෙක්ගෙ ගෙදරට පොලිසියෙන් ආව කියල හිතමු. එතකොට ඒ ගෙදර ස්වාමි පුරුෂයා, භාර්යාව, දූ දරුවො, ආච්චි, සීය ආදී පිරිස ඉන්නවා. දන් පොලිසිය ඇවිත් මොනව හරි වරදක් කියල, ඒ ගෙදර ස්වාමි පුරුෂයා මාංචු දාල එක්කගෙන යන කොට, ඒ ගෙදර උදවියගෙ අදහස කොහොමද? දන් අර අවස්ථාවෙ සුද්ධවන්තව, කාටවත් වරදක් නොකර ඉන්නවයි කිව්ව අයගෙ පවුලෙ ඉන්න කෙනෙක් අල්ල ගෙන යන කොට ඒ අයගෙ හිත්වලට මොකද වෙන්නෙ? මොකක්ද ඇති වන හැඟීම? ''මේ මොන හෙණ ගහන අපරාධයක්ද? ඇයි අපිට කරදර කරන්නෙ? මම අල්ල ගෙන ගියාම මගේ ළමයින්ට, භාර්යාවට මොකද වෙන්නෙ? කවුද ඒ අය බලාගන්නෙ? මේක මහ හෙණ ගහන අපරාධයක්.'' දන් මේ වගේ අඳෝනා ගොඩයි. ගෙදර ඉන්න උදවියත් විවිධ අඳෝනා නගමින් කෑ ගහනවා, ඇඟේ එල්ලෙනවා. ''ඇයි මේ මොන වරදක් කළාටද අපේ එක්කෙනාව එක්කගෙන යන්නෙ? මොන තරම් හෙණ ගහන අපරාධයක්ද මේ වෙන්න යන්නෙ? මොන ගින්නක්ද අපිට මේ පත්තු වුනේ?'' දන් මේ විදියට මහ වික්ෂෝපයක්, ගින්නක් හට ගන්නවා.

හැබැයි මේ මරන්න ගෙනියනවත් නෙවෙයි, මොනව හරි වරදක් කියල කට උත්තරයක් ගන්න වගේ පොඩි දේකට තමයි එක්ක ගෙන යන්නෙ. එතකොට ඒ **වගේ පොඩි වෙනස් වීමකදිත් ඇති වන දාහය, හිත් දූෂ්‍ය වීම, වික්ෂෝපය ඔහොම නම්, මරණාසන්න මොහොතෙ සදහටම තමන්ගෙ ඥාති හිතමිත්‍රාදීන්, දේපල වස්තුව දාල යන්න වුනොත් කොච්චර නම් වික්ෂෝපයක්, දාහයක් ඇති වෙයිද? හැබැයි කරුණු හොයල බැලුවම මේ අය උදේ හවස මල් පහන් පූජ කරනවා, සත්තු මරන්නෙ නෑ, හොරකම් කරන්නෙ නෑ, කාමයේ වරදවා හැසිරෙන්නෙ නෑ, බොරු කියන්නෙ නෑ, මත් පැන් පානය කරන්නෙත් නෑ, කොටින්ම පංච දුස්චරිත මුකුත්ම කරන්නෙ නෑ.**

එතකොට මොකක්ද මේ දාහය, වික්ෂෝප බව? ජීවත් වෙලා ඉන්න කෙනෙක් පොඩ්ඩක් එහාට මෙහාට කරන කොටත් ඇති වන ගින්න ඔහොම එකක් නම්, ඒකාන්තයෙන්ම මැරෙනව කියල දනුනොත් එන මානසික ගින්න කොහොම එකක්ද? තමන්ගෙ අඹු දරුවො ඇතුළු මුළු සේසතම දාල යන්න වෙනව කියල දනගත්තොත් මහ විසාල දාහයකට පත් වෙනවා. **එතකොට ඇදිල එන්නෙ අර උදේ හවා මල් පහන් පූජ කරපු ගති ලක්ෂණය නෙවෙයි, අන්න අර ''මම, මගේ'' කියල අල්ල ගත්තු ලෝකය ගැන තියෙන සිතිවිල්ල. නමුත් ඒ කාරණය ජීවත් වෙලා ඉඳෙද්දි දකින්නෙ නෑ. ඒ නිසා තමයි කියන්නෙ, කොච්චර පිං කළත් ඒ පුද්ගලයගෙ චුතිය කොහොමද කියල ඒකෙන් නිගමනය කරන්න බෑ කියල. දන් මොනව කළත් චුතිය තීරණය වෙන්නෙ අවිද්‍යා, තණ්හා දෙක අනුව. ඒ අවිද්‍යා, තණ්හා දෙක නිසා පුද්ගලය හිතන්නෙ නෑ, මේ තමන්ගෙ පිරිසගෙන් තමන්ට වෙන් වෙන්න වෙනව කියල.**

මේ කාරණය ඔප්පු වෙන තැනක් ධර්මයේ සඳහන් වෙනවා. වතාවක් මරණාසන්න අවස්ථාවක හිටපු උපාසක මහත්තයෙකුට සැරියුත් මහ රහතන් වහන්සේ වැඩම කරල මේ විදියට ධර්මයක් දේශනා කළා. දන් ඔබට මේ වෙලාවෙදි භාර්යාව සහ දරුවන් ගැන මතක් වෙලා සෝකයට සංවේගයට පත් වුනොත් ප්‍රේත අත්බැවක් ලැබෙනවා. භාර්යාව සහ දරුවන් ගැන හිතුවත් නැතත් ඔබ ඒකාන්තයෙන්ම මැරෙනවා. සෝක සංවේග වුනා කියල ඔබට ඒ මරණයෙන් බේරෙන්න බෑ. ඒ නිසා ඒ අදහස අස් කර ගන්න කියල අන්තිමට බඹ ලොවට යනකල්ම හිත සකස් වෙන විදියට ධර්ම දේශනා කළා. ඊට පස්සෙ උන් වහන්සේ නැවතත් බුදුන් වහන්සේ හමුවෙන්න වැඩියා. එතකොට බුදුන් වහන්සේ අහනව, ඇයි ඉතිරි ටිකත් ඉවර කරල නාවෙ කියල. ඒ කියන්නෙ අරිහත් ඵලය ලැබෙන කල්ම බණ නොකිය ආවෙ කියල. ඉතින් මේ උපාසක මහත්තය අන්තිමට අනාගාමී වෙලා බඹ ලොව තමයි උපන්නෙ. දන් මේකෙන් පැහැදිලිවම පේනවා, අඹු දරුවන්ට ආසාවෙන් උපාදාන වෙලා ඉඳල ඒ සංවේගයෙන් මළොත් ප්‍රේත අත්බැවකට යන්න වෙනව කියල. හැබැයි ඒ මරණාසන්න වෙලාවෙ බණ අහල තමයි ඒ උපාසක මහත්තයට මග ඵල අවබෝධ වුණෙත්. ඒ කියන්නෙ ඒ වෙනකල්ම ඔහු මග ඵල අවබෝධ කර ගෙන ඉඳල නෑ. මොකද මග ඵල ලාභියෙක් නම් ප්‍රේත අත්බැවකට යන්න විදියක් නෑ. එහෙනම් සැරියුත් හාමුදුරුවො අර විදියට දේශනා කරන්නෙ නෑ. ඒ අවස්ථාවෙදි උන් වහන්සේ බණ දේශනා කරන කොට ඔහුට යථාවබෝධය ලැබුණා.

සබ්බේපි මේ ප්‍රියේහි මනාපේහි නානා භාවෝ විනා භාවෝති පබ්බජිතේන අභිණ්හං පච්ච වෙක්ඛි සබ්බං ..... මේ සියලු ප්‍රිය මනාප භාවයෝ නානා භාවයට හෙවත් නොයෙක් නොයෙක් අනාත්‍යතාවයන්ට, අනිච්චතාවයන්ට පත් වෙනවා. විනා භාවෝ කිව්වෙ වැනසිලා යනව කියන එක. මේ තමයි ප්‍රිය මනාපයන්ට අත් වෙන ඉරණම, ඒවායේ ස්වභාවය. අනිච්ච, දුක්ඛ, අනත්ත ගැන තමයි මේ කියන්නෙ. ප්‍රිය මනාපයෙන් වෙනස් තත්ත්වයකට පත් වෙනවයි කියන්නෙ අප්‍රිය අමනාප තත්ත්වයට පත්වීම. ප්‍රිය මනාපය බිඳිල විනාස වුනාට පස්සෙ අනාත වෙනවා. හට ගත්තු දෙයක් කිසිම හරයක් නැතිව බිඳිල යනවා. ඒ නිසා තමයි අසාරයි කිව්වෙ. මේ තමයි අසාර දේක, අනාත දේක ස්වභාවය. ඉතින් අසාර දෙයක් සාරයි කියල හිතා ගත්තොත් මොකද වෙන්නෙ? මහ මුලාවක්. ඒ නිසා ඒ ත්‍රිලක්ෂණයෙන් කියන ස්වභාවය තමයි නිතර මෙනෙහි කරල බලන්න කිව්වෙ. මේ සියලු ප්‍රිය මනාපයෝ වෙනස් තත්වයට පත් වුනාම, අපි බලාපොරොත්තු වෙන ආකාරයට තියෙන්නෙ නෑ, කැමති සේ පවතින්නෙ නෑ. ඒකාන්තයෙන්ම කැඩිල බිඳිල විනාස වෙන කොට දුක් දෙනවා. ඒ නිසා ඒවා කවදාවත් වටිනා වස්තු නෙවෙයි. කොයි මොහොතෙ ඒ විනාස වීම සිද්ධ වෙයිද දන්නෙ නෑ. පබ්බ ජිතේන කිව්වෙ පැවිද්දෙක් නම් මේ කාරණය සිහි කරන්නම ඕන කියන එක. එහෙම වුනොත් තමයි ඒ තත්ත්වයෙන් බේරෙන්න පුළුවන් වෙන්නෙ. ඉතින් එහෙම බේරෙන්නෙ නැත්තෙ මොකද, අර වගේ පොඩි දේකටත් තියෙන ඇල්ම නිසා.

දැන් මේ කාරණය ඔප්පු වෙන තවත් පැහැදිලි තැනක් විනය පිටකයේ තියෙනවා. එක්තරා භික්ෂූන් වහන්සේ නමකට අලුත් සිවුරක් ලැබුණා. ඒක පොරව ගෙන ඉන්න කොට උන් වහන්සේ අපවත් වුනා. ඊට පස්සෙ ඒ කාලෙ තිබිච්ච සිරිත අනුව ඒ සිවුරෙන්ම උන් වහන්සේගෙ සිරුර ඔතල අමු සොහොනකට ගිහින් දැම්මා. ඊට පස්සෙ තවත් භික්ෂූන් වහන්සේ නමක්, මේ සිවුරෙන් මළමිනියට වැඩක් තියෙනවද, මට ප්‍රයෝජනයක් ගන්න පුළුවන්නෙ කියල අර මළමිනිය ඔතල තිබිච්ච සිවුර ඇදල ගත්තා. මොකද ඒ කාලෙ සිවුරක් හොයා ගන්නවයි කියන එක අද වගේ ලේසි නෑ, බොහොම දුර්වල දෙයක්. ඒ වගේ පාංශුකූල වෙන්න දාපු ඒවා තමයි ඒ කාලෙ පඬු පොවල ගත්තෙ. දැන් ඉතින් උන්වහන්සේ සිවුරු මළමිනියෙන් ඇදල ගන්නකොටම, මගෙ සිවුර ගන්න එපෝ කියල අර අපවත් වෙච්ච හාමුදුරුවො අමනුස්සයෙක් වෙලා ඉඳල කෑ ගැහුවා. ඉතින් උන්වහන්සේ මොකද කළේ, සිවුරත් අරගෙන හනිකට කුටියට දුවල ගිහින් දොර වහගත්තා. එතකොට අර අමනුස්සය මළමිනියට ආවේස වෙලා උන්වහන්සේ පිටිපස්සෙන්ම පන්නගෙන ගිහින් කුටිය ළඟදි දොරේ හැපිල බිමට වැටිල විසි වුනා. නමුත් ඕකට අටුවා කතාවල තියෙන්නෙ උන්වහන්සේ අපවත් වෙලා ඉනි උකුණෙක් වුනයි කියල. හැබැයි ඉනි උකුණ කියන්නෙ බොහොම පුංචි කුඹියෙක් වගේ සතෙක්. ඉතින් එහෙම ඉනි උකුණෙකුට කවදාවත් මළමිනියකට ආවේස වෙලා පස්සෙන් පන්නන්නවත්, එහෙම කෑගහන්නවත් පුළුවන්කමක් නෑ.

එහෙනම් මේ මොකක්ද වුනේ? ඉනේ තිබිච්ච රෙද්දටත් තුණුකම් කරපු නිසා තමයි ඉනෙහි වූ කුණා - ඉනිකුණා කියන්නෙ. ඕක තමයි පසු කාලෙක තෝරගන්න බැරිව ඉනි උකුණෙක් කියල අටුවාවල ලියල තියෙන්නෙ. එතකොට මේ අපවත් වෙච්ච භික්ෂූන් වහන්සේ වෙන මුකුත් නරක දෙයක් කළේ නෑ. අර සිවුරට ලෝභකම් කරපු එක විතරයි කළේ. උන්වහන්සේ සත්තු මැරුවෙත් නෑ, හොරකම් කළෙත් නෑ, කාමයෙහි හැසිරුණෙත් නෑ, බොරු කිව්වෙත් නෑ, මත්පැන් පානය කළෙත් නෑ. හැබැයි ඇඳ ගත්තු සිවුරට කෑදර කළා. ඔය පොඩ්ඩ තමයි සිද්ධ වුණේ. ඉතින් මළාට පස්සෙ ප්‍රේතයෙක් වෙලා ඉපදුණා.

දැන් අර සිවුර මළමිනියෙන් ඇදල ගන්න කොට මේ අමනුස්සය අධිවේගයෙන් ඒ මළමිනියට ඇතුල් වුණා. ඔය විදියට ස්වභාවිකවත්, විවිධ යන්ත්‍ර මන්ත්‍ර මගිනුත් ක්ෂණික වේගයෙන් මළමිනියකට අමනුස්සයෙක් ඇතුළු වෙන්න පුළුවන්. ඒ වගේ විවිධ ක්‍රම තියෙනවා. මැරිච්ච ශරීරවලට එහෙම අමනුස්සයො ඇතුල් වෙලා යන එන, කතා බහ කරන අවස්ථා තියෙනවා.

මේ හා සම්බන්ධ තවත් කතාවක් ත්‍රිපිටකයේ තියෙනවා. ඒ කාලෙ හිටපු ෂඩ් ශාස්තෘවරුන්ගෙන් කෙනෙක් මරණින් පස්සෙ අසුර නිකායක ඉපදුනයි කියනවා. ඊට පස්සෙ බුදුන් වහන්සේ ළඟ පැවිදි වෙලා දෘෂ්ටිගත වෙලා හිටපු එක්තරා භික්ෂූන් වහන්සේ නමක් මේ ශාස්තෘවරයා ගැන ගුණ වර්ණනාවක් කළා. අන්තිමට බුදුන් වහන්සේ ඒ භික්ෂුවට කියනවා, අන්න දැන් ගිහිල්ල ඔහුගෙ මළමිනියෙ කනට කරල අහන්න, හිතවත ඔබ කොහෙද උපන්නෙ කියල. එතකොට ඔහු ඇවිත් ඒ මළමිනියට ආවේස වෙලා කියයි, කාලකංජක නම් අසුර නිකායෙ උපන්න කියල. ඉතින් ඒ භික්ෂුව ඒ විදියට මළ මිනිය ළඟට ගිහින් ඇහුවම, මළ මිනියට පණ ඇවිදින් බුදුන් වහන්සේ කියපු විදියටම ඒ වචන ටික කියල ආපසු යන්න ගියා. දැන් එතකොට විනිපාතික අසුර කියන සතර අපායෙ ඉඳලත්, මළමිනියට ආවේස වෙලා කතා කරන්න පුළුවන් වෙලා තියෙනවා.

ඉතින් මේ කාරණය මුල් කරගෙන තමයි කෙනෙක් මැරිල දින හතක් යනකල්, මළමිනියක් කැඩිල බිඳිල යනකල් ඒකට දාපු දෙයක් නැවත ගන්න එපා කියල බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ. දින 7 ක් යනකල් කියල කිව්වෙ මොකද, ඊට පස්සෙ ඒ සිරුර කැඩිල බිඳිල කුණු වෙලා උස්සගෙන යන්න බැරි තත්ත්වෙට පත් වෙනවා. ඒ වගේම දින 7 ක් යනකොට බොහෝ කොටම ගන්ධබ්බය ඒ ස්ථානයෙන් ඉවත් වෙනවා. මොකද මානසිකත්වය වෙනත් ආකාරයකට පරිවර්තනය වෙන නිසා. එහෙම පරිවර්තනය වෙලා ගන්ධබ්බ ලෝකයට නිදහස් වෙනවා. නමුත් මැරිල මුල් දින 7 යනකල් බොහොම වේදනාවකින් තමයි ඉන්නෙ. මොකද ඒ වෙනකොටත් තමන්ගෙ අත්දැකීම් තියෙන්නෙ මේ මනුස්ස ලෝකෙත් එක්ක. ඉතින් ඒ කාලෙදි ඊට අනුකූලව හැසිරෙන්නමයි උත්සාහ කරන්නෙ. දින 7 ක් ගියාට පස්සෙ තමයි ගන්ධබ්බ ලෝකෙ අත්දැකීම් ලබන්නෙ. (මේ පිළිබඳ වෙනම විස්තරයක් ඉදිරියේදී බලාපොරොත්තුවන්න.)

දැන් අද කාලෙ බොහෝ උදවිය නොදන්න පැත්තක් තමයි මේ විස්තර කළේ. ඉතින් මේ වගේ මමත්වයෙන් දැඩිව ආසා කිරීම නිසා, මියගියාට පස්සෙ යන්න වෙන්නෙ සතර අපායට. ඊට පස්සෙ ජීවත් වෙලා ඉන්න අයටත් ඒ වගේ සමහර අයගෙන් විවිධ කරදර එන්න පටන් ගන්නවා. ජීවත් වෙලා ඉදෙද්දි, මැරුනම දාල යන්නෙ කොහොමද කියල එකපාරටම අදහස එනවා. ඒ නිසා සමහරු ගන්ධබ්බ තත්ත්වයෙන් ඉඳගෙන තමන් ජීවත් වෙලා ඉදෙද්දි දැඩිව ආසා කරපු හෝ වෛර කරපු කෙනෙක්ගෙ ශරීරයට කෙලින්ම ඇතුල් වෙන අවස්ථා තියෙනවා. ඒ ශරීරය ඇතුලෙ ඉඳගෙන දුක් විඳගෙන ඇසුර කරගෙන ඉන්නවා. ඒ අයට එහෙම ඉන්න තාක් කවදාවත් සහනයක් නෑ. බැරි වෙලා හරි එහෙම ඉන්නකොට ඒ පටිසන්ධිය ලබපු ආයුස කෙළවර වෙන්න ආවොත්, එතනින් චුත වෙලා ඒ ඇතිවෙච්ච මානසිකත්වයෙන් දෘෂ්ටිගත වුනොත් ඒකාන්තයෙන්ම ප්‍රේත භවයක උප්පත්තිය ලබනවා. ඒ වගේ අවස්ථාවලට තමයි අර කලින් ජවනතා කියල කිව්වෙ. එතකොට අරමුණු වෙලා තිබුණෙ අර විදියට ගත්තු මුළා අදහස්. ඒක තමයි ගතිය. **ඉතින් අඹු දරුවන්ට, ස්වාමි පුරුෂයාට, ඇසුරු කරපු අයට, දේපොළ වතුපිටිවලට, යානවාහනවලට මේ මොන දේට ඇළුම් කළත් මළාට පස්සෙ වෙන්නෙ ඕකයි. මැරෙන බහුතරය සතර අපාගත වෙනව කිව්වෙත් ඔය කාරණය නිසා. හරි භයානක පැත්තක් තමයි මේ. ඒ නිසා ඒ කාරණය දකින්නම ඕන.**

නමුත් අපි අද පුරුදු වෙලා ඉන්නෙ මතුපිටින් බලල යමක් කියන්න, නිගමනය කරන්න. හැබැයි ඒ විදියට ☞

මතු පිටින් බලල ගන්න තීරණ වරදිනවා. මොකද මැරෙන මොහොතෙ කෙනෙක්ගෙ විවිධාකාරයේ පරිවර්තන අවස්ථා තියෙනවා. පෙරේතකම් කරපු අයට ඒ මානසිකත්වයේ හිටියොත් එහෙම, පෙරේත වෙලත් කන්න වෙන්නෙ ඒ වගේ ජරාවමයි. කර්ම ශක්තියෙන් ලැබෙන්නෙත් ඒවමයි. පෙරේත භවයෙ ඉන්න සමහර අයට සෙම් සොටු, මළ මුත්‍රවත් නෑ. උගුරත් නොතෙමෙයි සුර ගඟ වැටුණත් කිව්වෙ ඒකයි. ඉඳිකටු වගේ බෙල්ලක්, මහ ලොකු ඔළු ගෙඩියක්, බඩ ගෙඩියක් උස්සගෙන තමයි ඒ අය ඉන්නෙ. කර්ම ශක්තිය නිසාම නැගිට ගන්න බැරිව උස්සගෙන ඉන්නවා. සමහරු කුණු වෙලා ගඳ ගහනවා. කන්න බොන්න දෙයක් නෑ. කර්ම ශක්තිය බලවත් නිසා මැරෙන්නෙත් නෑ. මේ කිව්වෙ සතර අපාගත ප්‍රේතයො ගැන, ඥාති ප්‍රේතයො ගැන නෙවෙයි. ඥාති ප්‍රේතයින්ට කන්න බොන්න, යන්න එන්න පුළුවන වුනත්, ස්වභාවය බොහෝ කොටම දුක්බිතයි. ඒ ගති ලක්ෂණය තමයි පරිවාර වෙන්නෙ. බැරි වෙලාවත් එහෙම ඥාති ප්‍රේත වෙලා ඉන්න අවස්ථාවක ''මම, මගේ'' කියන අදහසින් උපාදාන වෙලා චුත වුනොත්, ඒ වෙලාවට කෙලින්ම ප්‍රේත ලෝකයේ උප්පත්තිය ලබනවා. එතකොට ඉතින් සම්පූර්ණයෙන්ම අනාථයි. මේ වගේ තත්ත්වයට පත් වෙන මානසිකත්වයෙන් උපන් බොහෝ ගන්ධබ්බයො ඉන්නෙ අසූචි, මළ මුත්‍ර, ජරා කුණු වළවල් කාල බීල. එයින් එහාට දෙයක් උන්ට ලැබෙන්නෙ නෑ. **සමහරු ජීවත් වෙලා ඉඳෙද්දි සිල් සමාදන් වෙලා බොහොම පිරිසිදුවට හිටපු අය. නමුත් අර මමත්වයෙන් ගත්තු දෘෂ්ටිය නිසා, ඒ අල්ල ගැනීම නිසා මැරුනට පස්සෙ ප්‍රේත වෙලා බොහොම දුක්බිත තත්ත්වයක ඉන්නෙ.**

ඉතින් මේ ගන්ධබ්බ ලෝකෙ කියන්නෙ හරිම අනාථ තැනක්. මෙහෙ ඉඳෙද්දි තිබ්ච්ච අදහස් තමයි ඒ ලෝකෙට ගියාට පස්සෙ ක්‍රියාත්මක වෙන්නෙ. එතනදි උපදෙස් ගන්නවත්, කිසිම දෙයක් කර කියා ගන්නවත් අවස්ථාවක් නෑ. ඒ අයගෙ අදහස් වෙනස් කරන්නත් හරි අමාරුයි. මොකද ඒ ලෝකෙ බණ කියන්න කෙනෙක් නෑ. මේ ලෝකෙදි මමත්වයෙන් අල්ල ගත්තු උදවිය එහේදිත් ගහ මරා ගන්න යනවා, කුණු කකා ඉන්නවා. කොච්චර කල් එහෙම ඉන්න වෙයිද කියන්නත් බෑ. **ගේ දොර වතුපිටිවලට ''මම, මගේ'' කියල අයිතිවාසිකම් කියපු අය මැරිල ගන්ධබ්බ ලෝකෙට ගිහින් දුනුත් ඒ දේපලවලට ඇල්ම බැල්ම දාගෙන ඉන්න කොට, ඊට පෙර ඒ දේපලවලටම අයිතිවාසිකම් කියල, ඒ විදියටම අල්ල ගෙන මැරිච්ච උදවියත් එහේ ඉන්නවා.** දැන් මේ දෙගොල්ලොම ඒවට අයිතිවාසිකම් කියනවා, පොර කනවා. එකෙක් කියනවා, උඹේ වෙන්නෙ කොහොමද මගේනෙ කියල. එතකොට ඒ දෙන්නටත් පෙර මැරිච්ච ඒ පරම්පරාවෙම තවත් ගන්ධබ්බයෙක් කියනවා, තොපි දෙන්නගෙම නෙවෙයි ඕක මගේ කියල. මෙහෙම පරම්පරා ගාණක් ආපස්සට මැරිච්ච අය ඒ ලෝකෙ ඉඳගෙන මෙහේ තියෙන දේපළට තාමත් අයිතිවාසිකම් කියනවා, පොර කනවා, ගහ ගන්නවා, එකෙක් අනෙක් එවුන් පන්න ගන්නවා. සමහර විට ආයුධත් මැවිල එනවා. ඒ නිසා තමයි ජීවත් වෙලා ඉන්න උදවියටත් සමහර අමනුස්සයො ගල්වලින්, වැලිවලින් ගහන්නෙ. ඒ වගේ දේවල් උන් උන් අතරත් තියෙනවා. එකෙක් කන කොට තව එකෙක් ඇවිත් කාපිය එහෙනම් කියල ඒකට මුත්‍රා කරනවා, පහරල යනවා. මේ වගේ මහ ජරා ලෝකයක්. ගෙවල්වලට, ඉඩකඩම්වලට ආසාවෙන් මැරිච්ච අය ඔය විදියට එකට එකතු වුනොත් ඔය වගේ දේවල් කරනවා. ඒ අය තාමත් මනුස්ස ගන්ධබ්බයො. මැරුනට චුත වෙලා නෑ. ඔහොම ඉතින් කාලයක් දුක් විඳිනවා. නමුත් මෙහේ ජීවත් වෙලා ඉන්න උදවිය ඒක දන්නෙ නෑ. ඒ අය හිතා ගෙන ඉන්නෙ තමන්ගෙ ඥාතීන් දිව්‍ය ලෝකෙ ගියයි කියල. මොකද අර මතු පිටින් පේන්න තිබුණ තත්ත්වය නිසා.

ඉතින් මේ ''මම, මගේ'' කියන අයිතිවාසිකම් හරි භයානකයි. ඔය වගේ එකම දේපොලට අයිතිවාසිකම් කියන එකම පරපුරේ උදවිය තවත් කී දෙනෙක් නම් ඉන්නවද කියන්න බෑ. **ගහක් කොළක් හිටවල, ගල් වැටියක් බැඳල, කාණුවක් කපල, ගෙයක් දොරක් හදාගෙන ''මම, මගේ'' කියාගෙන ඒවාට දැඩි ආසාවෙන් ඉඳල මැරිල ගියාම, ඒ ටිකම ඇති අර කියන දුක්බිත තත්ත්වයට පත් වෙන්න.** එක් කෙනෙක් මළාට පස්සෙ ඊළඟ කෙනා ඒක මගේ කියනවා. ඒ කෙනත් මළාට පස්සෙ තවත් කෙනෙක් ඒ දේපළ මගෙයි කියනවා. ඔය විදියට ''මම, මගේ'' කියන හැඟීමෙන් බැඳිල ඔක්කොම මැරිල යනවා. ඒ මැරිච්ච අය ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙන දූනුත් ඒ දේපළටම මගේ කිය කියා පොර කනවා. ''තෝ මම මළා කියල හිතුවද?'' එක් කෙනෙක් මෙහෙම අහනවා. ''තොගේ වෙන්නෙ කොහොමද ඕක මගෙ. මම මැරුනෙ නෑ ඕයි'' අනික් කෙනා මෙහෙම කිය කියා බනිනවා. ''මම මළා කියල තොපි හිතුවද? තොපි දෙන්නගෙම නෙවෙයි ඕක මගෙ '' ඊටත් එහා හිටපු කෙනා මෙහෙම කියනවා. මේ විදියට චණ්ඩි වෙලා හිටපු කෙනා එහේ ගිහිල්ලත් ඒ පුරුද්දට චණ්ඩිකම් කරනවා. හැබැයි මොනව කළත් අර ලෝභකම නම් අතහරින්නෙ නෑ. ඒ හැම කෙනෙක්ම දන්නෙ නෑ, තමන් මැරිච්ච කෙනෙක් කියල. මැරිච්ච නැති කෙනෙක් ගාණට තමයි ඒ හැමෝම කතා කරන්නෙ. ''තෝ ඒ කාලෙ මළානෙ! ඉතින් තොගෙ වෙන්නෙ කොහොමද?'' ''තෝත් මළානෙ! එතකොට තොගෙ වෙන්නෙ කොහොමද?'' මෙහෙම එකිනෙකාට එකිනෙකා බැණ ගන්නවා. නමුත් මේ ඔක්කොම මැරිච්ච අය. හැබැයි ඒ කාරණය ඒ අයට තේරෙන්නෙ නෑ.

දැන් ඉතින් මෙහේ ඉන්න අය ඔය මොකවත් දන්නෙ නෑ. කොහෙන් හරි සාස්තරයක් අහල හරි ඒ කාරණය දැන ගත්තොත්, මෙච්චර කල් මැරිච්ච එවුනුත් මේකෙ රිංගගෙන, උන් ටික පන්නන්න එපැයි කියල ඔහොම කියනවා. ඊට පස්සෙ ඉතින් කට්ටඩියො ගෙනල්ල නොයෙක් දේවල් කරනවා. බැරි වෙලාවත් මැරිච්ච කෙනා මළ යක්ෂයෙක් කියල කිව්වොත් එහෙම, තොපි මං මළා කියලද හිතන් ඉන්නෙ, මම මැරුනෙ නෑ කියල ඒ ගන්ධබ්බ ලෝකවල අය හයියෙන් කෑ ගහනවා. ජීවත් වෙලා ඉන්න මෙහේ අය කියන කතාවම ඒ ලෝකෙ ඉන්න අයත් කියනවා. **මේ මැරිච්ච අයයි, නොමැරිච්ච අයයි ඔක්කොම මගේ කියල එකම දේපලට අයිතිවාසිකම් කියනවා. මේ වගේ මහ මුලා ලෝකයක තමයි මේ මැරිච්ච අයයි, නොමැරිච්ච අයයි ඉන්නෙ. එහෙම ඉඳගෙන මහ පුදුම විදියට දූවෙනවා, තැවෙනවා. නමුත් මේ ඔක්කොම අය කියන්නෙ මොකක්ද, අපි පවු කළේ නෑ කියල.** ඉතින් පවු කියන්නෙ මොනවද කියල දන්නෙත් නෑ. මේ අය හිතන් ඉන්නෙ අර දුෂ්චරිත 5 කළේ නැත්නම් ඔක්කොම හරි කියල. නමුත් මේ ''මම, මගේ'' කියන ඇලීමත් එක්ක නැගෙන්නෙ මහ බලවත් පවු කන්දරාවක්. අන්න ඒ කාරණයම තමයි මැරෙන බහුතරය සතර අපාගත වෙන්න හේතු වෙන්නෙ. මොකද දහම දැක්කෙ නැති නිසා අර දෘෂ්ටිය බලවත්.

ඉතින් මේ අන්‍ය ආගම් අදහන අය විතරක් නෙවෙයි, ලෝක සම්මත බෞද්ධයන්ගෙනුත් මැරෙන බහුතරයක් යන්නෙ මේ කියන සතර අපායට. ඒ නිසා තමයි ''මම, මගේ'' කියන දෘෂ්ටියෙන් අහක් වෙන්න අඩු ගාණෙ සෝවාන් මාර්ග අනුගාමිකයෙක්වත් වෙන්න ඕන කියන්නෙ. ඊළඟට තියෙන සංඥා, චේතනා අහක් වෙන්නෙ අරිහත් ඵලයෙන්. ඒ නිසා ඉස්සෙල්ලම දෘෂ්ටියෙන් අහක් වෙලා ඉන්න ඕන. ඒ දෘෂ්ටිය තියෙන තාක් කල් මනස වැහෙනවා. ඒ තාක් සතර අපා උප්පත්තියට හේතු තියෙනවා. සතර අපාගත වෙන මට්ටමේ සංඥා, චේතනා සෝවාන් මාර්ග අනුගාමිකයෙකුගෙන් එන්නෙ නෑ. ඊට මෙහා ඉන්න සියල්ලම ඒ අවදානමට අහු වෙනවා. ඒ නිසා තමයි මේ නිවන් දකින්න තියෙන දහමෙ මෙච්චර වැදගත්කමක්, වටිනකමක් තියෙන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ධම්ම පදය තුලින් නිවන් මග

**2 වන කොටස**

සැවැත් නුවර පාලිත කියල තරුණයෙක් හිටියා. මේ තරුණයා බුද්ධ සාසනය කෙරෙහි පැහැදිලා පැවිදි බිමට ඇතුල් වෙලා බොහොම උත්සාහයෙන්, වීර්යෙන් බණ භාවනා කළා. ඔය විදිහට භාවනා කරගෙන ඉන්න කොට උන්වහන්සේට ඇස් රෝගයක් හටගත්තා. වෙද මහත්වරු ප්‍රතිකාර කරන්න හැදුවත් ඒ ප්‍රතිකාර ගන්න උනන්දුවක් තිබුනෙ නෑ, භාවනාවටමයි හිත යොමු කළේ. ඔහොම භාවනා යෝගීව ඉඳල උපරිමයට ඇවිත්, අන්තිමට අරිහත් ඵලයට පත් වුණා. අරිහත් ඵලය ලැබෙනවත් එක්කම උන්වහන්සේගෙ ඇස් දෙකත් අන්ධ වුණා. ඒ නිසා උන්වහන්සේ චක්ඛුපාල තෙරණුවන් නමින් ප්‍රසිද්ධ වුණා. මේක ඒ කාලෙ පැවිදි වෙලා හිටපු අනෙක් භික්ෂූන් වහන්සේලා අතර කතා බහට ලක්වෙන්න තරම් ලොකු කාරණයක් වුණා. අරිහත් ඵලයට පත්වෙන්න තරම් මෙච්චර කුසල් වැඩිල තිබිලත් ඇස් අන්ධ වීම ගැන උන්වහන්සේලාට හිතාගන්නත් බැරි වුනා. එහෙම වෙන්න පුළුවන්ද කියල කතා බහක් ඇති වුණා. ඉතින් මේ භික්ෂූන් වහන්සේලා බුදුන් වහන්සේ ළඟට ගිහින් ඇහුවා, ස්වාමීනි මෙහෙම වෙන්න පුළුවන්ද, මොකක්ද උන්වහන්සේට ඵල දුන්න කර්මය කියල. මේ චක්ඛුපාල තෙරුන් වහන්සේ පෙර අත් බැවක ඇස් වෙදෙක් වෙලා ඉඳල රෝගියෙක් සනීප කළ බවත්, ඒ රෝගියා පොරොන්දු වෙච්ච ගාස්තුව නොදී මග හැරිය නිසා නැවතත් රවට්ටල ඇස් අන්ධ කළ බවත්, අරිහත් වුනත් ඒ කර්ම විපාකය ඵල දීල මේ අත්බැවේ ඇස් අන්ධ වුන බවත් කියල බුදුන් වහන්සේ ඒ පෙර කතාව විස්තර කළා. ඉන් පස්සෙ පහත ගාථාව ඊට අනුරූපව දේශනා කළා.

මනෝ පුබ්බංගමා ධම්මා
- මනෝ සෙට්ඨා මනෝමයා

මනසා චේ පදුට්ඨේන
- භාසති වා කරෝති වා

තතෝ නං දුක්ඛමන්වේති
- චක්කංව වහතෝ පදං

චේතනා ආදී චෛතසික (සිත සමග එකතු වූ) ධර්මයෝ සිත පෙරටු කොට ඇතියහ. සිත ශ්‍රේෂ්ඨ කොට ඇතියහ. සිතින්ම උපදනහ. ඉදින් යමෙක් කිලිටි සිතින් කියන්නේ නම් හෝ කරන්නේ නම් හෝ ඒ හේතුවෙන් දුක ඔහු පසු පස ලුහු බඳින්නේ ගොනු අනුව යන ගැල් සක මෙනි.

ඛුද්දක පත - ධම්මපද පාලි - යමක වග්ගය - 27 පිටුව. මේ තමයි දැනට අටුවා ග්‍රන්ථවල සඳහන් වෙන සිංහල තේරුම.

බුදුන් වහන්සේ ඉහත කෙටියෙන් දේශනා කළ ගාථාවට අද වෙන කොට මේ විදියෙ සරල සිංහල අර්ථයක් දීල තිබුණත්, ඉතාම ගැඹුරු තේරුමක් මේ ගාථාවෙ තියෙනවා. කෙනෙකුගෙ මනස බාහිර ධර්මතා නිසා මූලිකව ක්‍රියා කරන හැටිත්, ඒ මනසම ශ්‍රේෂ්ඨ වෙන හැටිත් මෙතනින් පෙන්වනවා. දැන් මෙතන ශ්‍රේෂ්ඨ වෙනව කියල ගන්නෙ, ඒ සිත අනෙක්වා යට කරගෙන උඩට එනව කියන අර්ථයෙන්. කොටින්ම මේ බාහිර ධර්මතා, ඒ කියන්නෙ රූපය, වේදනාව, සංඥාව කියන තුන මැන ගන්න ගිහින් ඒ දේවල් තමන් තුලට ගන්න ආකාරය අනුව අනෙක් සිතිවිලි යටපත් කරගෙන උඩට එන හැටි තමයි ඒ මූලික පද පේළිවලින් විස්තර කෙරෙන්නෙ. ඉතින් ඔහොම මැන ගන්න ගිහින් හිත දූෂ්‍ය වෙන ක්‍රමයක් තියෙනවා. උපමාවක් කියනව නම්, ඉතාම හොඳ පිරිසිදු සුදු රෙද්දක් ගත්තොත් ඒකෙ පිටින් බැලුවම කිසිම අඩු පාඩුවක් නෑ, කිළුටක් නෑ, හරිම පිරිසිදු සුදු රෙද්දක්. මේ සුදු රෙද්ද පාරක් අයිනෙ වැලක වනල තියෙනවා. පාරෙ දූවිල්ලත් තියෙනවා, මිනිස්සුත් එහෙට මෙහෙට යනවා. ඒ අතර වාහනත් යනවා. දැන් මේ රෙදි කැල්ල දිහා අපි ඇහැ ගහගෙන හිටියොත්, එහෙම නැත්නම් දවසෙන් දවස නිරීක්ෂණය කළොත් අපිට මොකක් පෙනෙයිද? අද තිබුනට වඩා ඊළඟ දවසෙ ඒ සුදු රෙදි කැල්ල කිළිටි වෙලා, එහෙම නැත්නම් අර සුදු පාට අඩු වෙලා එළිය අඩු වෙලා. තව දවසක් ගියාම තව ටිකක් පාරෙ තියෙන දූවිල්ල වැදිල කිළිටි වෙලා. ඔහොම දවස ගානෙ දූවිලි වැදී වැදී කිළුටු වෙනවා. අන්තිමට ප්‍රයෝජනයක් ගන්න බැරි තැනට එනවා.



අපේ මනසත් ඔය වගේ. මුලින්ම මනසෙ සිතිවිල්ලක් හට ගන්න කොට හරිම පිරිසිදුයි. අර කිසිම කිළුටක් නැති සුදු රෙදි කැල්ල වගේ. හටගන්න මොහොතෙ පාප කිළුටක් නෑ. මේ අවස්ථාවට චිත්ත කියල කියනවා. නමුත් බාහිර දේවල් නිසා ටික ටික අවස්ථාවෙන් අවස්ථාව කිළුටු වෙනවා. කොටින්ම කියනව නම්, අර චිත්ත කියන අවස්ථාවෙ පටන් යම් රූපයක් දැක්කම, යම් වේදනාවක් දැනුනම, එහෙම නැත්නම් යම් සංඥාවක් ලැබුනම, මොකක්ද ඒ කියල විමසල බලන තැනට එනවා. මොකක්ද ඒ කියල කෙනෙක් දැනගන්නෙ කොහොමද? කලින් අත්දැකීම්වලින් ගත්ත මිනුම් දණ්ඩක් තියෙනවා. ආ ... මේ ගෑනු කෙනෙක්, මේ පිරිමි කෙනෙක්, මේ සීතලක්, මේ රස්නයක් ... ආදී වශයෙන් කියල ඒ පුරුදු මිනුම් දණ්ඩ නිසා මැන ගන්නවා. මේ මැන ගන්න අවස්ථාවට එනකොට අර චිත්ත කියන අවස්ථාවෙන් ඇවිත් මනෝ කියන තැනට එනවා. ඒ කියන්නෙ ඒ දැකපු, දැනුන දේ අනුව මිනුමක් තියාගෙන මනිනවා. මේ මැනීම තමයි ඊළඟ පියවරට මූලික වෙන්නෙ. ඊට පස්සෙ මේකම තමයි ඉහලට නැගී සිටින්නෙ. මනෝ පුබ්බංගමා ධම්මා - මනෝ සෙට්ඨා මනෝමයා කියන කාරණය මේ අනුව තේරුම් ගන්න පුළුවන්.

එතකොට මේ මුල් වෙච්ච, නැගී සිටිය මැනීම තව ටිකක් ඉස්සරහට ගිහින් අර පරණ අත්දැකීමත් එක්ක එකතුවක් හදා ගන්නවා. මතකයට එනවා, ආ... මේ මේක නේද කියල. කලින් හඳුන ගත්ත නම් මේ ගෑනු කෙනෙක් කියල, ඊළඟට පෙර අත්දැකීම් එක්ක තව ටිකක් ඉස්සරහට යන කොට, ආ... මේ ඇවිත් ඉන්නෙ අම්මා, එක්කො සහෝදරියක්, එහෙම නැත්නම් බිරිඳ, දුව... ආදී වශයෙන් වෙන් කරල හඳුන ගන්නවා. අර එකතුවෙන් ගත්ත මැනීම නිසා විවිධාකාර සංඥා සමග තව ටිකක් සම්බන්ධ වෙනවා. මේ අවස්ථාවට කියනව මානසං කියල. මේ අවස්ථාව එන කොටත් මනස යම් මට්ටමකට බාහිර ලෝකය ගැන දැනීම්වලින් සම්බන්ධ වෙලා ඉවරයි. එතනින් එහාට ගන්න තීරණය අනුව තමයි මනස තවත් කිළුටු වෙනවද නැද්ද කියල තෝර ගන්න වෙන්නෙ. කොටින්ම අවිද්‍යාව එක්ක මිශ්‍ර වෙලා තමයි ☞

ඉතුරු ටික යන්නෙ. ඒකට හේතුව තමයි අර දැක්ක ගෑනු කෙනා හෝ පිරිමි කෙනා අම්මා, තාත්තා, අක්කා, අයියා එහෙම නැත්නම් බිරිඳ, ස්වාමි පුරුෂයා ආදී වශයෙන් හඳුන ගත්තත් අර අවිද්‍යාව නිසා මගේ අම්මා, මගේ තාත්තා, මගේ බිරිඳ ... කියන තැනට එනවා. එහෙම නැත්නම් ඒ අය එක්ක හාද වෙනවා. මේ අවස්ථාවෙදි කිළුටු වීම ආරම්භ වුනාම හදයං කියල කියනවා.

මෙන්න මේ හදයං කියන අවස්ථාව සහ ඊට පසු ඇති වන අවස්ථාවන් රහතන් වහන්සේට නෑ. මේ කාරණය තේරුම් ගන්න උදාහරණයක් ත්‍රිපිටකයෙන් පෙන්වන්න පුළුවන්. **බුදුන් වහන්සේ මහළු වෙලා පිරිනිවන් පාන අවස්ථාව ළං වෙන කොට, ආනන්ද හාමුදුරුවෝ සැරියුත් හාමුදුරුවන්ගෙන් අහනවා, බුදුන් වහන්සේ පිරිනිවන් පෑවම ඔබ වහන්සේට මොකද හිතෙන්නෙ කියල. මොනව හිතන්නද කියල උන් වහන්සේ කිසි ගාණක් නැති උත්තරයක් දෙනවා. එතකොට මේ ධර්මය විනාස වෙලා ගියොත් ඔබට මොනවද හිතෙන්නෙ කියල ආනන්ද හාමුදුරුවෝ නැවතත් ප්‍රශ්නයක් අහනවා. සැරියුත් හාමුදුරුවෝ ඒකටත් අර වගේම උත්තරයක් දෙනවා. බුදුන් වහන්සේ පිරිනිවන් පෑවම ඔබ වහන්සේට මුකුත්ම දූනෙන්නෙ නැද්ද කියල ආනන්ද හාමුදුරුවෝ නැවතත් අහනවා. ලෝකයට මහා මිණි පහනක්, ප්‍රඥා පහනක් නිවිල ගියා කියල දකිනවා, යථාර්ථය එච්චරයි. මේ තමයි ඒ ප්‍රශ්නයට සැරියුත් හාමුදුරුවෝ දුන්න උත්තරය.**

දැන් ඉතින් ආනන්ද හාමුදුරුවන්ට හිතා ගන්නත් බෑ, බුදුන් වහන්සේගෙ අගසවු වෙච්ච සැරියුත් හාමුදුරුවෝ දෙන මේ උත්තර. මොකද බලාපොරොත්තු වුනේ එහෙම උත්තරයක් නෙවෙයි, දුක හිතෙන්නෙ නැද්ද කියල තමයි මේ අහන්නෙ. ඉතින් ඒ උත්තරය ලැබුනෙ නැති වුනාම ආනන්ද හාමුදුරුවන්ට හරි සංවේගයක් ආවා. ''මෙච්චර මේ තුන් ලෝකෙට අග්‍ර වූ බුදුන් වහන්සේ මම කොච්චර ආදරෙන්ද රැක බලා ගත්තෙ !, උපස්ථාන කළේ ! ඉතින් උන් වහන්සේ පිරිනිවන් පෑවම දුකක් නැතිලු!'' මෙහෙම අදහස් තමයි ආනන්ද හාමුදුරුවන්ට ආවෙ. දැන් ඉතින් සැරියුත් හාමුදුරුවෝ මෙහෙම කියනව කියල මේ කථාව ගිහින් බුදුන් වහන්සේටත් කිව්වා. ඒ අවස්ථාවෙදි බුදුන් වහන්සේ දේශනා කරනවා, ආනන්ද සාරිපුත්ත මහා ප්‍රාඥයි, උන් වහන්සේ ඒ උත්තරය නැතිව වෙන මොනව කියන්නද, මටත් කියන්න තියෙන්නෙ ඒකම තමයි කියල. මේ තමයි අරිහතුන් වහන්සේගෙ ස්වභාවය. ඒ කියන්නෙ කාත් එක්කවත් හදයං නෑ, හාදකම් නෑ. හාදකම් තියෙන අයට තමයි අර වගේ ගැටලු එන්නෙ. ඉතින් ඒ අවස්ථාවෙදි සෝවාන් ඵලයේ හිටපු ආනන්ද හාමුදුරුවන්ට බුදුන් වහන්සේ කෙරෙහි විසාල හෘදයාංගම ඇලීමක් තිබුණා. ඒ නිසා තමයි බුදුන් වහන්සේ පිරිනිවන් පෑවම ඇඬුවෙ. මෙච්චර කලක් මං ඇප උපස්ථාන කළා, අනේ මං දැන් කාට ඇප උපස්ථාන කරන්නද, සලකන්නද? මෙහෙම කිය කියා උන් වහන්සේ උළුවස්ස බදාගෙන ඇඬුවා. මොකද හදයං තිබ්බ්ච නිසා. සෝවාන් වුනා කියල ඒක නැති වෙන්නෙ නෑ. අරිහත් ඵලයත් එක්ක තමයි මේ හදයං සහ ඊට පස්සෙ ඇති වන අවස්ථාවන් නැති වෙන්නෙ.

ඉතින් මේ මගේ සැමියා, මගේ බිරිඳ, මගේ දරුවා, මගේ ගෙදර කියන තැනට එනකල් ''මම, මගේ'' කියල තව තවත් ළං වෙනවා. ඒ හාද වෙච්ච එකට තව තල්ලුවක්, එහෙම නැත්නම් පන්නරයක් ලැබෙනවා. ඒ අයට අනතුරක් වුනාම ඒ අය රැක බලාගන්න කොට තව තවත් ළං වෙනවා. මේ අවස්ථාවට එන කොට පන්ඩරං කියල කියනවා. දැන් ක්‍රමයෙන් මනස කිළුටු වෙලා. මෙතනදි තේරුම් ගන්න ඕන තව දෙයක් තියෙනවා. මනස කිළුටු වෙනව කියන්නෙ නරක පැත්තටම නෙවෙයි. මෙතනින් අදහස් කරන්නෙ සසර ඇති වෙන බැඳීම ගැන. ''එහෙම කොහොමද මගෙ එකාට මොනව හරි වුනොත් ඉඳල වැඩක් තියෙනවද? කොහොම හරි ඒකව ගොඩ දාන්න ඕන.'' මෙන්න මේ සිතිවිල්ල ලෝකයට සාපේක්ෂව නරක සිතිවිල්ලක් නෙවෙයි. නමුත් සසරට තවත් බැඳ තියන නිසා තමයි කිළුටු වුනා කියල කියන්නෙ. ඒ කියන්නෙ ලෝකෝත්තර ගමනට බාධාවක්. ඒ අර්ථයෙන් තමයි කිළුටුවීම කියන කාරණය මෙතනදි තේරුම් ගන්න ඕන.

ඉතින් ඔහොම පන්නරය ලැබුනම ඒ මනස ඒකට බැඳෙන්න ආයතනයක් වෙනවා. අර මැනගත්ත දේට බැඳිල ඒකම හිතේ තියෙන තැනට එනවා. කලින් පිරිසිදුව තිබුන හිත යම් බැඳීමකට උර දෙන තැනක් වෙනවා. හරියට ලොකු ගෙයක් තිබිල ඒක බැංකුවක් පවත්වගෙන යන්න කුලියට දුන්න වගේ. දැන් අර ගෙදර කලින් කරපු වැඩ පිළිවෙල නැතුව බැංකුවක වැඩවලට වෙනස් වෙලා. දැන් ඒකට ගේ කියන්නෙ නෑ, දැන් කියන්නෙ බැංකු ආයතනය කියල. අන්න ඒ වගේ අර අවස්ථාවට ආවම කියනවා, මනෝ මනායතන කියල. දැන් මේ ආයතනය වෙච්ච මනස එතනින් එහාට ගන්න තීරණ සේරම ''මම, මගේ'' කියන තැන ඉඳන් ගන්නෙ. ඒකටම නායකත්වය දෙනවා. මේ විදියට නායකය වෙන නිසා මේ අවස්ථාවට කියනවා මනෝන්ද්‍රිය කියල. දැන් නායකත්වය ගත්ත තැන ඉඳන් වැඩ කරන්නෙ නායකයාට ඕන විදියට. ගන්න තීරණ සේරම මමත්වය උඩ ඉඳගෙන ගන්නෙ. ඉතින් තව තවත් බැඳෙනවා. සසරින් මිදෙනවට වඩා සසරින් බැඳෙන තැනට තව තව තීරණ ගන්නවා. නමුත් ඒවා ප්‍රඥාවෙන් ගන්න තීරණ නෙවෙයි, එහෙම නැත්නම් ඥානය නැතිව ගන්න තීරණ. ඥානයක් නැතිව, ලෝකයට බැඳෙන තැනට මේ වෙන කොට අර පිරිසිදු මනස පත් වෙලා ඉවරයි. ඉතින් ඒ විදියට ඥානය විකෘති වෙච්ච නිසා ඒ අවස්ථාවට කියනව විඤ්ඤාණ කියල. හැබැයි රහතන් වහන්සේට තියෙන්නෙ විපාක විඤ්ඤාණයක් විතරයි. අනික් අයට වගේ අභිසංඛාර ගොඩ නගන (නැවත උප්පත්තියක් පහළ කරන) විඤ්ඤාණයක් උන් වහන්සේට නෑ.

සසර පුරා දුවන සත්වයන්ගෙ මනස නිතරම තියෙන්නෙ මේ විඤ්ඤාණ කියන අවස්ථාවෙ. ගන්න තීරණ සේරම අර කිළුටු රෙද්දෙන් පිහින පිහින තැන කිළුටු වෙනව වගේ කිළුටුයි. සසරටම බැඳෙනවා. ඉතින් මේ අතර ගන්න සමහර තීරණ හරිම භයානකයි. ''හිටපන්කෝ මට කළා නෙ! මාත් ඕකට එකට දහයක් කරනවා. ඌ මගේ එක ගත්තා, මම ඕකට ඉන්න දෙන්නෙ නෑ'' මෙහෙම තීරණය කරනවා. දැන් අර චක්ඛුපාල හාමුදුරුවන්ගෙ පෙර අත්බැවෙත් එහෙම ගත්ත තීරණය පදුට්ඨ මනසකින්, නරක අදහසකින් කරපු දෙයක්. ''උඹ මාව රවට්ටල මට ගාස්තු දෙන්නෙ නැතුව සනීප කර ගෙන ගියානෙ! හිටපන් මාත් උඹට හොඳ වැඩක් කරන්නම්'' මෙහෙම හිතා ගෙන තමයි අර මනුස්සයව රවට්ටල නැවතත් ඇස් දෙක අන්ධ කළේ. එතකොට ඒ නරක, පදුට්ඨ මනසින් හිතුවා, කිව්වා විතරක් නෙවෙයි ඒක ක්‍රියාත්මකත් කළා. ලෝකෙට අවැඩක්, අසාධාරණයක් සිද්ධ කළා. ප්‍රතිඵලත් ඒ වගේ. ඒ කරපු වැඩේ නිසා අර පුද්ගලයගෙන් යැපෙන කී දෙනෙක් අනාථ වෙන්න ඇත්ද? ඒ පුද්ගලය පින් දහම් කරල දෙවියන්ට, මියගිය අයට පින් දුන්න කෙනෙක් නම් ඒකත් වැළකෙනවා. එතකොට ඒ එක කාරණයක් නිසා නොපෙනෙන ලෝකයේ කී දෙනෙක් වැලපෙන්න ඇත්ද? ඒ නිසා විපාක එනකොටත් ඒ වගේමයි. එකක් කළා කියල නෑ.

ඉතින් මෙහෙම පදුට්ඨ මනසින් කරපු කර්මවල ඵල දීම වෙන හැටි පෙන්වන්න බුදුන් වහන්සේ උපමාවක් පෙන්නුවා. ඒ පෙන්වපු උපමාව තමයි, ගොනා බැඳි කරත්තෙ පසු පස එන කරත්ත රෝදය වගේ කියල. ඒ උපමාවෙන් තේරෙනවා කොහේ ගියත්, කොතැන හිටියත් ගැලවීමක් නෑ කියල. ගොනා දකුණු පැත්තට ගියත් රෝදෙ ඒ පසු පස යනවා. ගොනා වමට ගියත්, ඉදිරියට ගියත් රෝදෙ ඒ පසු පස යනවා. නැවතිලා හිටියත් රෝදෙ ඌ ළඟම තියෙනවා. දැන් ඉතින් අරිහත් වුනත් කොහොමද ඵල දුන්නෙ කියන ප්‍රශ්නෙට උත්තරේ ☞

මෙතනම තියෙනවා. ගොනා යනව කියන්නෙ, අපි සසර ගමන් කරනවා කියන එක. කොහේ ගියත්, කොතනට ගියත් අර පදුට්ඨ මනසින් කරපු කර්ම පිටිපස්සෙන් එනවා. නැවතුනා කිව්වෙ, අපි සසර ගමන නැවැත්තුව කියන එක. ඒත් අපරාධයක් පෙර කළා නම්, ගොනා ළඟ කරත්තෙ රෝදෙ තියෙනව වගේ, ඒ ටික ළඟම තියෙනවා. ඉතින් අරිහත් වුනා කියල පෙර කරපු මහ කර්ම නොගෙව ඉන්න බෑ. අනිවාර්යෙන් ගෙවන්න වෙන කර්ම කොටසක් තියෙනවා. කරපු, කියපු දේ කරල ඉවරයි, කියල ඉවරයි. ඒවට ශක්තිය ගොඩ නගල ඉවරයි. මතු ගොඩ නගන එක විතරයි අරිහත් ඵලයෙන් නැවැත්තුවෙ. උපමාවක් කියනව නම්, බෝලයක් උඩ දදා අල්ලන කොට ඒ ක්‍රියාව කරන කල් බෝලෙ උඩට යනවා, නැවතත් අතට එනවා. නමුත් මේ උඩ දාන්නෙ අන්තිම වතාවටයි කියල බෝලෙ උඩ දාල නිකන් හිටියොත් බිමට නොවැටී තියෙයිද? නෑ, අපි නැවතත් උඩ නොදාන නිසා නැවතත් වැටෙන්න බෝලයක් නැති වුනත්, උඩ දාපු බෝලෙ අනිවාර්යෙන්ම බිමට වැටෙනවා. ඒක කාටවත් නවත් වන්න බෑ. චක්ඛුපාල තෙරුන් වහන්සේටත් මේ වගේ දෙයක් තමයි සිද්ධ වුණේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - යමක වග්ගය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 35 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ චිත්‍ර ශිල්පී එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඩබ්ලිව්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ♦ ප්‍රසාද් ද සිල්වා මහතා - දෙල්ගොඩ ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා- මාලබේ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම- කුරුණෑගල - රු. 10,000/- ♦ පී.එල්. ජානක රුවන් මහතා - කඹුරුගමුව - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ♦ බිනග සමාධිත් පුතා, අජිතා චාමලී මහත්මිය, කපිල සිල්වත්ගේ පුතා - බත්තරමුල්ල - රු. 9,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, ඉරෝෂා ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ නිපුනි එගොඩගේ මහත්මිය - කටාර් - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦තනුෂි කුමාරගේ මෙනවිය -දොඩංගොඩ කළුතර - රු. 5,000/- ♦ පී. මයිකල් ප්‍රනාන්දු මහතා සහ බී. මරිය කැතරින් පෙරේරා මහත්මිය - වෙන්නප්පුව - රු. 5,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 5,000/- ♦ සුගුණා හේවාවිතාරණ මහත්මිය - කළුබෝවිල - රු. 5,000/- ♦ පී.කේ. සුනිල් සේපාල මහතා සහ පී.ටී. සේනානායක මහත්මිය - දොඩංගොඩ කළුතර - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩබ්.කේ. නලිනසේකර මහතා සහ ඩබ්.ප්‍රේමවතී මහත්මිය - වළල්ලාවිට - රු. 2,500/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 2,500/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ ශවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු.2,000/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම හෝමාගම - රු.2,000/- ♦ කමලා ගමගේ මහත්මිය සහ එස්. සිරිසේන මහතා - ඇඹලෙගෙදර - රු.2,000/- ♦ චාන්දනී ගුරුතුමිය ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු.2,000/- ♦ සීමෙල් මහතා - අම්බලන්ගොඩ - රු.2,000/- ♦ ඩබ්ලිව්.අයි. සිරිවර්ධන මහතා - රත්මලාන - රු.2,000/- ♦ විශේෂඥ ශල්‍ය වෛද්‍ය අනුර බානගල මහතා, අයිරාංගනී බානගල මහත්මිය, සුපුල් බානගල සහ මෙවන් බානගල පුතුන් - නාවල - රු.2,000/- ♦ වීනා අතුකෝරාළ මහත්මිය සහ ජනිඳු බිම්සර පුතා ඇතුළු පවුලේ සැම - මීරිගම - රු.2,000/- ♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ එච්.පී. ජයවර්ධන මහතා - පල්ලෙවෙල - රු. 1500/- ♦ යූ.ඒ. අනුර පද්මලාල් මහතා ඇතුළු පවුලේ සැම - දොඩංගොඩ කළුතර - රු. 1,500/- ♦ ගංගොඩවිල ධම්මානන්ද හිමි - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු.1,000/- ♦ ජනිත හසාර ජයකොඩි පුතා - අත්තිඩිය - රු. 1,000/- ♦ වරුණි ප්‍රියංවදා දනංගල මහත්මිය සහ චතුර සම්පත් දනංගල මහතා - පාදුක්ක - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ ඩබ්. සුසිල් ආනන්ද මහතා - පාදුක්ක - රු. 1,000/- ♦ රජයේ විගණක අංශයේ කාර්ය මණ්ඩලය, ශ්‍රී ලංකා ගුවන් හමුදාව - කොටුව - රු.1,000/- ♦ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු.1,000/- ♦ ජයනාත් සුහසිංහ මහතා - හෝමාගම - රු.1,000/- ♦ ශශිකා කරවිට මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.1,000/- ♦ ස්වර්ණා සෝමරත්න මහත්මිය - දඹුටුව - රු.1,000/- ♦ විනීතා දමයන්ති මහත්මිය - ගොඩවෙල - රු. 1,000/- ♦ ජිනදාස පටබැඳි මහතා - වළල්ලාවිට - රු. 1,000/- ♦ ප්‍රේමා ගී කියනගේ මහත්මිය සහ නිශාන්ත තිලකරත්න පුතා - හොරණ - රු.1,000/- ♦ ටී.ආර්. සයිමන් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල - රු.1,000/- ♦ සේමිනි බුදාරා මහත්මිය - දොඩංගොඩ, කළුතර - රු.1,000/- ♦ ඩබ්. සිසිර සේනාරත්න මහතා - මහපල්ලේගම - රු.1,000/- ♦ නිරෝෂ් සපරමාදු මහතා - කොච්චිකඩේ - රු. 1,000/- ♦ ජයන්ත ජයතිලක මහතා - හෝමාගම - රු. 1,000/- ♦ ආර්. තිලකරත්න ප්‍රනාන්දු මහතා ඇතුළු පවුලේ සැම - දංකොටුව - රු.1,000/- ♦ මහේෂ් ඉන්දික මහතා - හොරණ - රු.1,000/ ♦ ශෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු. ☞

1,000/- ♦ සමන් දසනායක මහතා, සුජාතා මහත්මිය, අස්විනි දියණිය - පිළියන්දල - රු.1,000/- ♦ අරුණ ශාන්ත මහතා, යශෝධා ගීතාංජලී මහත්මිය, දිනුල රන්දිර පුතා - රු.1,000/- ♦ රජිත රණසිංහ මහතා - බොරලැස්ගමුව, සිරිසේන කොඩිතුවක්කු මහතා - ගොඩගම, ශම්මිකා ජයකොඩි මහත්මිය - දොඩංගොඩ, කළුතර, ලීලා ලියනගේ මහත්මිය - පන්නිපිටිය, මහේෂ් සුරංග සිරිමාන්න මහතා - රදාවාන, මසී මහත්මිය - අත්තිඩිය - රු.2,050/- විවිධ පිංවතුන් විසින් ලබා දුන් මුදල් පරිත්‍යාග - රු.1,540/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 168,590/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 11,570/- ♦ සම්පූර්ණ වියදම - රු. 244,070/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,<br>හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,<br>අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,<br>දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ<br>අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද<br>නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත<br>බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -**
**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# ලෙඩ රෝ නැති තැන...























හදමින් කයක් හැඩට - වැජඹෙන්න ඕනා
ගිලිමින් නොයෙක් පෙතිද - සවි ගන්න නානා
පෙළෙමින් දුකක් දෙවන - ලෙඩ ගොන්න පේනා
නොදෙමින් බෙහෙත් ඊට - හැඩ වෙන්න පානා

මස් ලේ කයක් තුළදී - විපරීත ආවොත්
උස් මිටි කමක් නොමැත - එල එක ලෙසේ වෙත්
රැස් කළ පෙරත් කරුම - අද නොමැත කීවත්
දොස් ඇත තිබී පෙරදී - මතකයට නාවත්

වා පිත්ද සෙම් හා - කිපෙනා විලාසේ
බෑ ඉන්ට ඉවසන්න - හිටියද මළා සේ
යා දෙන්ද පෙර කරුම - අනුනට කළා සේ
කාගෙන්ද ඉල්ලන්නෙ - කළ විට මුලා සේ

පෙර කම් ඇදී විත් - කය ලෙඩ කරා යා
දරමින් ඉඳී මුත් - පොළවට දිරා යා
කරමින් එදා මෙන් - භවයෙහි පුරා යා
මරණින් නොවී නිමි - සසරෙහි සරා යා

කය හා මනස ගොදුරු - වන දම් සොබා වේ
දියතේ යනෙන සියලු - සත සුන් කළා වේ
බිය සේ නොදුටු විටදී - මතු ඉන් මුලා වේ
ගිය දා අතැර සිරුර - යළි දුක් ගෙනා වේ

ලෙඩ දුක නොමැති තැන් - නැත කිසි ලොවේ වී
ඉඩ ඇත පහසුවෙන් - කය ගොදුරු වේ වී
මැඩ සිටි නමුදු ඉන් - සැනසුම නොවේ වී
වැඩ සැලසුවද දම් - සදහට නිවේ වී

පළවා සියලු දුක් - ලෙඩ රෝග බාධා
වළකා මරුගෙ වස් - දොස ගේන නාදා
එළවා සිහිය දම් - අවබෝධ වූ දා
මළ දා මෙ කය සිත් - සැනසීම සාදා

කළ කම්වලින් පැවත - එන දිවිය ගෙවෙනා
එල දෙයි ලෙඩින් සිරුර - සහ මනස දැවෙනා
පෙළ දම් නිසින් දැනම - හිටි විටදී සුවෙනා
කලකින් භවින් චුතව - සදහටම නිවෙනා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# ඉක්මනින්
# කරගත් තරමට හොඳයි...



පෙර හේතුවෙන් එන මනු භව හැඳින ගෙන
තිර නැති බැවින් තම කාලය ලැබුන තැන
වෙර වීරිය දරා තුන් ලොව එතෙර වන
හර ඇති දහම වඩවනු ඇති විටදී නැණ



තණ අග පිනි බිඳුවකට උපමා කරන
පණ නල දැකිය යුතු මේ කය හා දීරන
ගුණයක පිහිටියොත් මිස මතු දා දරන
එන විට මරුගෙ කල නැත පිහිටා සරණ



මහළුව ගිය විටදී වාරුව නැති සතට
සහයට අනුන් මිස නැත සවි බල ගතට
අහනට බණක් වුව සිහියද නැති සිතට
දහමක අගය නොදැනෙයි ඒ සත වෙතට



වයසට යනෙන කල් නොසිටා ලැබුණ සැණින්
සසරට බැඳුණු බැම් බිඳ ගත යුතුය නැණින්
දවසට ලොවට වැඩ දහමක යෙදෙන පිනින්
නිවනට මගම සාදයි මතු ඇසෙන බණින්



හැට පනින කල් නොඉඳා තම හැකි පමණ
කටයුතු කළ යුතුය ලොව අත හැර දමන
පොට පෑදුනොත් පිනකට තැනකදී කුමන
හෙට නොව අද කළොත් කෙටි වෙත භව ගමන



ළමා ළපටි උන් වුව නිදසුනට තියා
තමා සිටින තැන කම් නැත එදෙස අයා
නිමා නොමැති සසරෙහි යළි දුකට නොයා
පමා නැතිව වැඩ කර ගනු නිවන සොයා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී